
ISBN 978-1-78280-808-4

රාවණගේ

# කුමාරතන්ත්‍රය

## रावणकृतकुमारतन्त्रः





ඩන් පොත් සමාගම


ISBN 978-1-78280-808-4

රාවණා ගේ

# කුමාර තන්ත්‍රය

නාගර ග්‍රන්ථයේ සිංහලානුවාදය

## रावणकृतकुमारतन्त्रः

අනුවාදක

**වෛද්‍යාචාර්ය පණ්ඩිත සීවලී බණ්ඩාර**

(M.A, B.A, D.A)

මුද්‍රණය හා ප්‍රකාශනය

**නුගේගොඩ**

**මොඩන් පොත් සමාගම**



නිකුත් වූයේ:
පළමුවන සැකැසුම බුදු වසින් 2558 නිකිණි
වහරන වසින් 2014 සැප්තැම්බර



ISBN 978 - 955 - 558 - 218 - 6

නුගේගොඩ හයිලෙවල් පාරේ අංක 198 හි
මොඩන් පොත් සමාගමේ අදියුරුවන් විසින්
සමාගමයේ පහයනයේ පහයවා පිවිසිරිණි.

Printed and published by The Modern Book Company
198 High Level Road, Nugegoda, Sri Lanka
011 2852911 moboco@sltnet.lk

First edition September 2014



ISBN 978 - 955 - 558 - 218 - 6

ISBN 978-1-78280-808-4
9 781782 808084
ශ්‍රී රාවණ වංශය ග්‍රන්ථ කේන්ද්‍රය

# පෙරවදන

සියවස් ගණනාවකට පෙර ලියැවුණැයි සැලකෙන **කුමාර තන්ත්‍රය** සම්බන්ධයෙන් විවිධ මත ලක්දිව මෙන් ම භාරතයේ ද උගතුන් අතරේ පවතී.

අෂ්ටාංග ආයුර්වේදයේ පස්වන අංගය වශයෙන් බාල රෝග සම්බන්ධව සුශ්‍රැත සංහිතාවේ මෙසේ විස්තර කර ඇත.

**කෞමාරභෘත්‍යං නාම කුමාරභරණ ධාත්‍රී**
**ක්ෂීරදෝෂසංශෝධනාර්ථං දුෂටං සනත්‍ය**
**ග්‍රහසමුත්ථානාං ච ව්‍යාධීනාමුපශමනාර්ථම්**

**සු. සු. 1 අධ්‍යාය**

කෞමාරභෘත්‍ය(බාල රෝග) සඳහා අයත් විෂය ක්ෂේත්‍රය වශයෙන් සඳහන්ව ඇත්තේ කුමරුවන් ගේ පෝෂණය, කිරිමවගේ කිරි දෝෂ හා පිළියම්, දූෂිත කිරි පිළිබඳ විස්තර හා ප්‍රතිකාර, බාල ග්‍රහ දෝෂ හා අනෙකුත් කුඩා දරුවන්ට සෑදෙන රෝග හා ඊට පිළියම් සම්බන්ධවයි.

ඉහත නිර්නායක අනුව බලන කල බොහෝ ප්‍රමාණයක් කුමාර තන්ත්‍රයේ ආවරණය වූවත් ගර්භ රක්ෂණය ආදි සමහර කොටස් නොමැතිවීම අඩුවකි. නමුත් ලංකාධිපති රාවණ රජතුමන් විසින් රචිත යැයි සැලකෙන **උඩ්ඩීශ තන්ත්‍රයේ** දසවන පටලයේ ගර්භ සංරක්ෂණය විධිය පමණක් නොව ප්‍රදර රෝග, වන්ධ්‍යත්ව හා මෘතවත්සා චිකිත්සාව ද දක්වා ඇත. එම නිසා නැවත කුමාර තන්ත්‍රයට එය ඇතුළත් නො කළා විය හැකිය. එම කාරුණු අනුව මෙම ග්‍රන්ථ දෙක ම එක ම කර්තෘවරයකු ගේ බව මැනවින් තහවුරු වේ.

ISBN 978-1-78280-808-4
9 781782 808084

# කුමාර තන්ත්‍ර කර්තෘ

කුමාර තන්ත්‍ර කර්තෘ වශයෙන් එම පොතේ ම **රාවණ** යන නාමය සඳහන්ව පැවැතුන ද එය පිළිබඳ උගතුන් අතර නොයෙක් මතභේද පවතී. විශේෂයෙන් සළකා බලන විට රාවණ රජු ජීවමාන යැයි සැළකෙන කාලය ක්‍රි. පූ. 5000 යැයි අනුමාන කරයි. නමුත් එකළ ව්‍යවහාර භාෂාව හා දැනට විද්‍යමාන කුමාර තන්ත්‍රයේ ඇති භාෂාව සම්බන්ධයෙන් විමසා බැලීමේ දී විශාල කාල පරස්පරතාවයක් ඇති බව භාෂාව පිළිබඳ ප්‍රාමාණික උගත්කමක් ඇති ඕනෑම අයකුට පෙනී යයි. ඒ අනුව දැනට කුමාර තන්ත්‍රයේ භාෂාව ක්‍රි. ව. 600 - 700 පමණ පැරණි සංස්කෘත භාෂාවට සමාන බැව් පෙනෙයි. ඒ අනුව බොහෝ උගතුන් පවසනුයේ කිසියම් වෙනත් කර්තෘවරයකු රචනාකොට එම ග්‍රන්ථය ප්‍රසිද්ධ කිරීම සඳහා රාවණ නාමය යොදා ගත්තා යන්නයි.

නමුත් දැනට පවතින සාධක මත සංස්කෘත භාෂාව ඇතිවන්නට පෙර වෛදික භාෂාව පැවතුණු බව වේද ග්‍රන්ථ සාධක සපයයි. ඒ අනුව එම වේද ග්‍රන්ථ බිහි වූවා යැයි සැලකෙනුයේ ක්‍රි. පූ. 3000 පමණ කාලයේ දී ය. එසේ නම් එම වෛදික භාෂාවටත් පැරණි භාෂා ලක්ෂණ කුමාර තන්ත්‍රයෙන් හමුවිය යුතුය. නමුත් එවැනි කිසිදු ලක්ෂණයක් නැත.

අතීතයේ භාෂාව පැවතුනත් දියුණු ලේඛන තත්වයක් නො පැවතුණු බව නො රහසකි. එ බැවින් මේ කෘතිය ඇතැම් විට මුඛ පරම්පරාගතව සැහෙන කාලයක් පැවතීමට ඇත. රාවණා රජු පරාජය වීමත් සමඟ ම ඇතැම්විට මෙහි සිටි දක්ෂ වෙදැදුරන් භාරතයට රැගෙන ගියා වන්නට ඇත. එසේ වූවා නම් ඔවුන් එහි ස්ථාපිත වී මේ ග්‍රන්ථ මුඛ පරම්පරාගතව පවත්වා ගෙන යන්නට ඇත. කාලයක් ගත වීමෙන් භාෂාව වෙනස්වීම

ISBN 978-1-78280-808-4
9 781782 808084

අරුමයක් නොවේ. නමුත් අර්ථ වෙනසක් වීමට ඉඩ නැත. එම නිසා බොහෝ කාලයක් මුඛ පරම්පරාවෙන් පැවතුණු මේ ග්‍රන්ථය ලේඛනය දියුණුවීමත් සමඟ ම ලේඛනගත වූවා විය හැකිය.

දැනට පවතින පත් ඉරු භාරතයෙන් සොයා ගැනීමත් එහි පවතින පූජා කර්ම සඳහා භාවිත කරන ඇතැම් කැවිලි වර්ග භාරතීය ඒවා බැවින් මෙය භාරතයේ ලේඛනගත වූවා යන්නට නිසි සාධක සපයයි.

ඇතැම් උගතුන් ප්‍රකාශ කරන අන්දමට භාරත වැසියකු රචනා කළා නම් වෙසෙසින්ම **රාවණ** යන නාමය ඔවුන් කිසියේත් භාවිත කළා යන්න පිළිගත නො හැකිය. මන්ද **රාවණ** නාමයට අදටත් ඔවුන් වෛර කරන නිසාය. එසේම රාවණ රජු ම රචිත යැයි සැලකෙන අර්ක ප්‍රකාශයේ හඳුන්වා ඇති අර්ක යන්ත්‍රය නව නිර්මාණයකි. එසේ යමෙකු තම කුළුඳුල් නිර්මාණයේ අයිතිය තව කෙනෙකුට පවරනවා යන්න අභව්‍ය සිදුවීමකි. ග්‍රන්ථ ඉතිහාසයේ එවැන්නක් සිදුවී නො මැත.

## කුමාර තන්ත්‍රය ලක්දිව රචනා වූ බවට ඇති සාධක

මේ සම්බන්ධව බලන විට කුමාර තන්ත්‍රයේ එන බාලග්‍රහ උපචාර විධිය සම්බන්ධයෙන් වැඩි අවධානයක් යොමුකර බලන විට මෙය ලක්දිව රචනා වූ බව තහවුරු වේ. එනම් භාරතීය ග්‍රන්ථවල එන බාලග්‍රහ උපචාර විධි හා ලක්දිව රචිත බාලග්‍රහ උපචාර විධි අතර ඇති වෙනස යි.

ආයුර්වේදය පිළිබඳ භාරතයේ බිහි වූ අද්විතීය ග්‍රන්ථත්‍රය **වෘද්ධ ත්‍රයයි**. එයින් පැරණිතම ග්‍රන්ථය වන **චරක සංහිතාවේ** බාල ග්‍රහ සම්බන්ධව කිසිදු සටහනක් නො මැත. **සුශ්‍රැත සංහිතාවේ** බාල ග්‍රහ නාම නවයක් දක්වා ඇත.

ISBN 978-1-78280-808-4

එනම්;

| | | | |
|---|---|---|---|
| i | ස්කන්ද ග්‍රහ | vi | ශීත පුතනා ග්‍රහ |
| ii | ස්කන්ද අපස්මාර ග්‍රහ | vii | අන්ධ පුතනා ග්‍රහ |
| iii | නෛගමේෂ හෙවත් පිතෘ ග්‍රහ | viii | මුඛ මණ්ඩිකා ග්‍රහ |
| iv | ශකුනි ග්‍රහ | ix | රේවතී ග්‍රහ |
| v | පුතනා ග්‍රහ | | |

යනුවෙනි.

අෂ්ටාංග සංග්‍රහ ග්‍රන්ථයේ එන බාල ග්‍රහ විස්තරය අනුව බාල ග්‍රහ දොළොස්දෙනෙකු දක්වා ඇති අතර එයින් පුරුෂ ශරීරධාරී ග්‍රහයන් පහක් හා ස්ත්‍රී ශරීරධාරී ග්‍රහයන් හතක් දක්වා ඇත.

**පුරුෂ ශරීරධාරි ග්‍රහයන් වශයෙන්**

i ස්කන්ද ග්‍රහ
ii ස්කන්ද අපස්මාර ග්‍රහ
iii මේෂ හෙවත් නෛගමේෂ ග්‍රහ
iv ශ්වා ග්‍රහ
v පිතෘ ග්‍රහ යනුවෙන් ද

**ස්ත්‍රී ශරීරධාරි ග්‍රහයන් වශයෙන්**

i ශකුනි ග්‍රහ
ii පුතනා ග්‍රහ
iii ශීත පුතනා ග්‍රහ
iv අන්ධ පුතනා ග්‍රහ
v රේවතී ග්‍රහ
vi ශුෂ්ක රේවතී ග්‍රහ
vii මුඛ මණ්ඩිකා ග්‍රහ

යනුවෙන් ද දක්වා ඇත.

ISBN 978-1-78280-808-4

එසේ ම බාල රෝග සම්බන්ධයෙන් ම ලියැවුණු අගනා ග්‍රන්ථයක්වන **කාශ්‍යප සංහිතාවෙහි** බාල ග්‍රහයින් දසදෙනෙකු සඳහන්ව ඇත.

i. ස්කන්ද ග්‍රහ
ii. ස්කන්ද අපස්මාර ග්‍රහ
iii. ස්කන්ද පිතෘ ග්‍රහ
iv. පුණ්ඩරික ග්‍රහ
v. නෛගමේෂ ග්‍රහ
vi. ශකුනි ග්‍රහ
vii. රේවතී හෙවත් ශෂ්ටි ග්‍රහ
viii. ශුෂ්ක රේවතී ග්‍රහ
ix. මුඛමණ්ඩිකා ග්‍රහ
x. පූතනා ග්‍රහ

ලක්දිව රචිත යැයි සැළකෙන ග්‍රන්ථ අතරින් මාහැඟි ග්‍රන්ථයක් වන **බුද්ධදස රජු** රචිත **සාරාර්ථ සංග්‍රහයේ** බාල ග්‍රහයින් නවදෙනෙකු සඳහන් ය. මෙය **සුශ්‍රැත සංහිතාවේ** බාල ග්‍රහයින් ගේ නම්වලට සමානත්වයක් දක්වයි.

i. ස්කන්ද ග්‍රහවේශය
ii. ස්කන්ද අපස්මාර ග්‍රහවේශය
iii. ශකුනි ග්‍රහවේශය
iv. රේවතී ග්‍රහවේශය
v. පූතනා ග්‍රහවේශය යනුවෙනි.
vi. අන්ධ පූතනා ග්‍රහවේශය
vii. ශීත පූතනා ග්‍රහවේශය
viii. මුඛ මණ්ඩික ග්‍රහවේශය
ix. නෛගමේෂ ග්‍රහවේශය

**දෛවඥ කාමධෙනු** නම් ජ්‍යොතිෂ ග්‍රන්ථයේ බාල ග්‍රහයින් සම්බන්ධව අති දීර්ඝතම විස්තරය එයි. එනම් ඉපදුණු දින සිට අවුරුදු දහහතක් දක්වා ඇත. ළමයා ඉපදුණු දින සිට දින දහය දක්වා(එනමුත් පස්වන දිනය පිළිබඳ කිසි ද සඳහනක් සංස්කෘත මූල ග්‍රන්ථයේ ද නැත.),

i පද්මිනී
ii භීෂණී
iii ඝණ්ටාලී
iv කාකොලී
v (දක්වා නැත)
vi ප්‍රටිකාරි
vii මුක්තකේශි
viii ශ්‍රීදණ්ඩී
ix මහාමහෙෂී
x රොදනී යනුවෙන් ද

ISBN 978-1-78280-808-4

| | |
|---|---|
| පළමු මාසයට පූතනා | සත්වන මස ශීතලා |
| දෙවන මස මකුටා | අටවන මස යමුනා |
| තෙවන මස ගොමුඛී | නවවන මස කුම්භකර්ණිකා |
| හතරවන මස පිංගලා | දසවන මස තාපසී |
| පස්වන මස ලවනා | එකොළොස්වන මස රාක්ෂසී |
| හයවන මස පංකජී | දෙළොස්වන මස චපලා |

යනුවෙන් ද

ඉන්පසු වර්ෂ වශයෙන් මෙසේ ද විස්තර කරයි.

| | |
|---|---|
| දෙවන වසරේ යාතනා | දසවන වසරේ කලහංසී |
| තෙවන වසරේ රොදනී | එකොළොස්වන වසරේ දේවදූතී |
| සිව්වන වසරේ චටකාසෝම | දෙළොස්වන වසරේ බාලිකා |
| පස්වන වසරේ චඤ්චලා | දහතුන්වන වසරේ වායසී |
| සයවන වසරේ ධාවනී | දහහතරවන වසරේ යක්ෂිණී |
| හත්වන වසරේ යමුනා | පසළොස්වන වසරේ මුඤ්චකා |
| අටවන වසරේ ජාතා | දහසයවන වසරේ වානරී |
| නවවන වසරේ කාලිනී | දහහත්වන වසරේ පද්මගන්ධී |

යනුවෙනි

මීට අමතරව කුමාර තන්ත්‍රයේ නන්ද, සුනන්ද ආදි වශයෙන් බාල ග්‍රහයින් දෙළොස්දෙනෙකු ප්‍රථම දින දෙළොස, ප්‍රථම මාස දෙළොස, ප්‍රථම අවුරුදු දෙළොස දක්වා බාල ග්‍රහ දෝෂ වැළඳිය හැකි බව පෙන්වා දෙයි.

මේ අයුරින් නම් වශයෙන් හඳුන්වා ඇති බාල ග්‍රහයින්ට දක්වා ඇති උපචාරවල දී **බලි** යන වදන භාවිත වෙයි. මෙහි බලි යන වදනෙහි අරුත වශයෙන් දක්වා ඇත්තේ ආහාර කැවිලි සහිත දෙන පූජාව ලෙස සංස්කෘත ශබ්දකෝෂවල දක්නට ලැබෙයි. නමුත් ලක්දිව බලි තොවිල් යන්නෙන් බලි යනු කිසියම්

ISBN 978-1-78280-808-4

රූපක් තනා කෙරෙන පුද පූජා ක්‍රමයකි. මෙම බලි යන වදන ලක්දිව සිට භාරතයට සංක්‍රමණය වූවා විය හැකිය. මන්ද එහිදී ඔවුන් රූපක් ඇසුරු කරගෙන පුදපූජා නො තබයි. එබැවින් එහි නියම අරුත නො දැන කළා විය හැකිය. නමුත් ලක්දිව වර්තමානයේ පවා බලි යාගය පවත්වයි. නමුත් බාල ග්‍රහ උපචාරවල දී භාරතීය කිසිදු පොතක රූපක් සකසා(බලියක් තනා) පුදපූජා කිරීම ගැන සඳහන් නො වෙයි. නමුත් ලක්දිව බාල රෝග සඳහා ලියැවුණු සියල්ලක ම පාහේ රූපක් තනා පූජා කළ යුතුබව පෙන්වා දෙයි. මේ සඳහා කුඩා රූපක් සකසා පුද පූජා දෙන්න යැයි ලංකාධිපති බුද්ධදාස වෛද්‍යරාජයන් ලියූ සාරාර්ථ සංග්‍රහයේ පස්වන අධ්‍යායෙහි **ශකුනි ග්‍රහවේශ** උපචාර විධියේ මෙසේ සඳහන් වේ.

> ශිනනතණ්ඩුලභකෙතන රූපං නිමාය සාම්ෂම්
> සමද්‍යං ප්‍රාඩමුඛො දද්‍යාත් බලිං සායං යථායථම්
>
> පුණු සහල්වලින් බත් උයා රූපක් තනා නැගෙනහිර දිශාවට මුහුණ ලා සවස පුළුටු සහිත ව සුරා සහිත ව බිලි පූජාව(පිදේනි) දෙන්නේ ය.

අනවමදර්ශි සංඝරාජ හිමියන් රචිත දෛවඥකාමධෙනු ග්‍රන්ථයේ විසිහතර වැනි අධ්‍යායයේ පනස්හය වැනි ශ්ලෝකය (තුන්වන වසරේ බාල ග්‍රහයින් සඳහා උපචාර විධියේ)

> ගුලොදනං තිලං පූපං කුලමාෂං සච්නනඵලගුෂම්
> දධිසකතුඵලං ලාජා ප්‍රතිමාශාලිපිෂ්ටජා
>
> උක්සකුරු සහිත බත්, තල කැවුම්, කුල්මාෂ, තම්බන ලද එල්ලුෂ, දීකිරි, අක්සුණු, පලතුරු, විළඳ යන මේවා සමග හැල් සහල් පිටිවලින් කරන ලද ප්‍රතිමාවක් ද . . . . .

ISBN 978-1-78280-808-4
9 781782 808084

එසේ ම එම අධ්‍යායයේ පනස්නව වන ශ්ලෝකයේ සිව්වන වසරේ බාල ග්‍රහ උපචාර විධි වශයෙන් දක්වා ඇත්තේ මෙසේ ය.

තිලලාජානනකුලමාෂ මත්ස්‍යමාංසසුරාදධි
ප්‍රතිමාං ඵලකසථාඤච කෞබෙයසීං දිශි දපයෙත්

තල, විළඳ සහිත ආහාර, කුල්මාෂ, මස්මාළු,
සුරා, දීකිරි යන මේවා ලෑල්ලක් මත තබන ලද
ප්‍රතිමාවකට උතුරු දිශාවට බිලි (පිදේනි)
දෙන්නේ ය.

ඉහත සඳහන් සිලෝ මගින් ප්‍රතිමාවකට පුදපූජා කිරීම මැනවින් තහවුරු වේ. එසේ ම කුමාර තන්ත්‍රයේ ද නන්දනා මාතෘකා, පූතනා මාතෘකා, කටපූතනා, ශකුනිකා, භූසූතිකා මාතෘකා, නෛඍතා මාතෘකා, පිලපිච්ඡිතා මාතෘකා හා කාමුකා මාතෘකා යන බාල ග්‍රහ දෝෂ සඳහා පිළියම් වශයෙන්

ගං ඉවුරු දෙපස ගත් මැටි
(නද්‍යුභයතට මෘත්තිකාං ගෘහීත්වා පුත්තලිකාං කෘත්වා)

සක පෝරුවෙන් ගත් මැටි
(කුම්භකාර චක්‍රස්‍ය මෘත්තිකාං ගෘහීත්වා . . . . )

පිටිවලින් රුවක් තනා
(පිෂ්ටකෙන පුත්තලිකාං කෘත්වා . . . .)

මුහුදෙන් ගත් මැටි
(පරාවාර මෘත්තිකාං ගෘහීත්වා . . . . )

කිරිවලින් රුවක් තනා
(ක්ෂීරෙන පුත්තලිකාං කෘත්වා)

ඈ යෙදුම් අනුව රුවක් සකසාගත් බව පැහැදිලිව පෙනී යයි.

ISBN 978-1-78280-808-4

පුත්තලිකාං යන සංස්කෘත වචනයේ තේරුම කුඩා රූවක් (බෝනික්කෙකු වැනි) යන්නයි. ඒ අනුව බලන කල බලි යාග සඳහා විශාල ප්‍රමාණයේ රූවක් තනයි. නමුත් බාල රෝග සඳහා පවත්වන මේ පිළියම් සඳහා කුඩා රූවක් තනා ගනියි.

ඒ අනුව බලි යාගවල අතීතය සම්බන්ධයෙන් සොයා බැලීමේ දී මෙම යාග විජය කුමරු ගේ අවධියෙන් තිබූ බවට යම් යම් තොරතුරුවලින් තහවුරු වේ. මෙම කුමාර තන්ත්‍රයේ ඇති සාධක අනුව මෙම බලියාගයේ මැවුම්කරු රාවණ රජ විය හැකියි.

කෙසේ වෙතත් මෙම බලි යාග ක්‍රමය භාරතයේ භාවිත වූවා නම් කෙසේ හෝ එහි ලියැවුණා නම් එහි පළ වූ පොත්වල එහි යම් අදහසක් ගැබ් වන්නට ඉඩ තිබුණි. නමුත් සුශ්‍රැත සංහිතා අෂ්ටාංගහෘදය, හා කාශ්‍යප සංහිතා යන තුනේ ම කිසිදු විධියක බලි තැනුමක් නැත.

නමුත් ලක්දිව ලියැවී ඇති ග්‍රන්ථ තුනකම මේ අයුරින් සටහන් වීම නිසා විශේෂයෙන් කුමාර තන්ත්‍රය ලක්දිව බිහි වූ බව වෙසෙසින් ම තහවුරු වේ.

සුමලි හා නාටක යන අසුර යුවලට දාව උපන් කෛකෙසි රාවණ රජු ගේ මව ය. එම මව් පරම්පරාවෙන් අසුර මායම් දැනගැනීම නිසා බලි යාගයේ මැවුම්කරු රාවණ රජු විය හැකිය.

එසේ ම රාවණ රජු ගේ සීයා වන පුලස්ත්‍ය ඍෂිවරයා වනාහි ආයුර්වේද සම්බන්ධව හිමාලයේ පැවති ඍෂි සම්මේලනයකට සහභාගි වූ ප්‍රධාන සාමාජිකයකු වෙයි. එසේ ම ඔහු ගේ පුතෙකු වන අගස්ත්‍ය ඍෂි තුමා ද සහභාගි වූ බව ආයුර්වේද ශාස්ත්‍රයේ දැනට විද්‍යමාන පැරණිතම ග්‍රන්ථය වන චරක සංහිතාවේ සූත්‍ර ස්ථානයේ ප්‍රථම අධ්‍යායයේ එන ආයුර්වේදවතරණයේ මෙසේ සඳහන් වේ.

ISBN 978-1-78280-808-4
9 781782 808084

**අඞ්ගිරා ජමදග්නිශ්ච වසිෂ්ඨඃ කාශ්‍යපො භෘගුඃ**
**ආත්‍රෙයො ගෞතමඃ සාඞ්ඛ්‍යඃ පුලාසෙත්‍යා නාරදෙ'සිතඃ**
**අගසෙත්‍යා වාමදෙවශ්ච මාර්කණ්ඩෙයාශ්වලායනෞ**
**පාරික්ෂිර්භික්ෂුකාත්‍රෙයො හරද්වාජඃ කපිඤ්ජලඃ**

(චරක සංහිතා සූ. අධ්‍යාය 1)

ඒ අනුව පැහැදිලි වන්නේ රාවණ ගේ පිය පරම්පරාවෙන් උරුම වූ වෙදකම පැවතුණ බවයි. ප්‍රධාන ඍෂී සම්මේලනයකට සහභාගි වීමට තරම් දැනුම ඇති බව ද මෙයින් ගම්‍යමාන වේ. එසේ නම් මේ කුමාර තන්ත්‍රයේ ආයුර්වේදීය චිකිත්සා සඳහා ඇවැසි ඥානය පිය පරම්පරාවෙනුත් පිදේනි දීම් ආදිය මව් පරම්පරාවෙනුත් ලැබූ ඥානය ඉවහල් වී ඇති බව හොඳින් තහවුරු වේ. ඒ අනුව කුමාර තන්ත්‍රයේ කර්තෘත්වය රාවණ රජුට සාධක සහිත ව හිමි වේ.

මෙම ගත යුහුසුළුව මනාව පැහැයූ **මොඩන් පොත් සමාගමේ** අදිපතිතුමන් ඇතුළු කිරිය මඬුල්ලට මාගේ නොවක් තුති පුදකරමි.

**පණ්ඩිත සීවලී බණ්ඩාර**

# ශ්‍රීරාවණ පරපුර


පිය පරපුර
පුලස්ත්‍ය ඍෂි + හවිර්භූ
- අගස්ත්‍ය
- විශ්‍රව(වෛශ්‍රවණ/වෙසමුණි) + කෛකසී (දෙවන බිරිය)

මවු පරපුර
තාටක + සුමලි
- කෛකසී
- සුබාහු
- මරිච
(රාවණ මාමාවරු)

ත්‍රිං බින්දු + අලම්බුශා
- ඉලවිද (පළමුවන බිරිය)

විශ්‍රව + කෛකසී / ඉලවිද
- රාවණ + මණ්ඩෝදරී (මයගේ දියණිය)
- කුම්භකර්ණ
- විභීෂණ
- කුම්භෝදර
- ඛර
- දූෂණ
- අහිරාවණ
- කුම්භිනී
- ශූර්පණකා (මීනාක්ෂි)
(රාවණ සහෝදර සහෝදරියන්)

රාවණ + මණ්ඩෝදරී
- මේඝනාද (ඉන්ද්‍රජිත්)
- මහාපාර්ශ්ව
- අතිකාය
- අක්ෂයකුමාර
- දේවාන්තක
- නරාන්තක
- ත්‍රිශිර
(රාවණ දරුවන්)

ISBN 978-1-78280-808-4
9 781782 808084


# ප්‍රකාශක සටහන

පුරාණ ලංකාවේ මහත් බලපරාක්‍රමයෙන් යුතු රජ කෙනෙකුන් බවට ප්‍රසිද්ධියක් ඇති දසිස් රාවණ නම් අගස්ත්‍ය ඍෂි පුත්‍රයා විසින් කළැයි සම්මත ග්‍රන්ථ ගණනාවකින් දැනට සොයාගත හැක්කේ කිහිපයක් පමණකි. ඒවා ද ලක්දිව කොතැනකින් හෝ සොයා ගැනීමට තරම් භාග්‍යවත් නොවීමු. එම පොත් ස්වල්පය ද රචනා වී ඇත්තේ සකු බසිනි. මෙතෙක් පළවී ඇත්තේ ද භාරතයේ ය.

ඉන් එකක් වන **උඩ්ඩීශ තන්ත්‍රය** සිංහලයට පෙරළා කලකට ඉහත දී පළ කෙළෙමු. මේ **කුමාර තන්ත්‍රය** ද භාරතයේ පළ වූ එවැනි ම ග්‍රන්ථයකි. ළදරු රෝග සඳහා ප්‍රතිකාර ඇතුළත් මෙය අගනා වෛද්‍ය ග්‍රන්ථයකි.

රාවණ රජ කාලයේ ලක්දිව තොරතුරු ගවේශනය කරන පුරාවිද්‍යාඥයනට, ඉතිහාසඥයනට සහ ඒවා ගැන උනන්දුවක් දක්වන සියලු දෙනාටම මේ පොත් පරිශීලනය කිරීම වැදගත් බව නොරහසකි. මෙය වෛද්‍යවරුනට මෙන් ම ඒ සියලු දෙනාට ද මඳ හෝ උපකාරයක් වේවා යි පතමු.

අපගේ ආරාධනය සතුටින් පිළිගෙන ඉතා කෙටි කලකින් අගනා සන්නයක් සැපයූ පණ්ඩිත **සීවලී බණ්ඩාර** වෛද්‍යවරු තුමන්ට අපගේත් අප පාඨකයින්ගේත් නොමඳ තුතිය හිමි වෙයි.

**මොඩන් පොත් සමාගම**

2558 බිනර මස පුන් පොහෝ දින යැ.
2014 සැප්තැම්බර 08.

ISBN 978-1-78280-808-4

# පටුන

## 1 මාතෘකාග්‍රහණය හෙවත් බාලගිරි යක්ෂිණී දෙෂය



## 2 ළදරු රෝග හේතු /29



## 3 වයස අනුව ඖෂධ මාත්‍රාව /32

ISBN 978-1-78280-808-4
9 781782 808084

## 4 බාලරෝග ලක්‍ෂණ සහ ප්‍රතිකාර



## 5 ජ්වර චිකිත්සා /45



## 6 අතීසාර චිකිත්සා /57

ISBN 978-1-78280-808-4

**10 හික්කාඡර්දි චිකිත්සා /83**



**11 උදර රෝග චිකිත්සා**


ISBN 978-1-78280-808-4



## 12 විවිධ රෝග සඳහා ප්‍රතිකාර /97




# රාවණා ගේ

# කුමාර තන්ත්‍රය

---

# रावणकृतकुमारतन्त्रः

ISBN 978-1-78280-808-4
9 781782 808084

# 1

# මාතෘකාග්‍රහණය හෙවත් බාලගිරි යක්ෂිණී දෙෂය

## නන්දනා නාම මාතෘකා

ප්‍රථම දිවසෙ මාසෙ වර්ෂේ වා ගෘහණාති නන්දනා නාම මාතෘකා. තයා ගෘහීතමාත්‍රෙණ ප්‍රථමං භවති ජ්වරඃ. අශුභං ශබ්දං මුඤ්චති ආතකාරං ච කරොති ස්තන්‍යං න ගෘහණාති. බලිං තස්‍ය ප්‍රවක්‍ෂ්‍යාමි. යෙන සම්පද්‍යතෙ ශුභම්. නද්‍යුභයතටමෘත්තිකාං ගෘහීත්වා පුත්තලිකාං කෘත්වා ශුක්ලෞදනං ශුක්ලපුෂ්පං ශුක්ලාඃ සප්තධ්වජාඃ සප්තප්‍රදීපාඃ සප්තස්වස්තිකාඃ සප්තවටකාඃ සප්ත-ශෂ්කුලිකාඃ සප්තජම්බූඵලානි සප්තමුෂ්ටිකාඃ ගන්ධාඃ පුෂ්පං තාම්බූලං මත්ස්‍යමාංසං සුරා අග්‍රයභක්තශ්ච පූර්වස්‍යාං දිශි චතුෂ්පථෙ මධ්‍යාහ්නෙ බලිර්දාතව්‍යඃ.

ප්‍රථම - පළමු, දිවසෙ - දවසෙහි (හෝ), මාසෙ - පළමු මාසයෙහි (හෝ), වර්ෂේ වා - පළමු වසරෙහි (හෝ), නන්දනා නාම - නන්දනා නම්, මාතෘකා - මැය, ගෘහණාති - ගනියි. තයා - ඇ විසින්, ගෘහීතමාත්‍රෙණ - ගත් සැණින්, ප්‍රථමං - පළමු ව, ජ්වරඃ - උණ, භවති - පවතී; අශුභං - අනිටු, ශබ්දං - ශබ්දයක්, මුඤ්චති - පිටකරයි. ආතකාරං ච - ඔක්කාරය ද, කරොති - කරයි; ස්තන්‍යං - තනකිරි, න ගෘහණාති - නො ගනියි; යෙන - යමකින්, ශුභම් - සුව, සම්පද්‍යතෙ - සලසා ද, තස්‍ය - ඒ සඳහා, බලිං - බිලි (දෙළ), ප්‍රවක්‍ෂ්‍යාමි - පවසන්නෙමි; නද්‍යුභයතට - ගඟ දෙපස ඉවුරු දෙකොන්, මෘත්තිකාං - මැටි, ගෘහීත්වා - ගෙණ, පුත්තලිකාං - කුඩා රූවක්(බෝනික්කෙකු වැනි), කෘත්වා - කැර, ශුක්ලෞදනං - සුදුබත්, ශුක්ලපුෂ්පං -

ISBN 978-1-78280-808-4

සුදුමල්, ශුකලාඃ සපතධවජාඃ - සුදුකොඩි හතක්, සපතප්‍රදීපාඃ - පහන් හතක්, සපතසවසතිකාඃ - ස්වස්තික හතක්, සපතවටකාඃ - ලඩ්ඩු[1] හතක්, සපතශෂ්කුලිකාඃ - කැවිලි හතක්, සපතජමබූඵලානි - ජම්බු ගෙඩි හතක්, සපතමුෂටිකාඃ - මිටවල් හතක්(අහුරු), ගනධාඃ - සුවඳ වර්ග, පුෂපං - මල්, තාමබූලං - බුලත්, මතසය - මාළු, මාංසං - මස්, සුරා - මත්වතුර, අග්‍රය භකතශච - උතුම්(නොඉඳුල්) ආහාර, පූර්වසයාං දිශි - පෙරදිග(නැගෙනහිර), චතුශපථෙ - සිවුමංසලක දී, මධ්‍යාහෙන - මැදියම් වේලාවේ, බලිර්දීතවයඃ - බිලි පිදේනි දිය යුතුය.

දරුවෙකු උපන් පළමු දිනය, පළමු මාසය හෝ පළමු වසර ඇතුළත බාලග්‍රහ දෝසක් ඇති වේ නම් එය **නන්දනා** නම් මැයගෙන් ඇති වේ. ඇය විසින් දරුවාට ලෙඩ කිරීම ඇරඹූ විගසින් දරුවාට උණ හට ගනියි. අමුතු අශුභ හඬක් පිටකරයි. ඔක්කාරය පවතින අතර තන කිරි නොබොයි. මෙම අවස්ථාවට පිළියම් වශයෙන් ගඟ දෙපසින් ම ඉවුරෙහි මැටි රැගෙන කුඩා රුවක් තනා ඉන්පසුව සුදුබත්, සුදුමල්, සුදුකොඩි හතක්, පහන් හතක්, ස්වස්තික කොඩි හතක්, ලඩ්ඩු හතක්, කැවිලි හතක්, ජම්බු ගෙඩි හතක්, කිසියම් ධාන්‍ය වර්ග වැනි දේ මිටවල් හතක්, සුවඳ වර්ග, මල්, බුලත්, මාළු, මස්, මත්වතුර හා උතුම් ලෙස සැකසූ ආහාර නැගෙනහිර දිශාවේ ඇති සිව්මංසලක තබා මැදියම් වේලාවේ බිලි පිදේනි දිය යුතුය.

> තතොශචපපතුං කුමෙහ ප්‍රකෂිපය ශානතපුදකෙන
> සනාපයෙත් රසොන සිදධාර්ථකා මෙෂශෘඞග නිමබපත්‍ර
> ශිවනිර්මාලෙ‍ය බාලකං ධූපයෙත්.

---

1 හිඳුන් විසින් වෙසෙසින් ගණදෙවිඳුන් පිදුමට යොද ගන්නා කැවිලි වෙසෙසක්. මේ සඳහා අග්ගලා ද මැනවි.

ISBN 978-1-78280-808-4

## මන්ත්‍රය

ඕං නමො නාරායණාය අමුකාස්‍ය[2] ව්‍යාධිං හන හන ශ්‍රුංදෑව ශ්‍රුංදෑව හ්‍රීං ඵට් ස්වාහා

> එවං දිනත්‍රයං බලිං දත්වා චතුත්ථිදිවසෙ බ්‍රාහ්මණාං භොජයෙත් තතඃ සම්පද්‍යතෙ සුඛම්.

තතඃ – ඉන්පසු, අශ්වත්ථපත්‍රං – ඇසතු බෝ පතක්, ආමෙන – පැන් කලයෙහි, ප්‍රක්ෂිප්‍ය – බහා, ශාන්ත්‍යුදකෙන – සෙත් පැනින්, ස්නාපයෙත් – නහවන්නේ ය; රජොන – සුදුලූනු, සිද්ධාර්ථක – අබ, මෙෂශෘඞ්ග – එළුඅංකුඩු, නිම්බපත්‍ර – කොහොඹ කොළ, ශිවනිර්මාල්‍ය – ශිව දෙවියන්ට පූජා කළ මල්, බාලකං – ඉරිවේරිය, ධූපයෙත් – දුම් දෙන්නේ ය.

(ඕං නමෝ . . . . මන්ත්‍රය ජප කරන්න.)

එවං – මෙසේ, දිනත්‍රයං – දින තුනක්, බලිං – බිලි, දත්වා – දී, චතුර්ථිදිවසෙ – සිව්වන දිනයෙහි, බ්‍රාහ්මණාං – බමුණන්ට, භොජයෙත් – දන් දෙන්නේ ය; තතඃ – එයින්, සුඛම් – (ළමයා) සුවයකට, සම්පද්‍යතෙ – පැමිණේ.

ඇසතු බෝ පතක් රැගෙන පැන් කලයෙහි බහා සෙත් පැනින් නහවන්නේ ය. සුදුලූනු, අබ, එළුඅංකුඩු, කොහොඹ කොළ, ශිව දෙවියන්ට පූජා කළ මල්, ඉරිවේරිය යන ද්‍රව්‍යවලින් මන්ත්‍රය ජප කරමින් දුම් දෙන්නේ ය.

මේ අයුරින් දින තුන ම බිලි පිදේනි දී සිව්වන දින බමුණන්ට දන් දෙන්නේ ය. එසේ කිරීමෙන් දරුවාට සුව සැලසේ.

---

2 මෙම මන්ත්‍රයේ අමුකාස්‍ය යන තැනට ආතුර ළදරුවා ගේ නම යෙදිය යුතුය. උදා:- ස්වරාන්ත නමක් නම් ලසන්ත, දිනුක; ලසන්තස්‍ය, දිනුකස්‍ය වශයෙනුත් හලන්ත නමක් නම් සහන්, පසන් ආදි වශයෙන් එය සහන් නාම්නඃ, පසන් නාම්නඃ ආදි වශයෙන් යෙදිය යුතුය. අමුකාස්‍ය යන සියලු තැන මෙසේ යෙදිය යුතුය.

ISBN 978-1-78280-808-4
9 781782 808084

# සුනන්ද නාම මාතෘකා

> ද්විතීයෙ දිවසෙ මාසෙ වර්ෂේ වා ගෘහණාති සුනන්ද නාම මාතෘකා. තයා ගෘහීතමාත්‍රෙණ ප්‍රථමං භවති ජ්වරඃ. චක්ෂුරුන්මීලයති ගාත්‍රමුද්වෙජයති න ශෙතෙ ක්‍රන්දති. ස්තන්‍යං න ගෘහ්ණාති ආතකාරං ච භවති බලිං තස්‍ය ප්‍රවක්ෂ්‍යාමි යෙන සම්පද්‍යතෙ ශුභම්.

ද්විතීයෙ - දෙ වැනි, දිවසෙ - දවසේ, මාසෙ - දෙ වැනි මාසයෙහි (හෝ), වර්ෂේ වා - වසරෙහි (හෝ), සුනන්ද නාම - සුනන්ද නම්, මාතෘකා - මැය (ගනියි); තයා - ඈ විසින්, ගෘහීතමාත්‍රෙණ - ගත් සැණින්, ප්‍රථමං - පළමු වැ, ජ්වරඃ - උණ පවතී. චක්ෂුඃ - ඇස්, උන්මීලයති - උඩුකුරු වෙයි; ගාත්‍රාම් - අත්පා, උද්වෙජයති - වෙවුලයි; න ශෙතෙ - නො නිදයි; ක්‍රන්දති - අඩයි; ස්තන්‍යං - කිරි, න ගෘහ්ණාති - නො ගනියි; ආතකාරං ච - ඔක්කාරය ද, භවති - වෙයි; යෙන - යම් ක්‍රියාවක්, ශුභම් - සුවය, සම්පද්‍යතෙ - සලසා ද, තස්‍ය - ඒ සඳහා, බලිං - දෙළ (පිදේනි), ප්‍රවක්ෂ්‍යාමි - පවසන්නෙමි.

දරුවා ඉපිද දෙවෙනි දිනයේ දී, දෙවන මාසයේ දී හෝ දෙවන වසරේ දී හෝ **සුනන්ද** නම් මැය බාල ග්‍රහ දෝස ඇති කරයි. එවිට ලෙඩ වූ විගස උණ ඇතිවෙයි. ඇස් උඩුකුරු වෙයි. අත් පා වෙවුලයි. නො නිදයි. අඩයි. කිරි නො බොයි. ඔක්කාර ගතිය ඇති වේ. මේ සඳහා පිළියම් වශයෙන් මෙසේ සඳහන් වේ.

ISBN 978-1-78280-808-4

තණ්ඩුලං හලපෘෂෛටකං දධි ගුඩ ඝෘතෛශච මිශ්‍රිතං ශරාවෛකං ගන්ධතාම්බූලං පීතපුෂ්පං සප්තපීතධවජාඃ සප්තප්‍රදීපාඃ දශසවස්තිකා මත්ස්‍යමාංසං සුරා තිලචූර්ණානි පශ්චිමායාං දිශි චතුෂ්පථේ බලිර්දේයඃ.

තණ්ඩුලං - සහල්, හලපෘෂෛටකං - එක් මිටක්, දධි - දීකිරි, ගුඩ - උක්හකුරු, ඝෘතෛශච - ගිතෙලින් ද, මිශ්‍රිතං - මිශ්‍රකර, එකං ශරා - එක් ශාරාවක් ද, ගන්ධතාම්බූලං - සුවඳ බුලත්, පීතපුෂ්පං - කහ මල්, සප්තපීතධවජාඃ - කහ කොඩි හතක්, සප්තප්‍රදීපාඃ - පහන් හතක් ද, දශසවස්තිකා - ස්වස්තික දහයක්, මත්ස්‍ය - මාළු, මාංසං - මස්, සුරා - මත් වතුර, තිලචූර්ණානි - තලසුණු, පශ්චිමායාං - බටහිර, දිශි - දිශාවෙහි, චතුෂ්පථේ- සිව්මංසලක දී, බලිඃ - දෙළ, දෙයඃ - දිය යුතු ය.

සහල්, මුදවපු කිරි, උක්හකුරු, ගිතෙල් ද මිශ්‍රකර එක් ශරාවක් ද සුවඳ වර්ග, බුලත්, කහමල්, කහ කොඩි හතක්, පහන් හතක් ද ස්වස්තික දහයක්, මාළු, මස්, මත්වතුර, තල සුණු සහිතව බටහිර දිග සිව්මංසලක දෙළ පිදේනි දීම කළ යුතු ය.

දිනානි ත්‍රීණි සන්ධ්‍යායාම් තතඃ ශාන්ත්‍යුදකෙන සනාපයෙත්. ශිවනිර්මාල්‍ය සිද්ධාර්ථ මාර්ජාරලොම උශීර බාල ඝෘතෛර්ධූපං දද්‍යාත්.

ත්‍රීණි දිනානි - දින තුනක්, සන්ධ්‍යායාම් - සන්ධ්‍යා (තුනක), බලිඃ - බිලි (දෙළ), දෙයඃ - දිය යුතුය; තතඃ - ඉක්බිති, ශාන්ති උදකෙන - සෙත් ජලයෙන්, ස්නාපයෙත් - නාවන්නේ ය. ශිවනිර්මාල්‍ය - ශිව දෙවියන්ට පුදකළ මල්, සිද්ධාර්ථ - අබ, මාර්ජාරලොම - බළල් ලෝම, උශීර - සැවැන්දරා, බාල - ඉරිවේරිය, ඝෘතෛඃ - ගිතෙලින්, ධූපං - දුම්, දද්‍යාත් - දෙන්නේ ය.

ISBN 978-1-78280-808-4

දින තුනක් සවස් කාල තුනක් දෙළ දීම කළ යුතුය. ඉන්පසු සෙත් පැතින් දරුවා නහවන්නේ ය. ශිව දෙවිඳුන්ට පූජා කළ මල්, අබ, බලල් ලොම්, සැවැන්දරා, ඉරිවේරිය, ගිතෙල් වලින් දුම් දෙන අතර මන්ත්‍රය ජප කළ යුතු ය.

ඕං නමො නාරායණාය අමුකාස්‍ය ව්‍යාධිං හන හන මුඤ්ච මුඤ්ච හ්‍රීං ඵට් ස්වාහා

(ඕං නමෝ . . . . මන්ත්‍රය කියන්න.)

චතුත්ථිදිවසෙ බ්‍රාහමණාං භොජයෙත්. තතඃ සම්පද්‍යතෙ ශුභම්.

චතුත්ථිදිවසෙ - සතරවන දිනයෙහි, බ්‍රාහමණාං - බමුණන්ට, භොජයෙත් - දන්දෙන්නේ ය; තතඃ - එයින්, ශුභං - (ළමයා) සැපතට, සම්පද්‍යතෙ - පැමිණේ.

සතරවන දිනයෙහි බමුණන්ට දන්දීමෙන් දරුවාට සුවය ලැබෙයි.

* * * *

ISBN 978-1-78280-808-4
9 781782 808084

## පූතනා නාම මාතෘකා

තෘතීයෙ දිවසෙ මාසෙ වර්ෂේ වා ගෘහණාති පූතනා නාම මාතෘකා. තයා ගෘහීතමාත්‍රෙණ ප්‍රථමං භවති ජ්වරඃ. ගාත්‍රමුද්වෙජයති ස්තන්‍යං න ගෘහණාති මුෂ්ටිං බධ්නාති ක්‍රන්දති ඌර්ධ්වං නිරීක්‍ෂතෙ. බලිං තස්‍ය ප්‍රවක්‍ෂ්‍යාමි යෙන සම්පද්‍යතෙ ශුභම්.

නද්‍යුභයතටමෘත්තිකාං ගෘහීත්වා පුත්තලිකාං කෘත්වා ගන්ධපුෂ්පතාම්බූල රක්තචන්දන රක්තපුෂ්පාණි. සප්ත-රක්තධ්වජාඃ සප්තප්‍රදීපාඃ සප්තස්වස්තිකාඃ. පක්‍ෂිමාංසං සුරා අග්‍රයභක්තශ්ච දක්‍ෂිණස්‍යාං දිශි අපරාහ්ණෙ චතුෂ්පථෙ බලිර්දාතව්‍යඃ. ශිවනිර්මාල්‍ය ගුග්ගුලු සර්ෂප නිම්බපත්‍ර මෙෂශෘංගෛර්දිනත්‍රයං ධූපයෙත්.

ඕං නමො නාරායණාය අමුක බාලස්‍ය ව්‍යාධිං හන හන මුඤ්ච මුඤ්ච හ්‍රාසය හ්‍රාසය ස්වාහා

චතුර්ථේ දිවසෙ බ්‍රාහ්මණං භොජයෙත් තතඃ සම්පද්‍යතෙ ශුභම්.

තෘතීයෙ - තුන්වෙනි, දිවසෙ - දවසෙහි, මාසෙ - මාසයෙහි, වර්ෂේ වා - වර්ෂයෙහි හෝ, පූතනා - පුතනා, නාම - නම්, මාතෘකා -මැය, ගෘහණාති - ගණියි; තයා - ඈ විසින්, ගෘහීතමාත්‍රෙණ - ගත් සැනින්, ප්‍රථමං - පළමු ව, ජ්වරඃ - උණ, භවති - වෙයි; ගාත්‍රං - අත්පා, උද්වෙජයති - වෙවුලයි. ස්තන්‍යං - කිරි, න ගෘහණාති - නො ගනියි. මුෂ්ටිං - මිට, බධ්නාති - මොළවා ගනියි; ක්‍රන්දති - හඬයි; ඌර්ධ්වං - උඩ, නිරීක්‍ෂතෙ - බලයි; තස්‍ය - ඒ සඳහා, බලිං - දෙළ, ප්‍රවක්‍ෂ්‍යාමි - පවසමි; යෙන - එයින්, ශුභම් - සුවය, සම්පද්‍යතෙ - සැළසේ.

නද්‍යුභයතට - ගං ඉවුරු දෙපස, මෘත්තිකාං - මැටි, ගෘහීත්වා - ගෙන, පුත්තලිකාං - කුඩා රුවක්, කෘත්වා - කර, ගන්ධ-පුෂ්පතාම්බූල - සුවඳ මල් බුලත්, රක්තචන්දන- රත්හඳුන්,

ISBN 978-1-78280-808-4
9 781782 808084

රක්තපුෂ්පාණි - රතුමල්, සප්තරක්තධ්වජාඃ - රතු කොඩි හතක්, සප්තප්‍රදීපාඃ - පහන් හතක්, සප්තස්වස්තිකාඃ - ස්වස්තික හතක්, පක්ෂිමාංසං - කුරුලු මස්, සුරා - මත්වතුර, අග්‍රයභක්තාශච - උඳුම් ආහාරය, දක්ෂිණායාං දිශි - දකුණු දිග, අපරාහ්ණෙ - පස්වරු කාලයේ, චතුෂ්පථේ - සිව්මංසලක, බලිඃ - බිලි(දෙල), දාතව්‍යඃ - දිය යුතුය.

ශිවනිර්මාල්‍ය - ශිව දෙවියන්ට පූජා කළ මල්, ගුග්ගුලු - ගුගුල්, සර්ෂප - අබ, නිම්බපත්‍ර - කොහොඹ කොළ, මෙෂශෘංග - එළුඅංකුඩු (මේවායින්), දිනත්‍රයං - දින තුනක්, ධූපයෙත් - දුම් දෙන්නේ ය. මන්ත්‍රය ද ජප කරන්නේ ය.

චතුර්ථේ - සිව්වෙනි, දිවසෙ- දිනයෙහි, බ්‍රාහ්මණාං - බමුණන්ට, භොජයෙත් - දන් දෙන්නේ ය; තතඃ - එයින්, ශුභං - (ළමයාට) සුවය, සම්පද්‍යතෙ - පැමිණේ.

දරුවා ඉපදී තුන්වන දිනයේ දී තුන්වන මාසයේ දී තුන්වන අවුරුද්දේ දී **පූතනා** නම් මැය විසින් බාල ග්‍රහ දෝෂය ඇති කරයි. එවිට පළමුව උණ ඇති වෙයි. අත්පා ද වෙවුලයි. කිරි නො බොයි. මිට මොළවා ගනියි. හඬයි. උඩ බලයි. මේ සඳහා පිළියම් වශයෙන් ගං ඉවුරු දෙපස මැටි රැගෙන කුඩා රුවක් තනා සුවඳමල්, බුලත්, රත්හඳුන්, රතුමල්, රතු කොඩි හතක්, පහන් හතක්, ස්වස්තික හතක්, කුරුලු මස්, මත්වතුර, උඳුම් ආහාර දකුණු දිග තබා සවස් කාලයෙහි සිවුමංසලක දෙළ පිදේනි දිය යුතු ය. ශිව දෙවියන්ට පූජා කළ මල්, ගුගුල්, අබ, කොහොඹ කොළ, එළු අංකුඩු යන මේවායින් දින තුනක් දුම් දිය යුතු අතර මන්ත්‍ර ජපය සිදු කළ යුතු ය.

**මන්ත්‍රය:** ඕං නමෝ නාරායණාය අමුක බාලස්‍ය ව්‍යාධිං හන හන මුඤ්ච මුඤ්ච හ්‍රාසය හ්‍රාසය ස්වාහා

සිවුවෙනි දිනයෙහි බමුණන්ට දන් දෙන්නේ ය. එයින් සුව වෙයි.

* * * *

ISBN 978-1-78280-808-4

## මුඛමුණ්ඩිකා නාම මාතෘකා

චතුර්ථේදිවසෙ මාසෙ වර්ෂේ වා ගෘහණාති මුඛමුණ්ඩිකා නාම මාතෘකා. තයා ගෘහීතමාත්‍රෙණ ප්‍රථමං භවති ජ්වරඃ ග්‍රීවාං නාමයති අක්ෂිණී උන්මීලයති ස්තන්‍යං න ගෘහණාති රොදිති ස්වපිති මුෂ්ටිං බධ්නාති. බලිං තස්‍ය ප්‍රවක්ෂ්‍යාමි යෙන සම්පද්‍යතෙ ශුභම්.

නද්‍යුභයතටමෘත්තිකාං ගෘහීත්වා පුත්තලිකාං කෘත්වා උත්පලපුෂ්පං ගන්ධ තාම්බූලං දශධ්වජාඃ චත්වාරඃ ප්‍රදීපාඃ ත්‍රයොදශස්වස්තිකාඃ මත්ස්‍යමාංසං සුරා අග්‍රයභක්තශ්ච උත්තරස්‍යාං දිශි අපරාහ්ණෙ චතුෂ්පථෙ බලිං දද්‍යාත්. ආද්‍යමාසිකො ධූපඃ.

ඕං නාරායණාය අමුකස්‍ය ව්‍යාධිං හන හන මුඤ්ච මුඤ්ච ස්වාහා

චතුර්ථේ දිවසෙ බ්‍රාහ්මණං භොජයෙත් තතඃ සම්පද්‍යතෙ ශුභම්.

චතුර්ථේ - සතරවන, දිවසේ - දවසෙහි, මාසේ - මාසයෙහි, වර්ෂේ වා - වසරේ දී හෝ, මුඛමුණ්ඩිකා නාම - මුඛමුණ්ඩිකා නම්, මාතෘකා - මැය, ගෘහණාති - ගනියි; තයා - ඈ විසින්, ගෘහීතමාත්‍රෙණ - ගත් සැණින්, ප්‍රථමං - පළමු ව, ජ්වරඃ - උණ, භවති - වෙයි; ග්‍රීවාං - බෙල්ල, නාමයති - නැමෙයි; අක්ෂිණී - ඇස්, උන්මීලයති - උඩුකුරු වෙයි; ස්තන්‍යං - කිරි, න ගෘහණාති - නො ගණියි; රොදිති - හඩයි; ස්වපිති - නිදයි; මුෂ්ටිං - මිට, බධ්නාති - මොළවා ගනියි; තස්‍ය - ඒ සඳහා, බලිං - දෙළ, ප්‍රවක්ෂ්‍යාමි - පවසමි; යෙන - එයින්, ශුභම් - සුවය, සම්පද්‍යතෙ - සැලසේ.

ISBN 978-1-78280-808-4

නද්‍යුභයතට - ගං ඉවුරු දෙපස, මෘත්තිකාං - මැටි, ගෘහීත්වා - ගෙණ, පුත්තලිකාං - කුඩා රුවක්, කෘත්වා - කර, උත්පල- පුෂ්පං - මානෙල් මල්, ගන්ධ තාම්බූලං - සුවඳ හා බුලත්, දශධ්වජාඃ - කොඩි දහයක්, චත්වාරඃ ප්‍රදීපාඃ - පහන් හතරක්, ත්‍රයොදශස්වස්තිකාඃ - දහතුනක් ස්වස්තික, මත්ස්‍යමාංසං - මස් මාළු, සුරා - මත්වතුර, අග්‍රයභක්තශ්ච - උතුම් ආහාරය, උත්තරස්‍යාං දිශි - උතුරු දිග, අපරාහ්ණෙ - සවස, චතුෂ්පථෙ - සිවුමංසලක, බලිං - බිලි, දද්‍යාත් - දෙන්නේ ය; ආද්‍ය - මුලින්, මාසිකො - (තෙවන)මාසයේ, ධූපඃ - දුම භාවිත කරන්නේ ය.

**මන්ත්‍රය:** ඕං නාරායණාය අමුකස්‍ය ව්‍යාධිං හන හන මුඤ්ච මුඤ්ච ස්වාහා

චතුර්ථේ - සිව්වෙනි, දිවසෙ - දිනයෙහි, බ්‍රාහ්මණං - බමුණන්ට, භොජයෙත් - දන් දෙන්නේ ය; තතඃ - එයින්, ශුභම් - (ළමයාට) සුවය, සම්පද්‍යතෙ - පැමිණේ.

දරුවා ඉපිද සතරවන දිනයේ හෝ සතරවන මාසයේ හෝ සතරවන වසරෙහි **මුඛ මණ්ඩිකා** නම් මැය ගනියි. එහි බලපෑම ඇති වූ විගස පළමුව උණ ඇති වෙයි. එසේ ම බෙල්ල නැමෙයි. ඇස් උඩුකුරු වෙයි. කිරි නො බොයි. හඬයි. නිදයි. මිට මොළවා ගෙන සිටියි. එම බාල ග්‍රහ දෝෂයට දෙළ වශයෙන් ගං ඉවුරු දෙපස මැටි ගෙන කුඩා රුවක් සාද මානෙල් මල්, සුවඳ වර්ග හා බුලත් ද කොඩි දහයක්, පහන් හතරක්, ස්වස්තික දහතුනක්, මස්, මාළු, මත් වතුර සහිත උතුම් ආහාර උතුරු දිග සවස් කාලයෙහි සිවුමංසලක දී දෙළ දෙන්නේ ය. තෙවැනි මාසය සඳහා(කලින් කියන ලද) භාවිත දුම මේ අවස්ථාවට ද භාවිත කරන්න. පසුව මන්ත්‍රය ජප කර සිවුවෙනි දිනයේ බමුණන්ට දන් දෙන්නේ ය. එයින් සුව වෙයි.

* * * *

ISBN 978-1-78280-808-4

# කටපූතනා නාම මාතෘකා

පඤ්චමෙ දිවසෙ මාසෙ වර්‍ෂෙ වා ගෘහණාති කටපූතනා නාම මාතෘකා. තයා ගෘහීතමාත්‍රෙණ ප්‍රථමං භවති ජ්වරඃ ගාත්‍රමුද්වෙජයති ස්තන්‍යං න ගෘහණාති මුෂ්ටිං ච බධ්නාති. බලිං තස්‍ය ප්‍රවක්‍ෂ්‍යාමි යෙන සම්පද්‍යතෙ ශුභම්.

පඤ්චමෙ - පස්වෙනි, දිවසෙ - දවසෙහි හෝ, මාසෙ - මාසයෙහි හෝ, වර්‍ෂෙ වා - වර්ෂයෙහි හෝ, කටපූතනා - කටපූතනා, නාම - නම්, මාතෘකා - මැය, ගෘහණාති - ගනියි; තයා - ඇ විසින්, ගෘහීතමාත්‍රෙණ - ගත් සැණින්, ප්‍රථමං - පළමු ව, ජ්වරඃ - උණ, භවති - වෙයි; ගාත්‍රම් - අත්පා, උද්වෙජයති - වෙවුලයි; ස්තන්‍යං - කිරි, න ගෘහණාති - නො ගනියි; මුෂ්ටිං - මිට, බධ්නාති - මොළවා ගනියි; තස්‍ය - ඒ සඳහා, බලිං - දෙළ, ප්‍රවක්‍ෂ්‍යාමි - පවසමි; යෙන - එයින්, ශුභම් - සුවය, සම්පද්‍යතෙ - සැළසේ.

කුම්භකාරචක්‍රස්‍ය මෘත්තිකාං ගෘහීත්වා පුත්තලිකාං නිර්මාය ගන්ධතාම්බූලං ශුක්ලෞදනඃ ශුක්ලපුෂ්පම් පඤ්චධ්වජාඃ පඤ්චප්‍රදීපාඃ පඤ්චවටකාඃ ඓශාන්‍යාං දිශි බලිර්දීතව්‍යඃ.

කුම්භකාරචක්‍රස්‍ය - කුඹල්කරුවෙකු ගේ සකපෝරුවේ, මෘත්තිකාං - මැටි, ගෘහීත්වා - ගෙණ, පුත්තලිකාං - කුඩා රුවක්, නිර්මාය - මවා, ගන්ධතාම්බූලං - සුවඳ හා බුලත්, ශුක්ලෞදනඃ - සුදුබත්, ශුක්ලපුෂ්පම් - සුදුමල්, පඤ්චධ්වජාඃ - කොඩි පහක්, පඤ්චප්‍රදීපාඃ - පහන් පහක්, පඤ්චවටකාඃ - ලඩ්ඩු පහයි, ඓශාන්‍යාං දිශි - ඊශාන දිශාවෙහි, බලිං - දෙළ, දතව්‍යඃ - දිය යුතුය.

ශාන්තාද්‍යුදකෙන ස්නාපයෙත් ශිවනිර්මාල්‍යං සර්ජනිර්මෝකඃ ගුග්ගුලු නිම්බපත්‍ර වාලක ඝෘතෛර්ධූපං දද්‍යාත්.

ISBN 978-1-78280-808-4

ඕං නමො නාරායණාය අමුකස්‍ය ව්‍යාධිං චූර්ණය චූර්ණය හන හන ස්වාහා

චතුර්ථේ දිවසෙ බ්‍රාහමණං භොජයෙත් තතඃ සම්පද්‍යතෙ ශුභම්.

ශාන්ති උදකෙන - සෙත් ජලයෙන්, ස්නාපයෙත් - නහවන්නේ ය; ශිවනිර්මාල්‍යං - ශිව දෙවියන්ට පුද කළ මල්, සර්ජනිර්මෝකඃ - නයිහැව, ගුග්ගුලු - ගුගුල්, නිම්බපත්‍ර - කොහොඹ කොළ, වාලක - ඉරිවේරිය, ඝෘතෛඃ - ගිතෙලින්, ධූපං - දුම්, දද්‍යාත් - දෙන්නේ ය.

**මන්ත්‍රය:** ඕං නමො නාරායණාය අමුකස්‍ය ව්‍යාධිං චූර්ණය චූර්ණය හන හන ස්වාහා මන්ත්‍රය ජපකරන්නේ ය.

චතුර්ථේ දිවසෙ - සතර වන දවසෙහි, බ්‍රාහමණං - බමුණන්ට, භොජයෙත් - දන් දෙන්නේ ය; තතඃ - එයින්, ශුභම් - සුවයක්, සම්පද්‍යතෙ - සැලසේ.

පස්වෙනි දවසෙහි හෝ පස්වෙනි මාසයෙහි හෝ පස්වෙනි වසරෙහි **කටපූතනා** නම් මැය ගනියි. එම අවස්ථාවේ දී පළමුව උණ ඇතිවෙයි. අත් පා වෙවුලයි. කිරි නො බොයි. මිට මොළවයි. ඒ සඳහා පිළියම් වශයෙන් දෙළ පවසමි. එමගින් සුවය ඇති වේ.

කුඹල්කරුවෙකු ගේ සක පෝරුවේ මැටි ගෙන කුඩා රුවක් තනා සුවඳ ද්‍රව්‍ය හා බුලත්, සුදුබත්, සුදුමල්, කොඩි පහක්, පහන් පහක්, ලඩ්ඩු පහක් සහිතව ඊශාන දිශාවෙහි දෙළ දිය යුතු ය. සෙත් ජලයෙන් නහවන්නේ ය. ශිව දෙවියන්ට පුද කළ මල්, නයිහැව, ගුගුල්, කොහොඹ කොළ, ඉරිවේරිය, ගිතෙල් යන මේවායින් දුම් දෙන්නේ ය. පසුව මන්ත්‍රය ජප කොට සතරවන දිනයෙහි බමුණන්ට දන් දෙන්නේ ය. එයින් සුවයක් සැලසේ.

• • • •

ISBN 978-1-78280-808-4
9 781782 808084
ශ්‍රී ලංකාවේ සිංහල ශුද්ධ ...

# ශකුනිකා නාම මාතෘකා

ෂෂ්ඨෙ දිවසෙ මාසෙ වර්ෂේ වා ගෘහ්ණාති ශකුනිකා නාම මාතෘකා. තයා ගෘහීතමාත්‍රේණ ප්‍රථමං භවති ජ්වරඃ ගාත්‍ර භේදං ච දර්ශයති දිවාරාත්‍රාවුත්ථානං භවති ඌර්ධ්වං නිරීක්ෂතෙ. බලිං තස්‍ය ප්‍රවක්ෂ්‍යාමි යෙන සම්පද්‍යතෙ ශුභම්.

පිෂ්ටකෙන පුත්තලිකාං කෘත්වා ශුක්ලපුෂ්පං රක්තපුෂ්පං පීතපුෂ්පං ගන්ධං තාම්බූලං දශප්‍රදීපාඃ දශධ්වජාඃ දශ-ස්වස්තිකාං දශමුෂ්ටිකාඃ දශවටිකාඃ ක්ෂීරජම්බුවිකා මත්ස්‍යමාංසං සුරා ආගෙනයාං දිශි නිෂ්ක්‍රාන්තෙ මධ්‍යාහ්නෙ බලිං දාපයෙත් ශාන්තෝදකෙන ස්නාපයෙත්.

ශිවනිර්මාල්‍ය රශෝන ගුග්ගුලු සර්පනිර්මෝක නිම්බපත්‍රං ධූපං දද්‍යාත්.

ඕං නමෝ නාරායණාය චූර්ණිය චූර්ණිය හන හන ස්වාහා

චතුර්ථේ දිවසෙ බ්‍රාහ්මණං භෝජයෙත් තතඃ සම්පද්‍යතෙ ශුභම්.

ෂෂ්ඨෙ දිවසෙ - සයවෙනි දවසෙහි, මාසෙ - මාසයෙහි, වර්ෂේ වා - වර්ෂයෙහි හෝ, ශකුනිකා නාම - ශකුනිකා නම්, මාතෘකා - මෑය, ගෘහ්ණාති - ගණියි. තයා - ඈ විසින්, ගෘහීතමාත්‍රේණ - ගත් සැණින්, ප්‍රථමං - පළමු ව, ජ්වරඃ - උණ, භවති - වෙයි; ගාත්‍ර - අත්පා, භේදං ච - ඉරිතැලීම ද, දර්ශයති - දැක්වෙයි; දිවාරාත්‍රෞ - දිවා හා රාත්‍රී කාලයෙහි, උත්ථානං - නැඟී සිටීම, භවති - වෙයි, ඌර්ධ්වං නිරීක්ෂතෙ - උඩ බලයි, තස්‍ය - ඒ සඳහා, බලිං - බිලි, ප්‍රවක්ෂ්‍යාමි - පවසමි; යෙන - යමකින්, ශුභම් - සුවය, සම්පද්‍යතෙ - සැලසේ

ISBN 978-1-78280-808-4

පිෂ්ටකෙන - පිටිවලින්, පුත්තලිකාං - කුඩා රුවක්(බෝනික්කෙකු), කෘෂ්වා - කර, ශුකලපුෂ්පං - සුදුමල්, රකතපුෂ්පං - රතුමල්, පීතපුෂ්පං - කහමල්, ගන්ධං - සුවඳ, තාම්බූලං - බුලත්, දශප්‍රදීපාඃ - පහන් දහයක්, දශධවජාඃ - කොඩි දහයක්, දශස්වස්තිකාං - ස්වස්තික දහයක්, දශමුෂ්ටිකාඃ - අග්ගලා දහයක්, දශවටකාඃ - ලඩ්ඩු දහයක්, ක්ෂීරජම්බුඩිකා - කිරි මුසුව වණ්ඩුවේ තැම්බූ කැවුමක්(වණ්ඩු ආප්ප), මත්ස්‍යමාංසං - මාළු මස්, සුරා - මත්වතුර, ආග්නෙයාං දිශි - ගිණිකොන දිශාවේ, නිෂ්ක්‍රාන්තෙ මධ්‍යාහ්නෙ - රෑ මැදියමෙන් පසු (12 පසු), බලිං - දෙළ, දපයෙත් - දෙන්නේ ය; ශාන්ත්‍යුදකෙන - සෙත් ජලයෙන්, ස්නාපයෙත් - නහවන්නේ ය.

ශිවනිර්මාල්‍ය - ශිව දෙවිඳුන්ට පුද හළ මල්, රශොන - සුදුලූනු, ගුග්ගුලු - ගුගුල්, සර්පනිර්මෝක - නයිහැව, නිම්බපත්‍රං - කොහොඹ කොළ, ඝෘතෛඃ - ගිතෙල්වලින්, ධූපං - දුම්, දද්‍යාත් - දෙන්නේ ය.

**මන්ත්‍රය**

ඕං නමෝ නාරායණාය චූණීය චූණීය හන හන සවාහා

චතුර්ථේදිවසෙ - සතරවන දිනයේ, බ්‍රාහ්මණං - බමුණන්, භොජයෙත් දන් දෙන්නේ ය; තතඃ - එයින්, ශුභම් - සුබයට, සමපද්‍යතෙ - පැමිණේ.

ISBN 978-1-78280-808-4

සයවන දිනයෙහි හෝ සයවන මාසයෙහි හෝ සයවන වසරෙහි හෝ **ශකුනිකා** නම් මැය ගනියි. එම අවස්ථාවේ දී ම පළමුව උණ හටගනී. අත් පා වල ඉරිතැලීම දක්නට තිබේ. දහවල, රාත්‍රී කාලයෙහි උඩ බැලීම වෙයි. ඒ සඳහා දෙළ පවසමි. එයින් සුවය ඇති වෙයි.

පිටිවලින් කුඩා රුවක් තනා සුදුමල්, රතුමල්, කහමල්, සුවඳ ද්‍රව්‍ය, බුලත්, පහන් දහයක්, කොඩි දහයක්, ස්වස්තික දහයක්, අග්ගලා දහයක්, ලඩ්ඩු දහයක්, වණ්ඩු ආප්ප, මස්, මාළු, මත්වතුර ගිනිකොන දිශාවෙහි රෑ මැදියමට (රාත්‍රි 12 පසු) පසු දෙළ දෙන්නේ ය. සෙත් ජලයෙන් නහවන්නේ ය. ශිව දෙවියන්ට පුද හළ මල්, සුදුලූනු, ගුගුල්, නයිහැව, කොහොඹ කොළ, ගිතෙල් යන ද්‍රව්‍යවලින් දුම් දෙන්නේ ය. පසුව මන්ත්‍රය ජප කරන්නේ ය. සතරවන දිනයේ බමුණන්ට දන් දෙන්නේ ය. එයින් සුවය ඇතිවේ.

* * * *

ISBN 978-1-78280-808-4
9 781782 808084


# ශුෂ්කරේවතී නාම මාතෘකා

සප්තමෙ දිවසෙ මාසෙ වර්ෂේ වා යදු ගෘහණාති ශුෂ්ක-රේවතී නාම මාතෘකා තයා ගෘහීතමාත්‍රෙණ ප්‍රථමං භවති ජ්වරඃ ගාත්‍රමුද්වෙජයති මුෂ්ටිං බධ්නාති රොදිති. බලිං තස්‍ය ප්‍රවක්ෂ්‍යාමි. යෙන සම්පද්‍යතෙ ශුභම්.

රක්තපුෂ්පං ශුක්ලපුෂ්පං ගන්ධතාම්බූලං රක්තෞදනඃ කෘශරාඃ ත්‍රයොදශසවස්තිකාඃ මත්ස්‍යමාංසං සුරා ත්‍රයො-දශධ්වජාඃ පඤ්චප්‍රදීපාඃ පශ්චිමදිගභාගෙ ග්‍රාමසකාශෙ අපරාහෙන වෘක්ෂමාශ්‍රිත්‍ය බලිං දද්‍යාත් ශාන්ත්‍යුදකෙන ස්නානම්. ගුග්ගුලු මෙෂශෘංගි සර්ජප උශීර වාලක කෘතෛර්ධූපයෙත්.

සප්තමෙ - සත්වෙනි, දිවසෙ - දවසෙහි, මාසෙ - මාසයෙහි, වර්ෂේවා - වර්ෂයෙහි හෝ, යදු - යම් දිනක, ශුෂ්කරේවතී නාම - ශුෂ්කරේවතී නම්, මාතෘකාඃ - මෑය, ගෘහණාති - ගනියි ද, තයා - ඈ විසින්, ගෘහීතමාත්‍රෙණ - ගත් සැණින්, ප්‍රථමං - පළමු ව, ජ්වරඃ - උණ, භවති - වෙයි; ගාත්‍ර-මුද්වෙජයති - අත්පා සොළවයි; මුෂ්ටිං - මිට, බධ්නාති - මොළවයි; රොදිති - හඬයි, තස්‍ය - එයට, බලිං - දෙළ, ප්‍රවක්ෂ්‍යාමි - පවසමි; යෙන - එයින්, ශුභම් - සුවයක්, සම්පද්‍යතෙ - සැලසේ.

රක්තපුෂ්පං - රතුමල්, ශුක්ලපුෂ්පං - සුදුමල්, ගන්ධතාම්බූලං - සුවඳ හා බුලත්, රක්තෞදනඃ - රතුබත්, කෘශරාඃ - තල සහිත කිරිබත්, ත්‍රයොදශසවස්තිකාඃ - ස්වස්තික දහතුනක්, මත්ස්‍යමාංසං - මාළුමස්, සුරා - මත් වතුර, ත්‍රයොදශධ්වජාඃ - කොඩි දහතුනක්, පඤ්චප්‍රදීපාඃ - පහන් පහක්, පශ්චිම-දිග්භාගෙ - බටහිර දිශාවෙහි, ග්‍රාමසකාශෙ - ගමක් සමීපයෙහි, අපරාහෙණ - සවස් කාලයේ, වෘක්ෂමාශ්‍රිත්‍ය - ගසක් ඇසුරු කොට, බලිං - දෙළ, දද්‍යාත් - දෙන්නේ ය; ශාන්ති උදකෙන -

ISBN 978-1-78280-808-4

සෙත් ජලයෙන්, සනානම් - නහවන්නේ ය; ගුගගුලු - ගුගුල්, මෙෂශෘංගි - එළුඅංකුඩු, සෂීප - අබ, උශීර - සැවැන්දරාමුල්, වාලක - ඉරිවේරිය, ඝෘතෛඃ - ගිතෙලින්, ධූපයෙන් - දුම් දෙන්නේ ය.

ඕං නමො නාරායණාය දීපත තෙජසෙ හන හන මුඤ්ච මුඤ්ච සවාහා

චතුරෙථි දිවසෙ බ්‍රාහමණං හොජයෙත් තතඃ සමපද්‍යතෙ ශුභම්.

**මන්ත්‍රය:** ඕං නමො නාරායණාය දීපත තෙජසෙ හන හන මුඤ්ච මුඤ්ච සවාහා

චතුරෙථි - සිවුවැනි, දිවසෙ - දවසේ, බ්‍රාහමණං - බමුණන්ට, හොජයෙත් - දන් දෙන්නේ ය; තතඃ - එයින්, ශුභම් - සුවයක්, සමපද්‍යතෙ - සැලසේ.

සත්වන දවසෙහි හෝ සත්වෙනි මාසයෙහි හෝ සත්වෙනි වසරෙහි **ශුෂ්කරේවති** නම් මෑය ගනියි. එසැණින් ම උණ ඇති වෙයි. අත් පා සොළවයි. මිට මොළවයි. හඬයි. එයට පිළියම් වශයෙන් දෙළ පවසමි. එයින් සුවයක් ඇති වෙයි.

රතුමල්, සුදුමල්, සුවඳ වර්ග, බුලත්, රතු බත්, ස්වස්තික දහතුනක්, මාළු, මස්, මත්වතුර, කොඩි දහතුනක්, පහන් පහක්, බටහිර දිශාවේ ගමක් සමීපයෙහි ගසක් ඇසුරු කොට සවස් කාලයෙහි දෙළ දෙන්නේ ය. පසුව සෙත් ජලයෙන් නහවන්නේ ය. ගුගුල්, එළුඅංකුඩු, අබ, සැවැන්දරා මුල්, ඉරිවේරිය, ගිතෙල් යන ද්‍රව්‍ය වලින් දුම් දෙන්නේ ය. මන්ත්‍ර ජපකර සතරවන දිනයේ බමුණන්ට දන් දෙන්නේ ය. එයින් සුව සැලසේ.

* * * *

ISBN 978-1-78280-808-4
9 781782 808084
ශ්‍රී රාවණා වංශය ග්‍රන්ථ කේන්ද්‍රය

# ආර්යිකා නාම මාතෘකා

අෂ්ටමෙ දිවසෙ මාසෙ වර්ෂේ වා යද ගෘහණාති ආර්යිකා නාම මාතෘකා තයා ගෘහීතමාත්‍රෙණ ප්‍රථමං භවති ජ්වරඃ ගෘධ්‍රගන්ධඃ පූතිගන්ධශ්ච ජායතෙ ආහාරං ච න ගෘහණාති උද්වෙජයති ගාත්‍රාණි. බලිං තස්‍ය ප්‍රවක්ෂ්‍යාමි යෙන සම්පද්‍යතෙ ශුභම්.

රක්තපීතධ්වජාඃ චන්දනං පුෂ්පං ශෂ්කුල්‍යඃ පර්පටිකාඃ මත්ස්‍ය-මාංසං සුරා ජම්බූඩිකාඃ ප්‍රත්‍යූෂෙ බලිදෛයඃ ග්‍රාමන්තරෙ.

ඕං නමො නාරායණාය චතුර්දිශ මොක්ෂණාය ව්‍යාධිං හන හන මුඤ්ච මුඤ්ච දහ දහ ආ ඕං හ්‍රීං ඵට් ස්වාහා

චතුර්ථේ දිවසෙ බ්‍රාහ්මණං භොජයෙත් තතඃ සම්පද්‍යතෙ ශුභම්.

අෂ්ටමෙ - අටවෙනි, දිවසෙ - දවසෙහි, මාසෙ - මාසයෙහි, වර්ෂේ වා - වර්ෂයෙහි හෝ, යද - යම් දිනක, ආර්යිකා නාම - ආර්යකා නම්, මාතෘකා - මැය, ගෘහණාති - ගනියි; තයා - ඈ විසින්, ගෘහීතමාත්‍රෙණ - ගත් සැණින්, ප්‍රථමං - පළමු ව, ජ්වරඃ - උණ, භවති - වෙයි; ගෘධ්‍රගන්ධඃ - ගිජුලිහිණි ගඳ ද, පූතිගන්ධශ්ච - කුණු ගඳ ද, ජායතෙ - හට ගනියි; ආහාරං ච - ආහාරය ද, න ගෘහණාති - නො ගණියි; ගාත්‍රාණි - අත් පා, උද්වෙජයති - වෙවුලයි; තස්‍ය - එයට, බලිං - දෙළ, ප්‍රවක්ෂ්‍යාමි - පවසන්නෙමි; යෙන - එයින්, ශුභම් - සුවයක්, සම්පද්‍යතෙ - සැලසේ.

ISBN 978-1-78280-808-4

රක්ත - රතු, පීත - කහ, ධවජාඃ - කොඩි, චන්දනං - සඳුන්, පුෂ්පං - මල්, ශෂ්කුල්‍යඃ - කැවිලි, පර්පටිකාඃ - රොටි, මත්ස්‍ය මාංසං - මාළු මස්, සුරා - මත්වතුර, ජම්බුඩිකාඃ - වණ්ඩු ආප්ප, ප්‍රත්‍යුෂෙ - අළුයම, ග්‍රාමනතරෙ - ගම කෙළෙවර, බලිං - දෙළ, දෙයඃ - දෙන්නේ ය.

## මන්ත්‍රය

ඕං නමො නාරායණාය චතුර්දිශ මොක්ෂණාය ව්‍යාධිං හන හන මුක්දව මුක්දව දහ දහ ආ ඕං හ්‍රීං එට් ස්වාහා

චතුථේ - සතරවන, දිවසෙ - දවසෙහි, බ්‍රාහමණං - බමුණන්ට, භොජයෙත් - දන් දෙන්නේ ය; තතඃ - එයින්, ශුභම් - සුවයක්, සමපද්‍යතෙ - සැලසේ.

අටවන දිනයෙහි හෝ අටවන මාසයෙහි හෝ අටවන වසරෙහි **ආර්යකා** නම් මැය ගනියි. එම අවස්ථාවේ දී පළමුව උණ ඇති වෙයි. ගිජුලිහිණි ගඳ ද කුණු ගඳ ද හට ගනියි. ආහාරය ද නො ගණියි. අත් පා වෙවුලයි. එයට දෙළ පවසන්නෙමි.

රතුපාට - කහපාට කොඩි, සුදුහඳුන්මල්, කැවිලි, රොටි, මස්, මාළු, මත්වතුර, වණ්ඩු ආප්ප සමඟ අළුයම ගම කෙළවර දෙළ දෙන්නේ ය. මන්ත්‍ර ජප කර සතරවන දිනයෙහි බමුණන්ට දන් දෙන්නේ ය. එයින් සුව ඇති වෙයි.

• • • •

ISBN 978-1-78280-808-4

## භූසූතිකා නාම මාතෘකා

නවමෙ දිවසෙ මාසෙ වර්ෂේ වා ගෘහණාති භූසූතිකා නාම මාතෘකා. තයා ගෘහීතමාත්‍රෙණ ප්‍රථමං භවති ජ්වරඃ නිත්‍යං ඡර්දිඃ භවති ගාත්‍ර භෙදං දර්ශයති මුෂ්ටිං බධනාති. බලිං තස්‍ය ප්‍රවක්ෂ්‍යාමි යෙන සම්පද්‍යතෙ ශුභම්.

නද්‍යුභයතටමෘත්තිකාං ගෘහීත්වා පුත්තලිකාං නිර්මාය ශුක්ලවස්ත්‍රෙණ වෙෂ්ටයෙත් ශුක්ලපුෂ්පං ගන්ධං තාම්බූලං ශුක්ලත්‍රයොදශධ්වජාඃ ත්‍රයොදශදීපාඃ ත්‍රයොදශස්වස්තිකාඃ ත්‍රයොදශපුත්තලිකාඃ ත්‍රයොදශමත්ස්‍යපුත්තලිකාඃ මත්ස්‍ය-මාංස සුරා උත්තරදිග්භාගෙ ග්‍රාමාන්නිශ්ක්‍රම්‍ය බලිං දද්‍යාත්.

ඕං නමො නාරායණාය චතුර්භුජයෙ අමුකස්‍ය ව්‍යාධිං හන හන මුඤ්ච මුඤ්ච ස්වාහා

චතුර්ථේ දිවසෙ බ්‍රාහ්මණං භොජයෙත් තතඃ සම්පද්‍යතෙ ශුභම්.

නවමෙ - නවවන, දිවසෙ - දවසෙ, මාසෙ - මාසයෙහි, වර්ෂේ වා - වර්ෂයෙහි හෝ, භූසූතිකා නාම - භූසූතිකා නම්, මාතෘකාඃ - මැය, ගෘහණාති - ගණියි, තයා - ඇය විසින්, ගෘහීත-මාත්‍රෙණ - ගත් සැණින්, ප්‍රථමං - පළමු ව, ජ්වරඃ - උණ, භවති - වෙයි; නිත්‍යං ඡර්දිඃ - නිතර වමනය, භවති - වෙයි; ගාත්‍ර භෙදං - අත්පා බිඳීම (ඉරි තැලීම), දර්ශයති - දක්වී; මුෂ්ටිං - මිට, බධනාති - මොළවා ගනියි; තස්‍ය - එයට, බලිං - දෙළ, ප්‍රවක්ෂ්‍යාමි - පවසන්නෙමි; යෙන - එයින්, ශුභම් - සුවයක්, සම්පද්‍යතෙ - සැලසේ.

නද්‍යුභයතට - ගං ඉවුරු දෙපස, මෘත්තිකාං - මැටි, ගෘහීත්වා - ගෙණ, පුත්තලිකාං - කුඩා රුවක්(බෝනික්කෙකු), නිර්මාය - තනා, ශුක්ලවස්ත්‍රෙණ - සුදුවතින්, වෙෂ්ටයෙත් - වෙළන්නේ ය; ශුක්ලපුෂ්පං - සුදුමල්, ගන්ධං - සුවඳ, තාම්බූලං - බුලත්,

ISBN 978-1-78280-808-4

ශුකලත්‍රයොදශධවජාඃ - සුදුකොඩි දහතුනක්, ත්‍රයොදශදීපාඃ - පහන් දහතුනක්, ත්‍රයොදශ සවසතිකාඃ - ස්වස්තික දහතුනක්, ත්‍රයොදශපුත්තලිකාඃ - කුඩාරුව දහතුනක්, ත්‍රයොදශමත්‍සය-පුත්තලිකාඃ - මාළු රුව දහතුනක්, මත්‍සයමාංස - මාළුමස්, සුරා - මත්වතුර, උත්තරදිගභාගෙ - උතුරුදිග, ග්‍රාමානනිශ්-ක්‍රම්‍ය - ගමින් ඉක්ම ගොස්, බලිං - දෙළ, දද්‍යාත් - දෙන්නේ ය.

### මන්ත්‍රය

ඕං නමො නාරායණාය චතුර්භුජයෙ අමුකස්‍ය ව්‍යාධිං හන හන මුඤ්ච මුඤ්ච සවාහා

චතුර්ථේ දිවසෙ - සතරවෙනි දවසෙහි, බ්‍රාහමණං - බමුණන්ට, භොජයෙත් - දන්දෙන්නේ ය; තතඃ - එයින්, ශුභම් - සුවයක්, සමපද්‍යතෙ - සැලසේ.

නව වන දිනයෙහි හෝ නව වන මාසයෙහි හෝ නව වන වසරෙහි **භූසූතිකා** නම් මැය ගණියි. එම අවස්ථාවේ දී පළමු ව උණ ඇති වෙයි. නිතර වමනය පවතී. අත් පාවල ඉරිතැලීම හටගනියි. මිට මොළවා ගනියි. එයට දෙළ පවසන්නෙමි. එයින් සුව සැළසේ

ගං ඉවුරු දෙපස මැටි ගෙණ කුඩා රුවක් සාද සුදුවතින් වෙළන්නේ ය. සුදුමල්, සුවඳ වර්ග, බුලත්, සුදුකොඩි දහතුනක්, පහන් දහතුනක්, ස්වස්තික දහතුනක්, කුඩා රුව දහතුනක්, මාළු රුව දහතුනක්, මාළු, මස්, මත්වතුර උතුරු දිශාවේ ගම කෙළෙවරධ දෙළ දෙන්නේ ය. මන්ත්‍ර ජප කොට සතර වන දිනයෙහි බමුණන්ට දන් දෙන්නේ ය. එයින් සුව වෙයි.

• • • •

ISBN 978-1-78280-808-4

## නිර්ඝෘතා නාම මාතෘකා

දශමෙ දිවසෙ මාසෙ වර්ෂේ වා ගෘහණාති නිර්ඝෘතා නාම මාතෘකා. තයා ගෘහීතමාත්‍රෙණ ප්‍රථමං භවති ජ්වරඃ ගාත්‍රමුද්වෙජයති ආතකාරං කරොති රොදිති මූත්‍රං පුරීෂං ච භවති. බලිං තස්‍ය ප්‍රවක්ෂ්‍යාමි යෙන සම්පද්‍යතෙ ශුභම්.

පාරාවාර මෘත්තිකාං ගෘහීත්වා පුත්තලිකාං නිර්මාය ගන්ධං තාම්බූලං රක්තපුෂ්පං රක්තචන්දනං පඤ්චවර්ණධ්වජාඃ පඤ්චප්‍රදීපාඃ පඤ්චස්වස්තිකාඃ පඤ්චපුත්තලිකාඃ මත්ස්‍ය-මාංසඃ සුරා වායව්‍යාං දිශි බලිං දද්‍යාත්.

දශමෙ දිවසෙ - දහවෙනි දවසෙහි, මාසෙ - මාසයෙහි, වර්ෂේ වා - වර්ෂයෙහි හෝ, නිර්ඝෘතා නාම - නිර්ඝෘතා නම්, මාතෘකා - මැය, ගෘහණාති - ගණියි; තයා - ඈ විසින්, ගෘහීතමාත්‍රෙණ - ගත් සැණින්, ප්‍රථමං - පළමු ව, ජ්වරඃ - උණ, භවති - වෙයි; ගාත්‍රම් - අත්පා, උද්වෙජයති - වෙවුලයි; ආතකාරං - ඔක්කාර, කරොති - කරයි. රොදිති - හඩයි, මූත්‍රං - මුත්‍රය, පුරීෂං ච - මළ ද, භවති - වෙයි. තස්‍ය - ඒ සඳහා, බලිං - දෙළ, ප්‍රවක්ෂ්‍යාමි - පවසමි; යෙන - එයින්, ශුභම් - සුවයක්, සම්පද්‍යතෙ - සැලසේ.

පාරාවාර - මුහුදු, මෘත්තිකාං - මැටි, ගෘහීත්වා - ගෙණ, පුත්තලිකාං - කුඩා රුවක්, නිර්මාය - සාද, ගන්ධං තාම්බූලං - සුවඳ හා බුලත්, රක්තපුෂ්පං - රතුමල්, රක්තචන්දනං - රත්හඳුන්, පඤ්චවර්ණධ්වජාඃ - වර්ණ පහක කොඩි, පඤ්චප්‍රදීපාඃ - පහන් පහක්, පඤ්චස්වස්තිකාඃ - ස්වස්තික පහක්, පඤ්චපුත්තලිකාඃ - කුඩා රුව පහක්, මත්ස්‍යමාංසඃ - මාළු මස්, සුරා - මත්වතුර, වායව්‍යාං දිශි - වයඹ දිසාවෙහි, බලිං - දෙළ, දද්‍යාත් - දෙත්තේ ය.

ISBN 978-1-78280-808-4

කාකවිෂ්ඨා ගොමාංස ගොශෘඞ්ග රසොන මාර්ජාරලොම නිම්බපත්‍ර ඝෘතෛර්ධූපයෙත්.

ඕං නමෝ නාරායණාය චූර්ණිතහසතාය මුඤ්ච මුඤ්ච ස්වාහා

චතුර්ථේ දිවසෙ බ්‍රාහමණාං භොජයෙත් තතඃ සුසෙථා භවති බාලකඃ.

කාකවිෂ්ඨා - කාකවසුරු, ගොමාංස - ගවමස්, ගොශෘඞ්ග - ගවඅංකුඩු, රසොන - සුදුලූනු, මාර්ජාරලොම - බළල් ලොම්, නිම්බපත්‍ර - කොහොඹ කොළ, ඝෘතෛඃ - ගිතෙල් යන ද්‍රව්‍ය වලින්, ධූපයෙත් - දුම් දෙන්නේ ය.

**මන්ත්‍රය:** ඕං නමො නාරායණාය චූර්ණිත හසතාය මුඤ්ච මුඤ්ච ස්වාහා

චතුර්ථේ - සතරවෙනි, දිවසෙ - දවසෙහි, බ්‍රාහමණාං - බමුණන්ට, භොජයෙත් - දන් දෙන්නේ ය; තතඃ - එයින්, බාලකඃ - දරුවා, සුසෙථා - නිරෝගී, භවති - වෙයි.

දස වන දිනයෙහි හෝ දස වන මාසයෙහි හෝ දස වන වසරෙහි **නිර්ඝෘතා** නම් මැය ගණියි. එම අවස්ථාවේ දී පළමු ව උණ ඇති වෙයි. අත් පා වෙවුලයි. ඔක්කාර කරයි. හඬයි. මුත්‍ර ද මළ ද පහවෙයි.

ඒ සඳහා දෙළ වශයෙන් මුහුදු මැටි ගෙණ කුඩා රුවක් තනා සුවඳ වර්ග, බුලත්, රතුමල්, රත්හඳුන්, පාට පහක කොඩි, පහන් පහක්, ස්වස්තික පහක්, කුඩා රුව පහක්, මාළු, මස්, මත්වතුර සහිතව වයඹ දිශාවෙහි දෙළ දෙන්නේ ය.

කාක වසුරු, ගවමස්, ගවඅංකුඩු, සුදුලූනු, බළල් ලොම්, කොහොඹ කොළ, ගිතෙල් යන ද්‍රව්‍යවලින් දුම් දෙන්නේ ය. පසුව ජප කරන්නේ ය. සතරවන දිනයේ බමුණන්ට දන් දෙන්නේ ය. එයින් දරුවා නිරෝගි වෙයි.

* * * *

## පිලිපිච්ඡිකා නාම මාතෘකා

ඒකාදශෙ දිවසෙ මාසෙ වර්ෂේ වා යදි ගෘහ්ණාති පිලිපිච්ඡිකා නාම මාතෘකා තයා ගෘහීතමාත්‍රෙණ ප්‍රථමං භවති ජ්වරඃ ආහාරං න ගෘහ්ණාති ඌර්ධ්ව දෘෂ්ටිර්භවති ගාත්‍රභඞ්ගො භවති. බලිං තස්‍ය ප්‍රවක්‍ෂ්‍යාමි යෙන සම්පද්‍යතෙ ශුභම්.

පිෂ්ටකෙන පුත්තලිකාං කෘත්වා රක්තචන්දනං රක්තවස්ත්‍ර තස්‍යා මුඛං දුග්ධෙන සිඤ්චෙත් පීතපුෂ්පං ගන්ධ තාම්බූලං සප්තපීතධ්වජාඃ සප්තප්‍රදීපාඃ අෂ්ටෞවටකා අෂ්ටෞ-ශෂ්කුලිකාඃ අෂ්ටෞපූරිකාඃ මත්ස්‍යමාංසං සුරා පූර්ණසත්‍රං දිශි බලිර්දාතව්‍යඃ ශාන්ත්‍යුදකෙන ස්නානම්.

ශිවනිර්මාල්‍ය ගුග්ගුලු ගොශෘඞ්ග සර්පනිර්මෝක ඝෘතෛ-ධූපයෙත්.

ඕං නමො නාරායණාය මුඤ්ච මුඤ්ච ස්වාහා

චතුර්ථේ දිවසෙ බ්‍රාහ්මණං භොජයෙත් තතඃ සුස්ථො භවති බාලකඃ.

ඒකාදශෙ - එකොළොස් වෙනි, දිවසෙ - දවසෙහි, මාසෙ - මාසයෙහි, වර්ෂේ වා - වර්ෂයෙහි හෝ, යදි - යම් සේ, පිලිපිච්ඡිකා නාම - පිලිපිච්ඡිකා නම්, මාතෘකා - මැය, තයා - ඇ විසින්, ගෘහීතමාත්‍රෙණ - ගත් සැණින්, ප්‍රථමං - පළමු ව, ජ්වරඃ - උණ, භවති - වෙයි; ආහාරං - ආහාර, න ගෘහ්ණාති - නො ගණියි; ඌර්ධ්ව දෘෂ්ටි - උඩු බැලිව, භවති - වෙයි; ගාත්‍රභඞ්ගො - අත්පා බිඳීම (ඉරිතැලීම), භවති - වෙයි; තස්‍ය - එයට, බලිං - දෙළ, ප්‍රවක්‍ෂ්‍යාමි - පවසමි; යෙන - එයින්, ශුභම් - සුවයක්, සම්පද්‍යතෙ - සැලසේ.

ISBN 978-1-78280-808-4

පිෂ්ටකෙන - පිටිවලින්, පුත්තලිකාං - කුඩාරුවක්, කෘත්වා - කොට, රක්තචන්දනං - රත්හඳුන්, රක්තකදව - ලෙය ද, තස්‍යා - ඒ රූපයේ, මුඛං - මුවෙහි, දුග්ධෙන - කිරි මිශ්‍රකර, සිඤ්චත් - ඉසින්නේ ය; පීතපුෂ්පං - කහමල්, ගන්ධ තාම්බූලං - සුවඳ හා බුලත්, සප්ත පීතධ්වජාඃ - කහකොඩි හතක්, සප්තප්‍රදීපාඃ - පහන් හතක්, අෂ්ටෞවටකා - ලඩ්ඩු අටක්, අෂ්ටෞශෂ්කුලිකාඃ - කැවුම් අටක්, අෂ්ටෞපූරිකාඃ - පූරි අටක්*, මත්ස්‍යමාංසං - මාළු මස්, සුරා - මත්වතුර, පූර්වාස්‍යාං දිශි - නැගෙනහිර, බලි - දෙළ, දාතව්‍යඃ - දිය යුතුය; ශාන්ති උදකෙන - සෙත් ජලයෙන්, ස්නානම් - නහවන්නේ ය.

ශිවනිර්මාල්‍ය - ශිව දෙවියන්ට පුදා හළ මල්, ගුගගුලු - ගුගුල්, ගොශෘඞග - ගවඅංකුඩු, සර්පනිර්මෝක - නයිහැව, ඝෘතෛඃ - ගිතෙලින්, ධූපයෙත් - දුම් දෙන්නේ ය.

**මන්ත්‍රය**

ඕං නමො නාරායණාය මුඤ්ච මුඤ්ච ස්වාහා

චතුර්ථේ - සතරවෙනි, දිවසෙ - දවසෙහි, බ්‍රාහ්මණං - බමුණන්ට, භොජයෙත් - දන් දෙන්නේ ය; තතඃ - එයින්, බාලකඃ - ළමයා, සුසෙඨා භවති - සුවපත් වෙයි.

එකොළොස් වන දිනයේ හෝ එකොළොස් වන මාසයෙහි හෝ එකොළොස් වන වසරෙහි **පිලිපිච්ඡිකා** නම් මැය ගණියි. එම අවස්ථාවේ දී ම පළමුව උණ පවතී. ආහාර නො ගණියි. උඩ බැලිව සිටියි. අත් පා ඉරිතැලීම දක්නට ලැබෙයි. එයට දෙළ පවසමි. එයින් සුව සැලසේ.

---

* පූරි නම් ආහාර වර්ගය ඉන්දියාවේ ආහාර සඳහා භාවිතයි.

ISBN 978-1-78280-808-4


පිටිවලින් කුඩා රුවක් තනා රත්හඳුන් ද, ලෙය ද කිරි ද මිශ්‍ර කර ඒ රූපයේ මුඛයට ඉසින්නේ ය. කහමල්, සුවඳ වර්ග හා බුලත්, කහකොඩි හතක්, පහන් හතක්, ලඩ්ඩු අටක්, කැවුම් අටක්, පුරි අටක්, මාළු, මස්, මත්වතුර සහිතව නැගෙනහිර දිශාවෙහි දෙළ දිය යුතු ය. පසුව සෙත් ජලයෙන් නහවන්නේ ය.

ශිව දෙවියන්ට පුදහළ මල්, ගුගුල්, ගවඅංකුඩු, නයිහැව, ගිතෙල් යන ද්‍රව්‍යවලින් දුම් දෙන්නේ ය. මන්ත්‍රය ජප කොට සතර වන දින බමුණන්ට දන් දෙන්නේ ය. එයින් දරුවා සුවපත් වෙයි.

* * * *




# කාමුකා නාම මාතෘකා

ද්වාදශෙ දිවසෙ මාසෙ වර්ෂෙ වා යදි ගෘහණාති කාමුකා නාම මාතෘකාඃ. තයා ගෘහීතමාත්‍රෙණ ප්‍රථමං භවති ජ්වරඃ විහස්‍ය වාදෙයති කරෙණ තර්ජයති ගෘහණාති භ්‍රාමති නිඃශ්වසිති මුහුර්මුහුරාහාරං න කරොති. බලිං තස්‍ය ප්‍රවක්ෂ්‍යාමි යෙන සම්පද්‍යතෙ ශුභම්.

ක්ෂීරෙණ පුත්තලිකාං කෘත්වා ගන්ධතාම්බූලං ශුක්ලපුෂ්පං ශුක්ලසප්තධ්වජාඃ සප්තප්‍රදීපාඃ සප්තආපූපිකාඃ කරශෙතන දධිභක්තෙන සර්වං කර්මබලිං දද්‍යාත් ශාන්ත්‍යුදකෙන ස්නාපයෙත්.

ශිවනිර්මාල්‍ය ගුග්ගුලු සර්ෂප ඝෘතෛර්ධූපයෙත්.

ඕං නමෝ නාරායණාය මුඤ්ච මුඤ්ච හන හන ස්වාහා

චතුර්ථේ දිවසෙ බ්‍රාහ්මණං භෝජයෙත් තතඃ සුස්ථො භවති බාලකඃ.

ද්වාදශෙ - දොළොස් වෙනි, දිවසෙ - දවසෙහි, මාසෙ - මාසයෙහි, වර්ෂෙ වා - වර්ෂයෙහි හෝ, යදි - යම් සේ, කාමුකා නාම - කාමුකා නම්, මාතෘකාඃ - මෑය, ගෘහණාති - ගනී; තයා - ඈ විසින්, ගෘහීතමාත්‍රෙණ - ගත් සැණෙන්, ප්‍රථමං - පළමුවෙන්, ජ්වරඃ - උණ, භවති - වෙයි; විහස්‍ය - සිනාසී, වාදෙයති - දොඩවයි; කරෙණ - අතින්, තර්ජයති - තර්ජනය කරයි; ගෘහණාති - (විවිධ දේ)අල්ලයි; භ්‍රාමති - යෑමට නික්මෙයි; නිඃශ්වසිති - සුසුම් හෙළයි; මුහුර්මුහුඃ - වරින් වර, ආහාරං - ආහාර, න කරොති - නො ගනියි; තස්‍ය - එයට, බලිං - දෙළ, ප්‍රවක්ෂ්‍යාමි - පවසමි; යෙන - එයින්, ශුභම් - සුවයක්, සම්පද්‍යතෙ - සැලසේ.

ISBN 978-1-78280-808-4

ක්ෂීරෙණ - කිරෙන්, පුත්තලිකාං - කුඩා රුවක්, කෘත්වාං - කර, ගන්ධතාම්බූලං - සුවඳ හා බුලත්, ශුක්ලපුෂ්පං - සුදුමල්, ශුක්ලසප්තධ්වජාඃ - සුදුකොඩි, සප්තප්‍රදීපාඃ - පහන් හතක්, සප්තආපූපිකොඃ - කැවිලි හත් වගක්, කරඃ තෙන - ආතුරයා ගේ අත ගස්වා, දධිභක්තෙන - මෝරුවෙන් සැදූ බත් සහිතව, සර්වං කර්මබලිං - සියලු දෙළ, දද්‍යාත් - දෙන්නේ ය; ශාන්ති උදකෙන - සෙත් ජලයෙන්, ස්නාපයෙත් - නහවන්නේ ය.

ශිවනිර්මාල්‍ය - ශිව දෙවියන්ට පුද හළ මල්, ගුග්ගුලු - ගුගුල්, සර්ෂප - අබ, ඝෘතෛඃ - ගිතෙලින්, ධූපයෙත් - දුම් දෙන්නේ ය.

**මන්ත්‍රය:** ඕං නමෝ නාරායණාය මුඬදව මුඬදව හන හන ස්වාහා

චතුර්ථේ - සතරවෙනි, දිවසෙ - දවසෙහි, බ්‍රාහ්මණං - බමුණන්ට, භොජයෙත් - දන් දෙන්නේ ය; තතඃ - එයින්, බාලකඃ - දරුවා, සුඛෙථා - සුවපත්, භවති - වෙයි.

දෙළොස් වන දවසෙහි හෝ දෙළොස් වන මාසයෙහි හෝ දෙළොස් වන වසරෙහි **කාමුකා** නම් මෑය ගණියි. එම අවස්ථාවේ දී පළමු ව උණ ඇති වෙයි. සිනාසී දෙඩවයි. අතින් තර්ජනය කරයි. විවිධ දේ අල්ලයි. යෑමට නික්මෙයි. සුසුම් හෙළයි. වරින්වර ආහාර නො ගණියි. එයට දෙළ පවසමි. එයින් සුව සැලසේ.

කිරිවලින් කුඩා රුවක් තනා සුවඳ ද්‍රව්‍ය හා බුලත්, සුදුමල්, සුදුකොඩි, පහන් හතක්, කැවිලි හතක්, ආතුරයා ගේ අත ගස්වා මෝරුවලින් සැදූ බත් සහිතව සියලු දෙළ පුද දෙන්නේ ය. සෙත් ජලයෙන් නහවන්නේ ය.

ශිව දෙවිඳුන්ට පුදහළ මල්, ගුගුල්, අබ, ගිතෙල් යන ද්‍රව්‍ය වලින් දුම් දෙන්නේ ය. මන්ත්‍ර ජප කොට සතර වන දවසේ බමුණන්ට දන් දෙන්නේ ය. එයින් දරුවාට සුවයක් වෙයි.

---

ISBN 978-1-78280-808-4
9 781782 808084

# 2

# ළදරු රෝග හේතු

## තනකිරි දූෂිතවන අන්දම

1. ධාත්‍ර්‍යාසතු ගුරුභිර්භෝජ්‍යෛ - විෂමෛර්දෝෂලෛරපි
   දෝෂාඃ දේහෙ ප්‍රකුප්‍යන්ති - තතඃ ස්තන්‍යං ප්‍රදුෂ්‍යති

ගුරුභිඃ - බරවූ ද(දිරවීමට අපහසු), විෂමෛඃ - විෂම, දෝෂලෛඃ - දෙස් සහිත ආහාර (පිළුණු වූ වැනි), භෝජ්‍යෛඃ අපි ආහාර ගැනීම, ධාත්‍ර්‍යාඃ තු - කිරිමවු ගේ, දේහෙ - ශරීරයෙහි, දෝෂාඃ - දෙස්, ප්‍රකුප්‍යන්ති - කිපෙන්නේ ය. තතඃ - එම නිසා, ස්තන්‍යං - තන කිරි, ප්‍රදුෂ්‍යති - දූෂිත වෙයි.

නොකල්හි දිරවීමට අපහසු බර ආහාර ගැනීම හෝ විරුද්ධ ආහාර ගැනීම, විවිධ දෝෂ සහිත ආහාර ගැනීම කිරිමවුන්ගේ ශරීරයෙහි දෙස් කිපීමට හේතු වන්නේ ය. එ මගින් තන කිරි දූෂිත වෙයි.

2. මිථ්‍යාහාරවිහාරිණ්‍යා - දුෂ්ටාවාතාදයඃ ස්ත්‍රියාඃ
   දූෂයන්ති ප්‍රයතෙනාන - ජායන්තෙ ව්‍යාධයඃ ශිශෝඃ

මිථ්‍යා ආහාර - වැරදි ලෙස ආහාර ගැනීම, විහාරිණ්‍යා - වැරදි ඇවැතුම් පැවැතුම් නිසා, ස්ත්‍රියාඃ - ස්ත්‍රිය ගේ, වාතාදයඃ - වාත ආදි දෝෂ, දුෂ්ටා - දූෂිත වී, දූෂයන්ති - තනකිරි දූෂණය වන්නේ ය. ප්‍රයතෙනාන - එයින්, ශිශෝඃ - දරුවාට, ව්‍යාධයඃ - රෝග, ජායන්තෙ - උපදී.

කෑම ගත් විගස නැවත ආහාර ගැනීම(බඩගිනි නැතිව), අවේලාවේ ස්නානය, කෝණ්ඩය තෙත පිටින් කිරි දීම වැනි වැරදි ඇවැතුම් පැවැතුම් ඇති ස්ත්‍රිය ගේ වාත ආදි දෝෂ දූෂිත වී තනකිරි දූෂණය වන්නේ ය. එම කිරි පානය කිරීමෙන් දරුවාට විවිධ රෝග ඇති වේ.

ISBN 978-1-78280-808-4
9 781782 808084

# දත් හටගැනීම සියලු රෝගයට මුලයි

3. දනෙතාදභවස්‍යරොගාණාං - සවේෂාමෙව කාරණාම්
විශෙෂාජ්ජ්වරවිඩෙභද - කාශච්ඡර්දි ශිරොරුජාම්
අභිෂ්‍යන්දශ්ච ශොථශ්ච - විසර්පශ්ච ප්‍රජායතෙ

දනෙතාදභවස්‍ය - දත් හටගැනීම, සවේෂාං රෝගාණාං - සියලු රෝගයන්ට ම, කාරණාම් - හේතුවයි. විශෙෂාත් - විශේෂයෙන්, ජ්වර - උණ, විඩෙභද - මලබිඳීම(බඩයාම), කාශ - කෑශබව, ඡර්දි - වමනය, ශිරොරුජාම් - හිසරුදව, අභිෂ්‍යන්දඃ ච - අභිෂ්‍යන්ද නම් ඇස් ලෙඩ ද, ශොථඃ ච - ඉදිමීම ද, විසර්පඃ ච - විසර්පය ද, ප්‍රජායතෙ - හටගනී.

දත් හටගැනීම සියලු රෝගයන්ට හේතු වෙයි. විශේෂයෙන් උණ, බඩ බුරුලෙන් යාම, කෙට්ටුවීම, වමනය, හිස රුදව, අභිෂ්‍යන්ද නම් ඇස් ලෙඩ, ඉදිමීම ද විසර්පය ද හටගනී.

## වාතයෙන් දූෂිත වූ කිරෙන් හටගන්නා රෝග

4. වාතදුෂ්ටං ශිශුඃ ස්තන්‍යං - පිබන් වාතගදාතුරඃ
ක්ෂාමස්වරඃ කෘශාඞ්ගශ්ච - බද්ධවිණ්මූත්‍රමාරුතඃ

වාතදුෂ්ටං - වයින් දූෂිත වූ, ස්තන්‍යං - කිරි, පිබන් ශිශුඃ - බොන ළදරුවා, වාතගදාතුරඃ - වාත රෝගයෙන් පෙළෙයි. ක්ෂාමස්වරඃ - දුර්වල හඬ ඇති, කෘශාඞ්ගශ්ච - කෙට්ටු අත්පා ඇත්තෙක් ද, මාරුතඃ - කිපුණු වාතයෙන්, බද්ධවිණ්මූත්‍ර - බැඳුණු මලමුත්‍ර(මල බද්ධය හා මුත්‍ර බද්ධය ඇත්තේ වෙයි).

වාතයෙන් දූෂිත වූ කිරි බොන ළදරුවා වාත රෝගයෙන් පෙළෙයි. දුර්වල හඬ ඇති, දුර්වල කෙට්ටු අත් පා ඇති කිපුණු වාතයෙන් ඇති වූ මල බද්ධය හා මුත්‍ර බද්ධය ඇත්තේ වෙයි.

ISBN 978-1-78280-808-4

# පිතෙන් දූෂිත වූ කිරෙන් හටගන්නා රෝග

5. සවිනෙනා හිනනමලො බාලඃ - කාමලාපිතතරොගවාන්
තෘෂණාලුරුෂණසවීාඩගඃ - පිතතදූෂටං පයඃ පිබන්

පිතත දූෂටං - පිතෙන් දූෂිත වූ, පයඃ පිබන් - කිරි බොන, බාලඃ - ළදරුවා, සවිනෙනා - අධික දහඩිය, හිනනමලො - බිඳුණු මල, කාමලා - කාමලා(සෙංගමාල), තෘෂණාලුඃ - පිපාස අධික වීම, උෂණසවීාඩගඃ - මුළු ඇඟ උණුසුම් වීම, පිතත රොගවාන් - පිත් රෝග ඇත්තේ ද වෙයි.

පිතෙන් දූෂිත වූ කිරි බොන දරුවාට අධික දහඩිය දැමීම, මල දියාරුව පහවීම, සෙංගමාලය, පිපාසය අධික වීම, ශරීරය උණුසුම්වීම හා පිත් රෝග ඇති වෙයි.

## සෙමෙන් දූෂිත වූ කිරෙන් හටගන්නා රෝග

6. කඵදූෂටං පිබන් කෂීරං - ලාලාලුඃ ශෙලෂමරොගවාන්
නිද්‍රාර්දිතො ජඩඃ ශුනඃ - ශුකලාකෂඃ ඡර්දනඃ ශිශුඃ

කඵදූෂටං - සෙමෙන් දූෂිත, පිබන් කෂීරං - කිරිබොන, ශිශුඃ - ළදරුවා, ලාලාලුඃ - බහුලව සෙම වැගිරීම, ශෙලෂමරොගවාන් - සෙම් රෝග බහුල වූයේ, නිද්‍රා අර්දිතඃ - නින්දෙහි ඇළුනේ, ජඩඃ - අලස, ශුනඃ - පිපිහලු , ශුකලාකෂඃ - සුදු ඇස්, ඡර්දනඃ - වමනය(ආදි ලකෂණ ඇත්තේ) වෙයි.

සෙමෙන් දූෂිත වූ කිරි බොන දරුවාට සෙම බහුල වීම, අධිකව නින්ද යාම, ශරීරයේ පිපිහලු බව, ඇස් සුදුපාටවීම, වමනය ඇති වේ.

ISBN 978-1-78280-808-4
9 781782 808084

# මව්කිරි නො වැළක්විය යුතු බව

7. සර්වං නිවාර්‍යතෙ බාලෙ - ස්තන්‍යං නෛව නිවාර්‍යතෙ
   මාත්‍රයා ලංඝයෙත් ධාත්‍රීං - ශිශොරෙතද්ධිලංඝනම්,

බාලෙ - ළමයා කෙරෙහි, සර්වං නිවාර්‍යතෙ - සියල්ල වැළැක්වුව ද, ස්තන්‍යං - කිරි, නෛව නිවාර්‍යතෙ - නො වැළක්විය යුතුම ය. මාත්‍රයා - පමණ හා අබාධිතබව බලා, ධාත්‍රීං - කිරිමව, ලංඝයෙත් - ලංඝනය කරන්නේ ය. ශිශොඃ - ළමයා කෙරෙහි, ලංඝනම් - ලංඝනය, එතත් හි - එයමයි.

දරුවා කෙරෙහි සියලු දේ (ආහාරපාන) වැළක් වුව ද මව්කිරි නො වැළක්විය යුතු ය. පමණ බලා කිරිමව ලංඝනය(සැහැල්ලු ආහාරයෙන් යැපීම) කරන්නේ ය. ළමයා කෙරෙහි ලංඝනය එයමයි.

ISBN 978-1-78280-808-4
9 781782 808084

# 3

# වයස අනුව ඖෂධ මාත්‍රාව

## බාලයාට ඖෂධ මාත්‍රාව

8. විඩඞගඵලමාත්‍රනතු - ජාතමාත්‍රස්‍ය භෙෂජම්
   අනෙනෙව ප්‍රමාණෙන - මාසි මාසි ප්‍රවර්ධයෙත්

ජාතමාත්‍රස්‍ය - උපන් හැටියේ ළදරුවෙකුට, විඩඞගඵල - වළහසාල් ඇටයක, මාත්‍රනතු - ප්‍රමාණය, භෙෂජම් - බෙහෙත් (දෙන්නේ ය), අනෙන එව ප්‍රමාණෙන - මේ ප්‍රමාණයම, මාසි මාසි - මාසයක් මාසයක් පාසා, ප්‍රවර්ධයෙත් - වර්ධනය කරන්නේ ය.

ඔසු යොදනවිට උපන් හැටියේ දරුවෙකුට වළහසාල් ඇටයක ප්‍රමාණයකට බෙහෙත් දෙන්නේ ය. මේ ප්‍රමාණය ම මාසයක් මාසයක් පාසා වර්ධනය කරන්නේ ය.

## පළමු මස ඖෂධ මාත්‍රාව

9. ප්‍රථමෙ මාසි බාලස්‍ය - දෙයා භෙෂජරක්තිකා
   අවලෙහ්‍යා තු කර්තව්‍යා - මධුක්ෂීරසිතාඝෘතෛඃ,

ප්‍රථමෙ මාසි - පළමු මාසයෙහි, බාලස්‍ය - ළදරුවාට, භෙෂජ - බෙහෙත්, රක්තිකා - රත්තිකාවක්, දෙයාඃ - දිය යුතුය; මධුක්ෂීර - මීපැණි, සිතා - සීනි, ඝෘතෛඃ - ගිතෙල් සමඟ, අවලෙහ්‍යා තු - අවලේහය ද, කර්තව්‍යා - කළයුතුය.

පළමු මාසයෙහි දරුවාට බෙහෙත් රත්තිකාවක්(125 මි.ග්‍රෑ.) දිය යුතු ය. මීපැණි සීනි හෝ ගිතෙල අවලේහ සඳහා යොද ගත යුතු ය.

ISBN 978-1-78280-808-4

# පළමු වස සිට සොළොස් වසට ඖෂධ මාත්‍රාව

10. එකෛකාං වර්ධයෙත් තාවත් - යාවත් සංවත්සරෝ භවේත්
තදූර්ධ්වං මාසවෘද්ධිඃ ස්‍යාත් - යාවත් ෂෝඩශවත්සරඃ

යාවත් - යම් සේ, සංවත්සරෝ - අවුරුද්ද, භවේත් - වෙයි ද, තාවත් - ඒතාක්, එක එකං - එක එක ප්‍රමාණය, වර්ධයෙත් - වර්ධනය කරන්නේ ය. තත් - එයට, උර්ධ්වං - පසු, මාස - උඳු ඇටයක ප්‍රමාණයට, වෘද්ධිඃ - වැඩි, ස්‍යාත් - වන්නේ ය. යාවත් - යම් සේ, ෂෝඩශවත්සරඃ - අවුරුදු දහසය දක්වා යි.

දරුවාට අවුරුද්ද දක්වා ඔලිඳ ඇටයක ප්‍රමාණය ද ඉන්පසු උඳු ඇටයක ප්‍රමාණයට වැඩි කළ යුතු ය. අවුරුදු දහසය දක්වා ක්‍රමයෙන් වර්ධනය කළ යුතු ය.

## සොළොස් වසට පසු ඖෂධ මාත්‍රාව

11. තතඃ ස්ථිරා භවේත් තාවත් - යාවත් වර්ෂාණි සප්තතිඃ
තතෝබාලකවන්මාත්‍රා - හ්‍රාසනීයා ශනෛඃ ශනෛඃ

තතඃ - ඉන්පසු, යාවත් - යම් සේ, සප්තතිඃ වර්ෂාණි - අවුරුදු හැත්තෑවක් දක්වා, ස්ථිරා - ස්ථිර, භවේත් - වන්නේ ය. තතඃ - ඉන්පසු, බාලකවත් - ළමයකුට මෙන්, ශනෛඃ ශනෛඃ - ටිකෙන් ටික, මාත්‍රා - මාත්‍රාව, හ්‍රාසනීයා - අඩු කළ යුතුය.

අවුරුදු දහසයේ සිට හත්තෑව දක්වා මාත්‍රාව ස්ථිර වන්නේ ය. ඉන්පසු නැවත දරුවෙකුට මෙන් අඩු කළ යුතු ය.

ISBN 978-1-78280-808-4

# චූර්ණ, කල්ක, අවලේහ සහ කෂාය සඳහා මාත්‍රාව

12. චූර්ණකල්කාවලෙහානාමයං මාත්‍රා ප්‍රකීර්තිතා
    කෂායස්‍ය පුනඃ සෛව විඥාතව්‍යා චතුර්ගුණා

චූර්ණ - සුණු, කල්කා - කල්ක, අවලෙහානාම් - අවලේහ, අයං මාත්‍රා - මේ මාත්‍රාව(ඉහත), ප්‍රකීර්තිතා - කියන ලදී. පුනඃ - නැවත, කෂායස්‍ය - කසාය, චතුර්ගුණා - සිව්ගුණයක් මැයි, විඥාතව්‍යා - දතයුතුය.

චූර්ණ(කුඩු), කල්ක, අවලේහ සඳහා මාත්‍රාව ඉහත සඳහන් ය. නැවත කෂාය සඳහා මාත්‍රාව වශයෙන් ඉහත මාත්‍රාව මෙන් සිව් ගුණයක් බව දත යුතු ය.

---

ISBN 978-1-78280-808-4

# 4

# බාලරෝග ලක්ෂණ සහ ප්‍රතිකාර

## කුකූනක රෝග ලක්ෂණ

13. කුකූනකඃ ක්ෂීරදෙෂාච්ඡිශූනාමෙව වර්ත්මනි
    ජායතෙ තෙන නෙත්‍රං ච - කණ්ඩුරං ච ස්‍රවෙන්මුහුඃ

ක්ෂීරදෙෂාඃ - දූෂිත කිරි බීමෙන්, ශිශූනාං - ළදරුවන් ගේ, වර්ත්මනි එව - ඇස් පිහාටුවල ම, කුකූනකඃ - කුකූනක නම් ඇස් රෝගය, ජායතෙ - හටගනී. තෙන - එයින්, නෙත්‍ර - ඇස්, කණ්ඩුරං - කැසීම, ස්‍රවෙත් - කඳුළු වැගිරීම ද, මුහුඃ - වරින් වර ඇතිවේ.

දූෂිත කිරි බීමෙන් ළදරුවන් ගේ ඇස් පිහාටුවල ම **කුකූනක** නම් ඇස් රෝගය හටගනී. එයින් ඇස් කැසීම, කඳුළු වැගිරීම ද වරින් වර ඇති වේ.

14. ශිශුඃ කුර්‍යාල්ලලාටාක්ෂිකූටනාසා විඝර්ෂණම්
    ශක්තොනාර්කප්‍රභාද්‍රෂ්ටුං න නෙත්‍රොන්මීලනක්ෂමඃ

ශිශුඃ - ළමයා, ලලාට - නළල, අක්ෂිකූට - ඇහි බැම, නාසා - නාසය, විඝර්ෂණම් කුර්‍යාත් - අතුල්ලයි. අර්කප්‍රභා - හිරු රැස්, ද්‍රෂ්ටුං - දැකීමට, න ශක්තො - නො හැකිය. නෙත්‍රඃ - නෙත්, උන්මීලන - විවර කිරීමට, න ක්ෂමඃ - අසමත් ය.

ළමයා නළල, ඇහිබැම, නාසය ප්‍රදේශය අතුල්ලයි. හිරු රැස් දැකීමට නො හැකිය. නෙත් විවර කිරීමට නො හැකිය.

ISBN 978-1-78280-808-4

## කුකූණකයට පිළියම්

15. ඵලත්‍රිකං ලොධ්‍ර පුනර්ණවෙච
ස ශෘඞ්ගවෙරං වෘහතීද්වයඤ්ච
ආලෙපනං ශ්ලෙෂ්මහරං සුබොෂ්ණම්
කුකූණකෙ කාර්‍යමුදාහරන්ති.

ඵලත්‍රිකං - අරළු බුළු නෙල්ලි, ලොධ්‍ර - ලොත්, පුනර්ණව - සාරණමුල්, ස ශෘඞ්ගවෙරං - ඉඟුරු සහිතව, වෘහතී ද්වයං ච - එළබටු කටුවැල්බටු දෙවගය, එව - යන ඒවා ම, සුබොෂ්ණම් - මදක් රත්කොට, ආලෙපනං - ආලේප, කාර්‍යං - කරන්න. ශ්ලෙෂ්මහරං - සෙම් නසන්නේ ය. කුකූණකෙ - කුකූණක රෝගය, උදාහරන්ති - සුවකරයි.

අරළු, බුළු, නෙල්ලි, ලොත්පුඹුළු, සාරණමුල්, වියලිඉඟුරු, එළබටු, කටුවැල්බටු යන මේවා මදක් රත්කොට ආලේප කරන්න. සෙම නසා කුකූණක රෝගය සුව වෙයි.

* * * *

ISBN 978-1-78280-808-4

## මාන්දම්(පාරිගර්භික) රෝගය

16. මාතුඃ කුමාරෝ ගර්භිණ්‍යාඃ ස්තන්‍යං ප්‍රායඃ පිබන්නපි
කාසා'ග්නිසාදවමථු තන්ද්‍රා'කාශ්‍යා'රුචිභ්‍රමෛඃ

ගර්භිණ්‍යාඃ මාතුඃ - ගැබිණිමවක ගේ, ස්තන්‍යං - කිරි, ප්‍රායඃ - බොහෝ සෙයින්, පිබන්නපි - බොන, කුමාරඃ - දරුවාට, කාසා - කැස්ස, අග්නිසාද - බඩගිනි මඳබව, වමථු - වමනය, තන්ද්‍රා - තෙමැරිය, කාශ්‍යා - කෙට්ටුබව, අරුචි - අරුචිය, භ්‍රමෛඃ - කැරැකැවිල්ල,

17. යුජ්‍යතෙකොෂ්ඨවෘධ්‍යා ච තමාහුඃපාරිගර්භිකම්
රොගං පරිභවාඛ්‍යාං ච දද්‍යාත් තත්‍රාග්නිදීපනම්

කොෂ්ඨවෘධ්‍යා - බඩ මහත්වීම, යුජ්‍යතෙ - ඇතිවේ. තං - එයට, පාරිගර්භිකම් - පාරිගර්භික නම්, ආහු - කියති. පරිභවාඛ්‍යාං ච - නින්දකටයුතු, රොගං - රෝගයකි. තත්‍ර - එහි දී, අග්නිදීපනං - අග්නිදීපන චිකිත්සාව, දද්‍යාත් - දිය යුතුය.

ගැබිණි මවක ගේ කිරි බොන දරුවාට කැස්ස, බඩගිනි මඳබව, වමනය, තෙමැරිය, කෙට්ටුබව, ආහාර අරුචිය, කැරැකැවිල්ල, බඩ මහත්වීම යන ලක්ෂණ ඇති වේ. එම රෝගයට පාරිගර්භික නම් කියති. නින්ද කටයුතු රෝගයකි. එහි දී අග්නිදීපන චිකිත්සාව කළ යුතු ය.

* * * *

ISBN 978-1-78280-808-4

## තාලුකණ්ටක රෝගය

18. තාලුමාංසෙ කඵඃ ක්‍රුද්ධඃ - කුරුතෙ තාලුකණ්ටකම්
    තෙන තාලුප්‍රදෙශස්‍ය - නිම්නතා මූර්ධ්නි ජායතෙ

තාලුමාංසෙ - තල්ලෙහි මස්වල, ක්‍රුද්ධඃ - කිපුණු, කඵඃ - සෙම, තාලුකණ්ටකම් - තාලුකණ්ටක නම් රෝගය, කුරුතෙ - ඇති කරයි, තෙන - එයින්, තාලු ප්‍රදෙශස්‍ය - තල්ල පෙදෙසෙහි, මූර්ධ්නි - මුදුනෙහි, නිම්නතා - වලගැසීමක්, ජායතෙ - හටගනී.

තල්ලෙහි ඇති මස්වල කිපුණු සෙමෙන් තාලුකණ්ටකය නම් රෝගය ඇතිවේ. එයින් තාලු ප්‍රදේශයෙහි මුදුන වලගැසීමක් හටගනී.

19. තාලුපාකෙ ස්තනද්වෙෂඃ - කෘච්ඡ්‍රාත්පානං ශකෘද්ද්‍රවම්
    තෘඩාක්ෂිකණ්ඨස්‍ය රුජා - ග්‍රීවාදුර්ධරතා වමිඃ

තාලුපාකෙ - තල්ල පැසුණු විට, ස්තන ද්වෙෂඃ - කිරි නො බීම, කෘච්ඡ්‍රාත්පානං - අපහසුවෙන් බීම, ශකෘත් - මල, ද්‍රවම් - බුරුලෙන් පිටවීම, තෘට් - පිපාසය, අක්ෂි - ඇස්, කණ්ඨස්‍ය - උගුරෙ, රුජා - රුදව, ග්‍රීවාදුර්ධරතා - බෙල්ල කෙලින් තබාගත නොහැකි වීම, වමිඃ - වමනය යන ලක්ෂණ ඇතිවේ.

තල්ල පැසුණු විට කිරි නො බීම, අපහසුවෙන් බීම, මල බුරුලෙන් පිටවීම, පිපාසය, ඇස සහ උගුරේ වේදනාව, බෙල්ල කෙලින් තබාගත නොහැකි වීම, වමනය යන ලක්ෂණ ඇතිවේ.

ISBN 978-1-78280-808-4

## තාලුකණ්ටකයට පිළියම්

20. හරීතකී වචා කුෂ්ඨං - කලකං මාක්ෂිකසංයුතම්

    පීත්වා කුමාරඃ ස්තන්‍යෙන - මුච්‍යතෙ තාලුකණ්ටකාත්

හරීතකී - අරළු, වචා - වදකහ, කුෂ්ඨං - කොට්ටං චූර්ණය, මාක්ෂිකසංයුතම් - මීපැණි සමඟ, කල්කං - අඹරා කල්ක කර, ස්තන්‍යෙන - මව් කිරෙන්, පීත්වා - බොන්නේ, කුමාරඃ - ළදරුවා, තාලුකණ්ටකාත් - තාලු කණ්ටක රෝගයෙන්, මුච්‍යතෙ - මිදෙයි.

අරළු, වදකහ, කොට්ටං සුණු කොට මීපැණි සමඟ අඹරා කල්ක කර මව් කිරෙන් පානය කිරීමෙන් ළදරුවා තාලුකණ්ටක රෝගයෙන් මිදෙයි.

* * * *

ISBN 978-1-78280-808-4

# මහාපද්ම රෝගය

21. විසර්පස්තු ශිශෝඃ ප්‍රාණනාශනෝ වස්තිශීර්ෂජඃ
    පද්මවර්ණෝ මහාපද්මෝ රෝගෝ දෝෂත්‍රයෝද්භවඃ

ශිශෝඃ - කුමරුවා ගේ, වස්තිශීර්ෂජඃ - වස්ති මුදුනේ උපන්, විසර්පඃ තු - විසර්පය වනාහි, දෝෂත්‍රයඃ උද්භවඃ - තුන් දෙසින් හටගත්, පද්මවර්ණඃ - රතු නෙළුම් පාට යුත්, මහාපද්මඃ - මහාපද්ම නම්, රෝගඃ - රෝගය, ප්‍රාණ - ප්‍රාණය, නාශනඃ - නසයි.

දරුවා ගේ වස්ති ප්‍රදේශයේ උපන් විසර්පය වනාහි තුන් දෙසින් හටගත් රතු නෙළුම් පාට යුත් මහාපද්ම නම් රෝගය වේ. මෙය පණ නසයි.

## මහාපද්මයට ප්‍රතිකාර

22. මෘතසූතා'භ්‍ර වඞ්ගසද්ව - රෞප්‍යං යෝජ්‍යං ච තත් සමම්
    මෘතතාම්‍රස්‍ය තීක්ෂ්ණස්‍ය - ප්‍රත්‍යේකං ච ද්විභාගිකම්
23. වෛක්‍රාන්තං විභීතකං චෛව - කාසීසං මෘතමෙව ච
    නාගවල්ලීදලරසෛර්භාවයෙච්ච පුනඃ පුනඃ
24. වල්ලී ප්‍රමාණං දාතව්‍යඃ - සර්වරෝගහරඃ පරඃ
    ගර්භිණී බාලකානාං ච - සර්වජ්වරවිනාශනඃ

මෘතසූතා - රස භස්ම, අභ්‍ර - අභ්‍රක(තලාතු මිනිරන්) භස්ම, වඞ්ගසද්ව - වංග භස්ම ද, රෞප්‍යං - රිදී භස්ම, තත්සමම් - එයට සම ප්‍රමාණය ද, මෘතතාම්‍රස්‍ය - තාම්‍ර භස්ම, තීක්ෂ්ණස්‍ය - වානේ භස්ම, ප්‍රත්‍යේකං ච - වෙන් වෙන් වශයෙන් ද, ද්විභාගිකං ච - දෙගුණයක් ද, යෝජ්‍යං - යොදන්නේ ය.

ISBN 978-1-78280-808-4
9 781782 808084

චෞෂං - වියලි ඉඟුරු ගම්මිරිස් තිප්පිලි, විභීතකාං ච - බුළු ද, ඝෘතකාසීසං - කාසීස භෂ්ම යන ඒවා ද, නාගවල්ලීදලරසෛඃ - බුලත් කොල ඉස්මෙන්, පුනඃ පුනඃ - නැවත නැවත, භාවයෙච්ච - භාවනා යුක්තව අඹරන්නේ ය.

සර්වරෝගඃ - සියලුරෝග, හරඃ - නැසීමට, පරඃ - උතුම් ය. වල්ලී ප්‍රමාණං - ඔළිඳ ඇට ප්‍රමාණයට, දතව්‍යඃ - දිය යුතුය. ගර්භිණී බාලකානාං ච - ගැබිණියන් ගේ හා ළදරුවන් ගේ, සර්වජ්වරවිනාශනඃ - සියලු උණ නසන්නේ ය.

රස භෂ්ම, අභ්‍රක භෂ්ම, වංග භෂ්ම, රිදී භෂ්ම මෙම ප්‍රමාණයට සමානව තාම්‍ර භෂ්ම හා වානේ භෂ්ම වෙන වෙන ම දෙගුණ-යක් ද යොදන්නේ ය.

වියලි ඉඟුරු, ගම්මිරිස්, තිප්පිලි, බුළු ද කාසීස භෂ්ම යන ඒවා ද ගෙන බුලත් කොල ඉස්මෙන් නැවත නැවත භාවනා යුක්තව අඹරන්නේ ය.

සියලු රෝග සඳහා උතුම් වන මෙය ඔළිඳ ඇට ½ සිට 3 දක්වා දිය හැකිය. ගැබිණි මව්වරුන් ගේ හා දරුවන් ගේ සියලු උණ නසන්නේ ය.

## ඊට ම අෂ්ටමඞගල ඝෘතය

25. වචා කුෂ්ටං තථා බ්‍රාහ්මී - සිද්ධාර්ථකමථාපි ච
    ශාරිවා සෛන්ධවං චෛව - පිප්පලී ඝෘතමෂ්ටමං

26. සිද්ධං ඝෘතමිදං මේධ්‍යං - පිබෙත් ප්‍රාතර්දිනේදිනේ
    දෘඪස්මෘතිඃ ක්ෂිප්‍රමේධා - කුමාරෝ බුද්ධිමාන් භවේත්

27. න පිශාචා න රක්ෂාංසි - න භූතා න ච මාතරඃ
    ප්‍රභවන්ති කුමාරාණාං - පිබතාමෂ්ටමඞගලම්

ISBN 978-1-78280-808-4
9 781782 808084

වචා - වදකහ, කුෂ්ඨං - කොට්ටං, තථා - එසේ ම, බ්‍රාහ්මී - ලුණුවිල, සිද්ධාර්ථිකා - අබ, අථ අපි ච - තව ද, සාරිවා - ඉරමුසු, සෛන්ධවං ච - සවිඳ ලුණු ද, පිප්පලී - තිප්පිලි, ඝෘත - ගිතෙල්, අෂ්ටං එව - යන ඔසු අට ම,

සිද්ධං - සෑදුවා වූ, ඉදං ඝෘතාම් - මේ ඝෘතය, ප්‍රාතඃ දිනෙ දිනෙ - උදෑසන දිනපතා, මෙධ්‍යං - මතකය, දෘඪාස්මෘතිඃ - දැඩි සිහිය, මෙධා - නැවත සිහිකිරීමේ හැකියාව ඇති, කුමාරඃ - කුමරුවා, ක්ෂිප්‍ර - වහා, බුද්ධිමාන් - බුද්ධිමතකු, භවෙත් - වන්නේ ය.

අෂ්ටමඞ්ගලම් - අෂ්ටමංගල ඝෘතය, පිබතාං - බොන, කුමාරාණාං - කුමරුවා ගේ, පිශාචා - පිසාච දෙස්, රක්ෂාංසි - රාක්ෂ දෙස්, භූතා - භූත දෙස්, මාතරඃ ච - මැය දෙස් ද (බාලගිරි දෙස් ද), න ප්‍රභවන්ති - නො හටගන්නේ ය.

වදකහ, කොට්ටං, ලුණුවිල(ගොටුකොළ ද යෙහෙකි), අබ, ඉරමුසු, සවිඳ ලුණු, තිප්පිලි, ගිතෙල් යන ඔසු අට ම ගෙන සෑදුවා වූ මේ ඝෘතය දිනපතා උදෑසන ගැනීමෙන් දැඩි සිහිය, නැවත සිහිකිරීමේ හැකියාව ඇති කුමරුවා වහා බුද්ධිමතකු වන්නේ ය.

අෂ්ටමංගල ඝෘතය බොන කුමරුවාට පිසාච දෙස්, රාක්ෂ දෙස්, භූත දෙස්, මැය දෙස් (බාලගිරි දෙස්) නො හටගන්නේ ය.

---

ISBN 978-1-78280-808-4



28. යෂ්ටිමධු තුගාක්ෂීරී - ලාජාඤ්ජන සිතා කෘතඃ
ලෙහඃ ප්‍රදතෙතා බාලානාමශෙෂජ්වර නාශනඃ

යෂ්ටිමධු - වැල්මී, තුගාක්ෂීරී - උණකපුරු, ලාජා - විළඳවැන්න, අඤ්ජන - රසාංජන, සිතා - සීනි යන මෙයින්, කෘතඃ - කරන ලද, ලෙහඃ - ලේහය, ප්‍රදතෙතා - දෙන්නේ, බාලානාං - ළමුන් ගේ, ජ්වරං - උණ, අශෙෂ - ඉතිරි නොකොට, නාශනඃ - නසයි.

වැල්මී, උණකපුරු, විළඳවැන්න, රසාංජන, සීනි යන මෙයින් කරන ලද ලේහය ළමුන් ගේ උණ ඉතිරි නො කොට සුව කරයි.

## කිරිමවුන්ගේ සහ ළදරුවන්ගේ වා උණට

29. කවාථඃ සපීරා ගොක්ෂුර විශ්ව බාල
ක්ෂුද්‍රාදයඃ ජීනනරුහා කිරාතෛඃ
වාතජ්වරං වා ශමයෙත් ප්‍රපීතො
බාලෙන ධාත්‍ර්‍යා ච කෘශානුකාරී

සපීරා - අස්වැන්න මුල්, ගොක්ෂුර - ගොකටු මුල්, විශ්ව - වියලි ඉඟුරු, බාල - ඉරිවේරිය, ක්ෂුද්‍රාදයඃ - කටුවැල්බටු, ජීනනරුහා - රසකිඳ, කිරාතෛඃ - බිං කොහොඹ යන මෙයින්, කවාථඃ - කළ කසාය, ප්‍රපීතඃ - බොන්නේ, කෘශානුකාරී - දුර්වල වූ, වාතජ්වරං - වා උණ සහිත, බාලෙන වා - ළදරුවන්ට හෝ, ධාත්‍ර්‍යා ච - කිරිමව්වරුන්ට ද යෝග්‍යයි.

අස්වැන්න මුල්, ගොකටු මුල්, වියලි ඉඟුරු, ඉරිවේරිය, කටුවැල්බටු, රසකිඳ, බිං කොහොඹ යන මේවායින් කළ කසාය පානය කිරීම දුර්වල, වා උණ සහිත ළදරුවන්ට හා කිරිමව්-වරුන්ට ද යෝග්‍යයි.

ISBN 978-1-78280-808-4

## ළදරුවන්ගේ වා උණට

30. පඤ්චමූලීක්‍වාථඃ සවාථඃ - පීතො වාතජ්වරාපහඃ
   තද්වත් ජීනනරුහාද්‍රාක්‍ෂා - ගොපකන්‍යාබලාභවඃ

පඤ්චමූලී - මහපස්මුල, ක්‍වථඃ - කළ, සවාථඃ - කෂාය, පීතඃ - බොන ලද්දේ, වාතජ්වරා - වා උණ, පහඃ - දුරලයි. තද්වත් - ඒ අයුරින්ම, ජීනනරුහ - රසකිඳ, ද්‍රාක්‍ෂා - මුද්දරප්පලම්, ගොපකන්‍යා - ඉරමුසු, බලා - බැබිල, භවඃ - (එසේ ම) වන්නේය.

මහපස්මුලින් කළ කෂාය පානය කිරීමෙන් වා උණ දුරලයි. එසේ ම රසකිඳ, මුද්දරප්පලම්, ඉරමුසු, බැබිල කෂාය ද යෝග්‍යයි.

## ළදරුවන්ගේ පිත් උණට

31. සාරිවොත්පල කාශ්මයර්‍ය - ජිනනාපද්මක පත්‍රිතෛඃ
   සවාථඃ පීතො නිහන්ත්‍යාශු - ශිශූනාං පෛත්තිකං ජ්වරම්

සාරිවා - ඉරමුසු, උත්පල - මානෙල් අල, කාශ්මයර්‍ය - ඇත්දෙමට, ජිනනා - රසකිඳ, පද්මක - නෙළුම්මල් රේණු, පත්‍රිතෛඃ - පත්පාඩගම්වලින් කළ, සවාථඃ - කෂාය, පීතඃ - බොන ලද්දේ, ශිශූනාං - ළදරුවන් ගේ, පෛත්තිකං ජ්වරම් - පිත් උණ, ආශු - වහා, නිහන්ති - නසයි.

ඉරමුසු, මානෙල් අල, ඇත්දෙමට, රසකිඳ, නෙළුම්මල් රේණු, පත්පාඩගම්වලින් සෑදූ කෂාය පානය කිරීමෙන් ළදරුවන් ගේ පිත් උණ වහා නසයි.

ISBN 978-1-78280-808-4

## ළදරුවන්ගේ තුන් දෙසින් ආ උණට

32. මුස්තාපර්පටකොශීර - වාරිපද්මක සාධිතම්
    ශීතාංවාරි නිහන්ත්‍යාශු - ත්‍රිධා දහවම්ජ්වරාන්

මුස්තා - කලාඳුරුඅල, පර්පටක - පැපිලිය, උශීර - සැවැන්දරා මුල්, වාරි - ඉරිවේරිය, පද්මක - නෙළුම් රේණුවලින්, සාධිතම් - සාදන ලද, ශීතාංවාරි - සීත කෂාය, ත්‍රිධා - තුන් දෙසින් හටගත්, දහ - දැවිල්ල, වම් - වමනය, ජ්වරාං - උණ, ආශු - වහා, නිහන්ති - නසයි.

කලාඳුරුඅල, පත්පාඩගම්, සැවැන්දරා, ඉරිවේරිය, නෙළුම් රේණුවලින් සාදන ලද සීත කෂාය තුන් දෙසින් හටගත් දැවිල්ල, වමනය සහ උණ වහා නසයි.

## ළදරුවන්ගේ සතතක උණට

33. නිම්බපත්‍රාමෘතානන්තා - පටෝලෙන්ද්‍රයවෛඃ කෘතඃ
    කවාථෝ හන්ත්‍යාශු සතතං - ප්‍රභවෝ ව්‍යසනං යථා

නිම්බපත්‍ර - කොහොඹ පත්, අමෘතා - රසකිඳ, අනන්තා - වැල්කහඹිලියා, පටෝල - දුම්මැල්ල, ඉන්ද්‍රයවෛඃ - කෙළිඳහාල් යන මෙයින්, කෘතඃ කවාථඃ - කළ කසාය, ප්‍රභවඃ සතතං - හටගත් සතතක උණ, ආශු - වහා, හන්ති - නසයි.

කොහොඹ කොළ, රසකිඳ, වැල්කහඹිලියා, දුම්මැල්ල, කෙළිඳ හාල් යන මේවායින්, කරන ලද කසාය සතතක උණ වහා නසයි.

ISBN 978-1-78280-808-4

## ළදරුවන්ගේ පිත් සෙම් උණට

34. අමෘතෙන්ද්‍රයවාරිෂ්ට - පටෝලං කටුරොහිණී
නාගරං චන්දනං මුසතා - පිප්පලීචූර්ණී සංයුතම්
අමෘතාෂ්ටකමිත්‍යෙතත් - පිත්තශ්ලෙෂ්මජ්වරාපහම්
හෘල්ලාසාරොචකච්ඡර්දි - තෘෂ්ණාදාහනිවාරණඃ

අමෘත - රසකිඳ, ඉන්ද්‍රයව - කෙළිඳහාල්, අරිෂ්ට - කොහොඹ පොතු, පටෝලං - දුම්මැල්ල, කටුරොහිණී - කටුකරෝසන, නාගරං - වියලි ඉඟුරු, චන්දනං - සුදුහඳුන්, මුසතා - කලාඳුරු අල(කෂාය), පිප්පලිචූර්ණීං - තිප්පිලි සුණු, සංයුතම් - සමග යුක්ත වූයේ, අමෘතාෂ්ටකං ඉති - අමෘතාෂ්ටක නම්, එතත් - මෙය, පිත්තශ්ලෙෂ්මජ්වරාපහම් - පිත් සෙම් උණ දුරලයි. හෘල්ලාස -තැලි නැඟීම, ආරොචක - අරුචිය, ඡර්දි - වමනය, තෘෂ්ණා - පිපාසය, දහ - දැවිල්ල, නිවාරණඃ - නිවාරණය කරන්නේ ය.

රසකිඳ, කෙළිඳහාල්, කොහොඹපොතු, දුම්මැල්ල, කටුකරෝසන, වියලි ඉඟුරු, සුදුහඳුන්, කලාඳුරු අල කෂාය, තිප්පිලි සුණු සමග එකතු කළ කල්හි අමෘතාෂ්ටක නම්. මෙය පිත් සෙම් උණ දුරලයි. තැලි නැඟීම, අරුචිය, වමනය, පිපාසය, දැවිල්ල සුව කරයි.

## ඊට ම ශීත කෂායක්

35. ධාන්‍යක චන්දන පද්මක මුසතා
ශක්‍රයවාමලකෛඃ සපටෝලෛඃ
ශීතකෂායමිදං බලු දද්‍යාත්
බාලකපිත්තකඵජ්වරහන්තා

ධාන්‍යක - කොත්තමල්ලි, චන්දන - සුදුහඳුන්, පද්මක - නෙළුම් රේණු, මුසතා - කලාඳුරු අල, ශක්‍රයව - කෙළිඳහාල්,

අමලාමෙසොඃ - නෙල්ලි, සපටොලෙඃ - දුම්මැල්ල සහිත ද්‍රව්‍යවලින්, ඉදං ශීතකෂායං - මේ සීත කෂාය, බලු - වනාහි, බාලක - ළදරුවා ගේ, පිත්තකඵජ්වරහන්තා - පිත් සෙම් උණ නැසීමට දක්ෂත් - දෙන්නේ ය.

කොත්තමල්ලි, සුදුහඳුන්, නෙළුම් රේණු, කලාඳුරු අල, කෙළිඳහාල්, නෙල්ලි, දුම්මැල්ල යන ද්‍රව්‍යවලින් සැදූ සීත කෂාය ළදරුවන් ගේ පිත්සෙම්උණ නැසීමට දෙන්නේ ය.

## රත්පිත් ආදිය සහිත සියලු දෙසට

36. සාරග්වධඃ සාතිවිෂඃ සමුස්තඃ
    තිකතා කෂායො ජ්වරමාශුහන්‍යාත්
    සාමං සශූලං සවමිං සදහං
    සකාමලං හනති සරකතපිත්තම්

ආරග්වධඃ - ඇසල පොතු, අතිවිෂඃ - අතිවිඩයම්, මුස්තඃ - කලාඳුරු අල, තිකතා - කටුකරෝසන සහිත, කෂායඃ - කසාය ජ්වරං - උණ, ආශු - වහා, හන්‍යාත් - නසන්නේ ය. ආමං - ආමය, ශූලං - ඉදිකටුවෙන් අනින්නාක් මෙන් වේදනා, වමිං - වමනය, දහං - දැවිල්ල, කාමලං - සෙංගමාලය, සරකත පිත්තම් - රත්පිත් සහිත වූයේ, හනති - නසයි.

ඇසල පොතු, අතිවිඩයම්, කලාඳුරු අල, කටුකරෝසන කසාය උණ වහා නසයි. ආමය, ඉදිකටුවෙන් අනින්නාක් බඳු වේදනාව වමනය, දැවිල්ල, සෙංගමාලය, රත්පිත් ආදිය සහිත සියලු දෙස් නසයි.

ISBN 978-1-78280-808-4

## ළදරුවන් ගේ සීත උණට

37. වාසා ව්‍යාධි කණාලෙහඃ ශීතජ්වරවිනාශනඃ
තද්වත් සක්‍ෂුද්‍රාමෘතානන්තා තික්තාභූනිම්බසාධිතඃ

වාසා - ආඩතෝඩා මුල්, ව්‍යාධි - සුවඳ කොට්ටං, කණා - තිප්පිලි, ලෙහඃ - ලේහය, ශීතජ්වර - සීත උණ, විනාශනඃ - නසයි. සක්‍ෂුද්‍රා - කටුවැල්බටු, අමෘතා රසකිඳ, අනන්තා - වැල් කහඹිලිය, තික්තා - කටුකරෝසන, භූනිම්බසාධිතඃ - බිං කොහොඹවලින් සෑදූ ලේහය ද, තද්වත් - එසේ මැ යි.

ආඩතෝඩා මුල්, සුවඳ කොට්ටං, තිප්පිලි යන ද්‍රව්‍ය ලේහය සීත උණ නසයි. ඒ අයුරෙන් ම කටුවැල්බටු, රසකිඳ, වැල් කහඹිලිය, කටුකරෝසන, බිං කොහොඹවලින් සෑදූ ලේහය ද හොඳ ය.

## ළදරුවන් ගේ ඒකාහික උණට

38. කටුකීර්විහිතඃ ක්වාථඃ කණාචූර්ණසමන්විතඃ
ඒකාහිකජ්වරං හන්ති කාසශ්වාසාදිදූෂිතම්

කටුකීර්විහිතඃ - කටුකරෝසනයෙන් කළ, ක්වාථඃ - කසාය, කණා චූර්ණ සමන්විතඃ - තිප්පිලි සුණු යුක්ත වූයේ, කාස - කැස්ස, ශ්වාසාදි - ඇදුම ආදියෙන්, දූෂිතම් - දූෂණය වූ, ඒකාහිකං ජ්වරං - ඒකාහික උණ, හන්ති - නසයි.

කටුකරෝසන කසාය, තිප්පිලි සුණු සමග යෙදීමෙන් කැස්ස, ඇදුම ආදියෙන් දූෂිත ඒකාහික උණ නසයි.

ISBN 978-1-78280-808-4

ඡට ම

39. ද්‍රාක්‍ෂාපටොලත්‍රිඵලා - පිචුමන්දවෘෂෛඃ කෘතාඃ
ක්වාථ ඵකාහිකං හන්ති - පරාජීම්ව දුර්ජනාඃ

ද්‍රාක්‍ෂා - මුද්දරප්පලම්, පටොල - දුම්මැල්ල, ත්‍රිඵලා - අරළු බුළු නෙල්ලි, පිචුමන්ද - කොහොඹ පොතු, වෘෂෛඃ - ආඩතෝඩා වලින්, කෘතාඃ - කරන ලද, ක්වාථ - කෂාය, ඵකාහිකං - ඒකාහික උණ, හන්ති - නසන්නේ ය. දුර්ජනාඃ - දුදනා, පරාජීම් ඉව - අන්‍යයන් ගේ යහපත නසන්නාක් මෙනි.

මුද්දරප්පලම්, දුම්මැල්ල, අරළු බුළු නෙල්ලි, කොහොඹ පොතු, ආඩතෝඩා වලින් කරන ලද, කෂාය, ඵකාහික උණ නසයි. දුදනන් අනුන් ගේ යහපත නසන්නාක් මෙනි.

## ළදරුවන් ගේ වා සෙම් උණට චාතුර්භද්‍රකය

40. කිරාතතික්තකං මුස්තා - ගුඩුචී විශ්වභෙෂජම්
චාතුර්භද්‍රකමිත්‍යාහුඃ - වාතශ්ලෙෂ්මජ්වරාපහම්

කිරාතතික්තකං - කිරාත, මුස්තා - කලාදුරු අල, ගුඩුචී - රසකිඳ, විශ්වභෙෂජම් - වියලි ඉඟුරු, චාතුර්භද්‍රකං ඉති ආහුඃ - චාතුර්භද්‍රක යැ යි ව්‍යවහාර කරයි. වාතශ්ලෙෂ්ම - වා සෙම්, ජ්වරාපහම් - උණ දුරුකරයි.

කිරාත, කලාදුරු අල, රසකිඳ, වියලි ඉඟුරු යන මේවා චාතුර්භද්‍රක නමින් ව්‍යවහාර කරයි. වා සෙම්, උණ දුරුකරයි.

ISBN 978-1-78280-808-4
9 781782 808084

## ළදරුවන් ගේ සෙම් උණට

41. මුද්ගතණ්ඩුලසංසිද්ධං - කෙවලෛර්වා මකුෂ්ටකෛඃ
    පථ්‍යමත්‍ර ඉදං දද්‍යාද්දුඃඛං වාතකඵජ්වරම්

මුද්ග - මුං ඇට, තණ්ඩුල - සහල්, සංසිද්ධං - (යන දෙකෙන්) සිදුකරන ලද හෝ, කෙවලෛඃ වා - තනිකර හෝ, මකුෂ්ටකෛඃ - මකුෂ්ටකවලින් හෝ තම්බා ගත් යුෂ, ඉදං - මේවා, අත්‍ර - මෙහි, පථ්‍යං - පථ්‍යයක් ලෙස, දුඃඛං කඵජ්වරම් - දුක්දෙන සෙම් උණෙහි, දද්‍යාත් - දෙන්නේ ය.

මුං ඇට, සහල් යන දෙකෙන් සිදුකරන ලද තනිකර හෝ මකුෂ්ටක තම්බා ගත් යුෂ මෙහි පථ්‍යයක් ලෙස දුක්දෙන සෙම් උණෙහි දෙන්නේ ය. (මකුෂ්ටක බෝංචි ඇට වෙසෙසකි. PHASEZLUS ACONITTFOLIUS - Tapery Beans/Kidney Beans)

## ළදරුවන් ගේ සන්නිපාත උණට

42. දශමූලීයුතඃ ක්වාථඃ - පිප්පලීචූර්ණසංයුතඃ
    සංමොහතන්ද්‍රා සමයෙ - සන්නිපාතජ්වරං හරෙත්

දශමූලී යුතඃ - දසමුල් යුත්, ක්වාථඃ - කෂාය, පිප්පලී චූර්ණ සංයුතඃ - තිප්පිලි සුණු සමග වූයේ, සංමොහතන්ද්‍රා සමයෙ - මුලාව නොමැරිය පවතින විට, සන්නිපාතජ්වරං - සන්නිපාත උණ, හරෙත් - නසන්නේ ය.

දසමුල් කෂාය, තිප්පිලි කුඩු දමා බීමෙන් මුලාව නොමැරිය සහිත සන්නිපාත උණ නසන්නේ ය.

## ළදරුවන් ගේ පිතට පිපාසයට දහයට සහ උණට

43. මුසතකං චන්දනං වාසා - හ්‍රීවෙරං යෂ්ටිකාමෘතා
    එෂාං ක්වාථඃ තු පිත්තඝ්නඃ - තෘෂ්ණාදාහජ්වරාපහඃ

මුසතකං - කලාඳුරු අල, චන්දනං - සුදුහඳුන්, වාසා - ආඩතෝඩා මුල්, හ්‍රීවෙරං - ඉරිවේරිය, යෂ්ටික - වැල්මී, අමෘතා - රසකිඳ, එෂාං - මෙයින් සෑදූ, ක්වාථඃ තු - කසාය වනාහි, පිත්තඝ්නඃ - පිත නසයි. තෘෂ්ණා - පිපාසය, දහ - දැවිල්ල, ජ්වරාපහඃ - උණ නැති කරයි.

කලාඳුරු අල, සුදුහඳුන්, ආඩතෝඩා මුල්, ඉරිවේරිය, වැල්මී, රසකිඳ යන මේවායින් සෑදූ කසාය පිත නසයි. පිපාසය, දැවිල්ල, උණ, නසයි.

## ළදරුවන් ගේ වමනය ඇදුම කැස්ස සහ පිත්උණට

44. වාසා පර්පටකොශීර - නිම්බභූනිම්බසාධිතඃ
    ක්වාථො හන්ති වමිශ්වාස - කාසපිත්තජ්වරාඃ ශිශොඃ

වාසා - ආඩතෝඩා, පර්පටක - පැපිලිය, උශීර - සැවැන්දරා, නිම්බ - කොහොඹ පොතු, භූනිම්බ - බිංකොහොඹ, සාධිතඃ - සාදන ලද, ක්වාථො - කසාය, ශිශොඃ - දරුවා ගේ, වමි - වමනය, ශ්වාස - ඇදුම, කාස - කැස්ස, පිත්තජ්වරාඃ - පිත් උණ, හන්ති - නසයි.

ආඩතෝඩා මුල්, පත්පාඩගම්, සැවැන්දරා, කොහොඹ පොතු, බිංකොහොඹ සමග සාදන ලද කසාය දරුවා ගේ වමනය, ඇදුම, කැස්ස, පිත් උණ නසයි.

ISBN 978-1-78280-808-4

## ළදරුවන් ගේ සියලු සෙම් උණට

45. අභයාමලකී කෘෂ්ණා - චිත්‍රකො'යං ගණො මතඃ
දීපනඃ පාචනො භේදී - සර්වශ්ලෙෂ්මජ්වරාපහඃ

අභයා - අරළු, ආමලකී - නෙල්ලි, කෘෂ්ණා - තිප්පිලි, චිත්‍රකඃ - ශුද්ධ රත්නිටුල්, අයං ගණඃ - මේ සමූහය, දීපනඃ - ගින්න වඩා යැයි, මතඃ - දත යුතුය. පාචනඃ - ආහාර පැසීම සිදුකරයි මල බිඳියි. සර්ව ශ්ලෙෂ්මජ්වරාපහඃ - සියලු සෙම් උණ දුරලයි.

අරළු, නෙල්ලි, තිප්පිලි, ශුද්ධ රත්නිටුල්, ගණය ගින්න වඩා යැ යි දත යුතුය. ආහාර පැසීම සිදුකරයි. මල බිඳියි. සියලු සෙම් උණ දුරලයි.

## ළදරුවන් ගේ උණ ඇදුම කැස්ස සහ මන්දග්නියට

46. කටඵලං පුෂ්කරං ශෘඞගී - පිප්පලී මධුනා සහ
ඵෂාං ලෙහො ජ්වරං ශ්වාසං - කාසං මන්දනලං ජයෙත්

කටඵලං - කට්ඵල, පුෂ්කරං - සුවඳ කොට්ටං, ශෘඞගී - කර්කටකශෘංගී, පිප්පලී - තිප්පිලි, මධුනා සහ - මීපැණි සමඟ ලෙහඃ - ලේහ කිරීමෙන්, ජ්වරං - උණ, ශ්වාසං - ඇදුම, කාසං ච - කැස්ස ද, මන්දනලං - මඳගින්න, ජයෙත් - දිනයි.

කට්ඵල, සුවඳ කොට්ටං, කර්කටකශෘංගී, තිප්පිලි, මීපැණි සමග ලේහ කිරීමෙන් උණ, ඇදුම, කැස්ස, මන්දග්නිය නැති කරයි.

ISBN 978-1-78280-808-4

ළදරුවන් ගේ පුෂ්ටිමත් භාවයට වා පිත් උණට, දැවිල්ලට, පිපාසයට, සිහිමුලාවට, අරුචියට, කැරකැවිල්ලට සහ රත්පිතට

47. මධුකං ශාරිබාද්‍රාක්‍ෂා - මධූකං චන්දනොත්පලම්
කාශ්මරී පද්මකං ලොධ්‍රං - ත්‍රිඵලා පද්මකෙසරම්

පරූෂකං මෘණාලං ච - සෙව්‍යං තු තපතවාරිණා
මධුජාත සිතායුක්තං - තත් පීතං පුෂ්ටිදං නිශි

වාතපිත්තං ජ්වරං දහ - තෘෂ්ණා මූර්ඡා'රුචිභ්‍රමාන්
ශමයෙත් රක්තපිත්තං ච - ජීමූතමිවමාරුතඃ

මධුකං - වැල්මී, ශාරිබා - ඉරමුසු මුල්, ද්‍රාක්‍ෂා - මුද්දරප්පලම්, මධූකං - මීපුප්(මල්), චන්දනං - සුදුහඳුන්, උත්පලං - මානෙල් අල, කාශ්මරි - ඇත්දෙමට මුල්, පද්මකං - නෙළුම් අල, ලොධ්‍රං - ලොත්සුඹුළු, ත්‍රිඵලා - තිපල්, පද්මකෙසරම් - නෙළුම්මල් රේණු, පරූෂකං - උගුරැස්ස ගෙඩි, මෘණාලං ච - නෙළුම්දඬු ද, තපතවාරිණා - උණුවතුරෙන්, මධුජාත - මීපැණි, සිතායුක්තං - සීනි සහිත, නිශි - රාත්‍රියෙහි, සෙව්‍යං තු - සේවනය කරන්නේ හෝ, තත්පීතං - ඒ කසාය කර බොන්නේ, පුෂ්ටිදං - පුෂ්ටිමත් වෙයි. වාත පිත්තං ජ්වරං - වා පිත් උණ, දහ - දැවිල්ල, තෘෂ්ණා - පිපාසය, මූර්ඡා - සිහිමුලාව, අරුචිඃ - අරුචිය, භ්‍රමාන් - කැරකැවිල්ල, රක්තපිත්තං ච - රත්පිත ද, මාරුතඃ - වාතය, ජීමූතම් ඉව - වළාකුළු (නසන්නාක්) මෙන්, ශමයෙත් - සමනය කරන්නේ ය.

ISBN 978-1-78280-808-4
9 781782 808084

වැල්මී, ඉරමුසු මුල්, මුද්දරප්පලම්, මීපුප්, සුදුහඳුන්, මානෙල් අල, ඇත්දෙමට මුල්, නෙළුම් අල, ලොත්සුඹුළු, අරළු, බුළු, නෙල්ලි, නෙළුම්මල් රේණු, උගුරැස්ස ගෙඩි, නෙළුම්දඬු, උණුවතුරෙන් මීපැණි, සීනි සහිතව රාත්‍රි කාලයෙහි සේවනය කිරීමෙන් හෝ කසාය කර බීමෙන් පුෂ්ටිමත් වෙයි. වාතය වලාකුළු නසන්නේ යම් සේ ද මේ ඖෂධය වා පිත් උණ, දැවිල්ල, පිපාසය, සිහිමුලාව, අරුචිය, කැරැකැවිල්ල සහ රත්පිත ද එලෙස ම සමනය කරන්නේ ය.

---

ISBN 978-1-78280-808-4

# 6

## අතීසාර චිකිත්සා

### අතීසාරයට අවලේහයක්

48. බිලවං ච පුෂපාණී ච ධාතකීනාම්
ජලං ස ලොධ්‍රං ගජපිපපලී ච
කවාථෝ'වලෙහෞ මධුනා විමිශ්‍රෞ
බාලෙෂු යොජ්‍යඃ අතිසාරිතෙෂු

බිල්වං ච පුෂපාණී - බෙලි ගැට මද, ධාතකී - මලිත මල්, ජලං - ඉරිවේරිය, ලොධ්‍රං ච - ලොත් සුඹුළු ද, ගජපිපපලී - ගජතිප්පිලි, කවාථඃ එව - කෂාය හෝ, අවලෙහඃ - අවලේහය හෝ, මධුනා - මීපැණියෙන්, විමිශ්‍රඃ - මනාව මිශ්‍රකරනුයේ, බාලෙෂු අතිසාරිතෙෂු - ළදරුවන් ගේ අතීසාරයට, යොජ්‍යඃ - යෙදිය යුතුය.

බෙලි ගැට මද, මලිත මල්, ඉරිවේරිය, ලොත් සුඹුළු, ගජතිප්පිලි කෂාය හෝ මීපැණි මිශ්‍රකර අවලේහය කිරීමෙන් ළදරුවන් ගේ අතීසාරයට යෙදිය යුතුය.

ISBN 978-1-78280-808-4

## අතීසාරයට කශායක්

49. කාකොලී ගජකෘෂණා ච – ලොධ්‍රමෙෂාං සමාංශතඃ
    කවාථො මධවන්විතඃ පීතො – බාලාතීසාර හෘනමතඃ

කාකොලී – කාවෙලු, ගජකෘෂණා – ගජතිප්පිලි, ලොධ්‍රං – ලොත්සුඹුළු, එෂාං සමාං ශතඃ – මේවා සමව ගෙන – කවාථඃ – කෂාය, මධු අන්විතඃ – මීපැණි සමග, පීතඃ – බොන්නේ, බාලාතීසාර – බාල අතීසාරය, හෘත් – නසන්නේ යැයි, මතඃ – දතයුතුය.

කාවෙලු, ගජතිප්පිලි, ලොත්සුඹුළු මේවා සමව ගෙන කෂාය කර මීපැණි දමා පානය කිරීමෙන් බාලයින් ගේ අතීසාරය නසන්නේ යැයි දතයුතු ය.

## අතීසාරයට චූර්ණයක්

50. එලින්‍යඤ්ජන මුස්තානාං – චූර්ණං පීතං සමාක්ෂිකම්
    තෘෂ්ණා ඡර්දිමතීසාරං – බාලානාං සත්‍යවතො හරෙත්

එලිනි – පුවඟු, අඤ්ජන – රසාංජන, මුස්තානාං – කළාදුරුඅල, චූර්ණං – සුණු, සමාක්ෂිකම් – මීපැණි සහිතව, පීතං – බොන්නේ, බාලානාං – ළදරුවන් ගේ, තෘෂ්ණා – පිපාස, ඡර්දිං – වමනය, අතීසාරං – අතීසාරය, සත්‍යවතඃ – සත්‍යවශයෙන් ම, හරෙත් – දුරලන්නේ ය.

පුවඟු, රසාංජන(රසඳුන්), කළාදුරුඅල සුණුකර මීපැණි සහිතව පානය කිරීමෙන් ළදරුවන් ගේ පිපාසය, වමනය, අතීසාරය සත්‍යවශයෙන් ම දුරලන්නේ ය.

ISBN 978-1-78280-808-4

## ඊට ම තවත් චූර්ණයක්

51. ලාජාඃ සෛන්ධවමාම්‍රාස්ථි - චූර්ණමෙෂාං සමාංශතඃ
 හන්ති ඡර්දිමතීසාරං - මධුනා සහ භක්ෂිතම්

ලාජාඃ - විළඳවැන්න, සෛන්ධවං - සවිඳලුණු, ආම්‍රාස්ථි - අඹ ඇට මද, චූර්ණං - සුණු, එසාං සමාංශතඃ - මේවා සමසේ ගෙන, මධුනා සහ - මීපැණි සමග, භක්ෂිතම් - අනුභව කරන්නේ, ඡර්දිං - වමනය, අතීසාරං - අතීසාරය, හන්ති - නසයි.

විළඳවැන්න, සවිඳලුණු, අඹ ඇට මද, චූර්ණ කර මේවා සමව ගෙන මීපැණි සමග අනුභව කිරීමෙන් වමනය, අතීසාරය, නසයි.

## වමනයට, අතීසාරයට චූර්ණයක්

52. ශ්‍යාමා රසාඤ්ජනං චූතඵලාස්ථි සමචූර්ණිතම්
 හන්ති ඡර්දිමතීසාරං - බාලානාං මධුනා සිතම්

ශ්‍යාමා - ඉරමුසු, රසාඤ්ජනං - රසාංජන, චූතඵලාස්ථි - අඹ ඇට මද, සමචූර්ණිතම් - සමව චූර්ණ කර, මධුනා සිතම් - මීපැණි හා සීනි සමග දීමෙන්, බාලානාං - ළමයින් ගේ, ඡර්දිං - වමනය, අතීසාරං - අතීසාරය, හන්ති - නසයි.

ඉරමුසු, රසසඳුන්, අඹ ඇට මද සමවගෙන චූර්ණකර මීපැණි හා සීනි සමග දීමෙන් ළමුන් ගේ වමනය අතීසාරය නැති කරයි.

ISBN 978-1-78280-808-4
9 781782 808084

## උණ අතීසාරයට ලේහයක්

53. ධාතකී බිල්ව ධාන්‍යාක - ලොධ්‍රේන්ද්‍රයව බාලකෛඃ
ලෙහඃ ක්‍ෂෞද්‍රේණ බාලානාං - ජ්වරාතීසාරකං ජයෙත්

ධාතකී - මලිත මල්, බිල්ව - බෙලිගැට මද, ධාන්‍යාක - කොත්තමල්ලි, ලොධ්‍ර - ලොත්සුඹුළු, ඉන්ද්‍රයව - කෙළිඳ සහල්, ක්‍ෂෞද්‍රේණ - මීපැණියෙන්, ලෙහඃ - ලේහ කරන්නේ, බාලානාං - ළමයින් ගේ, ජ්වර - උණ, අතිසාරකං - අතීසාරය, ජයෙත් - දිනන්නේ ය.

මලිත මල්, බෙලිගැට මද, කොත්තමල්ලි, ලොත්සුඹුළු, කෙළිඳ සහල්, මීපැණියෙන් ලේහ කිරීමෙන් ළමුන් ගේ උණ, අතීසාරය, දිනන්නේ ය.

## අතීසාරයට තවත් ඖෂධයක්

54. ලොධ්‍රේණ පිප්පලී බාලො - බාලකාතිසෘතෞ හිතඃ
ශ්‍රීරසො මාක්‍ෂිකයුතො - ධාතකීකුසුමෛඃ සමඃ

පිප්පලී - තිප්පිලි, බාලඃ - ඉරිවේරිය, ලොධ්‍රේණ - ලොත්-සුඹුළින් කළ කෂාය, ශ්‍රීරසො - බෙලිගැට මද, ධාතකී කුසුමෛඃ - මලිත මල්, සමඃ - සමව ගෙන චූර්ණය කර දමා, මාක්‍ෂිකයුතඃ - මීපැණි සහිත වූයේ, බාලකාතිසෘතෞ - ළදරු අතීසාරයෙහි, හිතඃ - හිතයි.

තිප්පිලි, ඉරිවේරිය, ලොත් සුඹුළුවලින් කළ කෂාය, බෙලිගැට මද, මලිත මල් සමව ගෙන චූර්ණ කර දමා, මීපැණි සහිතව දීමෙන් ළදරු අතීසාරයට හිතයි.

ISBN 978-1-78280-808-4

## ආම අතීසාරයට ලේහයක්

55. විඩඞගාන්‍යජමොද ච - පිප්පලී චූර්ණකානි ච
එෂාමාලීහ්‍ය චූර්ණානි - සුඛං තපෙතන වාරිණා
ආමෙ ප්‍රවෘතෙත’තීසාරෙ - කුමාරං පායයෙත් භිෂක්

විඩඞගානි - වළඟසහල්, අජමොද ච - අසමෝදගම් ද, පිප්පලී - තිප්පිලි යන සුණු ද, එෂාං චූර්ණානි - මේ සුණු, සුඛං - සුවසේ, තපෙතන වාරිණා - උණුසුම් ජලයෙන්, ආලීහ්‍ය - ලේහ කරන්නේ, භිෂක් - වෙදැදුරු, ආමෙ ප්‍රවෘතෙත අතීසාරෙ - ආම අතීසාරයෙහි දී, කුමාරං - කුමරුවාට, පායයෙත් - පොවන්නේ ය.

වළඟසහල්, අසමෝදගම්, තිප්පිලි චූර්ණ කර සුවසේ මද උණුසුම් ජලයෙන් ලේහ කිරීම ආම අතීසාරයට යෝග්‍යයි.

## ලේ අතීසාරයට පේයාවක්

56. මොචරසං සමඞගා ච - ධාතකී පද්මකෙශරම්
පිෂ්ටෛරෙතෛර්‍යවාගූඃ - ස්‍යාද්‍රකතාතීසාරනාශිනී

මොචරසං - එළ ඉඹුල් මැලියම්, සමඞගා - වැල්මදට, ධාතකී - මලිත මල්, පද්මකෙශරම් - නෙළුම් මල් රේණු, එතෛඃ පිෂ්ටෛඃ - මේවා සුණු කර, යවාගූඃ ස්‍යාත් - පේයාවක් සද දීමෙන්, රකතාතීසාර - රක්තාතීසාරය, නාශිනී - නසයි.

එළ ඉඹුල් මැලියම්, වැල්මදට, මලිත මල්, නෙළුම් මල් රේණු, මේවා සුණු කර පේයාව සද දීමෙන් රක්තාතීසාරය නසයි.

ISBN 978-1-78280-808-4

## සියලු අතීසාරයට

57. නාගරාතිවිෂාමුස්තා - බාලකෙන්ද්‍රයවෛඃ කෘතම්
කුමාරං පායයෙත් ප්‍රාතඃ - සර්වාතීසාරනාශනම්

නාගර - වියලි ඉඟුරු, අතිවිෂා - අතිවිඩයම්, මුස්තා - කලාඳුරු අල, බාලක - ඉරිවේරිය, ඉන්ද්‍රයවෛඃ - කෙළිඳ හාල්වලින් කෘතම් - සාදන ලද කෂාය, සර්වාතීසාර - සියලු අතීසාරය, නාශනම් - නැසීමට, කුමාරං - කුමරුවන්ට, පායයෙත් - පොවන්නේ ය.

වියලි ඉඟුරු, අතිවිඩයම්, කලාඳුරු අල, ඉරිවේරිය, කෙළිඳ හාල්වලින් සාදන ලද කෂාය, සියලු අතීසාරයට දෙන්නේ ය.

## උණ අතීසාරයට ලේහයක්

58. ලොධ්‍රේන්ද්‍රයව ධාන්‍යාක - ධාත්‍රී හ්‍රීබේර මුස්තකම්
මධුනා ලෙහයෙත් බාලං - ජ්වරාතීසාරනාශනම්

ලොධ්‍ර - ලොත්සුඹුළු, ඉන්ද්‍රයව - කෙළිඳහාල්, ධාන්‍යාක - කොත්තමල්ලි, ධාත්‍රී - නෙල්ලි, හ්‍රීබේර - ඉරිවේරිය, මුස්තකම් - කලාඳුරුඅල චූර්ණය, ජ්වරාතීසාර - ජ්වරාතීසාරයේ දී, බාලං - දරුවාට, මධුනා - මීපැණියෙන්, ලෙහයෙත් - ලේහ කරන්නේ ය.

ලොත්සුඹුළු, කෙළිඳහාල්, කොත්තමල්ලි, නෙල්ලි, ඉරිවේරිය, කලාඳුරුඅල චූර්ණය උණ අතීසාරයේ දී දරුවාට මීපැණියෙන් ලේහ කරන්නේ ය.

ISBN 978-1-78280-808-4

ග්‍රහණිය, වාතරෝග, සෙංගමාලය සහිත උණ අතීසාරය, පාණ්ඩුව ආදි සියලු රෝග නසා බඩගිනි වැඩීමට ලේහයක්

59. රජනී සරලො දරුඃ බෘහතී ගජපිප්පලී
පෘෂ්ණපර්ණී ශතාහ්වා ච ලීඪා මාක්ෂිකසර්පිෂා
දීපනං ග්‍රහණිං හන්ති මාරුතාර්තිං සකාමලම්
ජ්වරාතීසාරං පාණ්ඩුත්වං බාලානාං සර්වරෝගනුත්

රජනී - අමුකහ, සරලඃ - හොර අරටු, දරු - දේවදර, බෘහතී - එළබටුමුල්, ගජපිප්පලී - ගජතිප්පිලි, පෘෂ්ණපර්ණී - පුස්වැන්න, ශතාහ්වා ච - හාතාවාරිය අල ද, මාක්ෂිකසර්පිෂා - මීපැණි ගිතෙලින්, ලීඪා - ලේහකාරන්නේ, දීපනං - බඩගිනි වෙයි. ග්‍රහණිං - ග්‍රහණිය, මාරුතාර්තිං - වාතරෝග, සකාමලම් - සෙංගමාලය සහිත, ජ්වරාතීසාරං - ජ්වරාතීසාරය, පාණ්ඩුත්වං - පාණ්ඩුව, බාලානාං - දරුවන් ගේ, සර්වරෝගනුත් - සියලු රෝග නසන්නේ ය.

අමුකහ, හොර අරටු, දේවදර, එළබටුමුල්, ගජතිප්පිලි, පුස්වැන්න, හාතාවාරිය අල චූර්ණය මීපැණි, ගිතෙලින් ලේහ කිරීමෙන් බඩගිනි වඩයි. ග්‍රහණිය, වාතරෝග, සෙංගමාලය උණ, අතීසාරය, පාණ්ඩුව ආදි දරුවන් ගේ සියලු ම රෝග නසන්නේ ය.

ISBN 978-1-78280-808-4
9 781782 808084

# 7

## ග්‍රහණි චිකිත්සා

### ළදරුවන් ගේ ග්‍රහණියට චූර්ණයක්

61. යවානි ජීරකං ව්‍යොෂං - කුටජං විශ්වභෙෂජම්
 එතන්මධුයුතං පීතං - බාලානාං ග්‍රහණීං ජයෙත්

යවානි - අසමෝදගම්, ජීරකං - සූදුරු, ව්‍යොෂං - තිකුළු(වියලි ඉඟුරු, ගම්මිරිස්, තිප්පිලි), කුටජං - කෙළිඳහාල්, විශ්වභෙෂජම් - වියලි ඉඟුරු, එතං - මේ ද්‍රව්‍ය චූර්ණය, මධුයුතං - මීපැණි සමග, පීතං - බොන්නේ, බාලානාං - දරුවන් ගේ, ග්‍රහණීං - ග්‍රහණිය, ජයෙත් - දිනන්නේ ය.

අසමෝදගම්, සූදුරු, වියලි ඉඟුරු, ගම්මිරිස්, තිප්පිලි, කෙළිඳහාල් චූර්ණය මීපැණියෙන් බීමෙන් දරුවන් ගේ ග්‍රහණිය සුව වේ.

ISBN 978-1-78280-808-4

## ළදරුවන් ගේ ග්‍රහණී රුජාවට චූර්ණයක්

62. පිප්පලී විජයා ශුණ්ඨී - චූර්ණං මධුයුතං භිෂක්
දත්වා නිහන්‍යා ග්‍රහණී - රුජාං නියතමාපනුයාත්

භිෂක් - වෛද්‍ය තෙමෙ, පිප්පලී - තිප්පිලි, විජයා - අරළු, ශුණ්ඨී - වියලි ඉඟුරු යන, චූර්ණං - සුණු, මධුයුතං - මීපැණි සමඟ, දත්වා - දී, ග්‍රහණී රුජාං - ග්‍රහණී රුදව, නිහන්‍ය නියතම් ආපනුයාත් - නියත වශයෙන් නසන්නේ ය.

වෙදැදුරු තුමා තිප්පිලි, අරළු, වියලි ඉඟුරු යන මේවායේ සුණු මීපැණි සමඟ දීමෙන් ළදරුවන් ගේ ග්‍රහණී රුදව නියත වශයෙන් සුව කරන්නේ ය.

## ග්‍රහණියට ලේහයක්

63. කෘෂ්ණා මහෞෂධං බිල්වං - නාගරඃ ස යවානිකඃ
මධුසර්පිඃ යුතඃ ලීඪං බාලානාං ග්‍රහණීං හරෙත්

කෘෂ්ණා - තිප්පිලි, මහෞෂධං - වියලි ඉඟුරු, බිල්වං - බෙලි, ස යවානිකඃ - අසමෝදගම් සහිත, නාගරඃ - ඉඟුරු යුෂ, මධුසර්පිඃ - මීපැණි ගිතෙල්, යුතඃ - සමග, ලීඪං - ලේහ කරන්නේ, බාලානාං - දරුවන් ගේ, ග්‍රහණීං - ග්‍රහණිය, හරෙත් - දුරලන්නේ ය.

තිප්පිලි, වියලි ඉඟුරු, බෙලි, අසමෝදගම් යන මේවා ඉඟුරු යුෂ, මීපැණි, ගිතෙල් සමඟ ලේහ කිරීමෙන් දරුවන් ගේ ග්‍රහණිය නසන්නේ ය.

ISBN 978-1-78280-808-4
9 781782 808084

## සෙමෙන් හටගත් ග්‍රහණියට චූර්ණියක්

64. නාගරං මුසතකං බිල්වං - චිත්‍රකං ග්‍රන්ථිකං ශිවාම්
චූර්ණමෙතනමධුයුතං - කඵජාං ග්‍රහණීං ජයෙත්

නාගරං - වියලි ඉඟුරු, මුසතකං - කලාඳුරු අල, බිල්වං - බෙලි, චිත්‍රකං - ශුද්ධ රත්නිටුල්, ග්‍රන්ථිකං - තිප්පිලිමුල්, ශිවාම් අරළු, එතත් චූර්ණං - මේ සුණු, මධුයුතං - මීපැණි සමඟ දීමෙන්, කඵජාං - සෙමෙන් හටගත්, ග්‍රහණීං - ග්‍රහණිය, ජයෙත් - සුවකරන්නේ ය.

වියලි ඉඟුරු, කලාඳුරු අල, බෙලි මුල්, ශුද්ධ රත්නිටුල්, තිප්පිලිමුල්, අරළු යන මේවායේ චූර්ණය මීපැණි සමඟ දීමෙන් සෙමෙන් හටගත් ග්‍රහණිය සුවකරන්නේ ය.

## තුන් දෙසින් හටගත් ග්‍රහණියට චූර්ණියක්

65. සගුඩං නාගරං බිල්වං යඃ ඛාදති හිතාශනඃ
ත්‍රිදෝෂග්‍රහණී රොගාන්මුච්‍යතෙ නාත්‍ර සංශයඃ

නාගරං - වියලි ඉඟුරු, බිල්වං - බෙලි සුණු, සගුඩං - උක්හකුරු සමග, යඃ - යමෙකු, ඛාදති - අනුභව කරයි ද, හිතාශනඃ - පථ්‍ය ආහාර ගනී ද, ත්‍රිදෝෂ ග්‍රහණී - තුන්දෙසින් හටගන්නා වූ ග්‍රහණි, රොගාත් - රෝගයෙන්, මුච්‍යතෙ - මිදෙයි. අත්‍ර - මෙහි, සංශයඃ - සැකයක්, න - නැත.

වියලි ඉඟුරු, බෙලි මුල් චූර්ණය උක්හකුරු සමග යමෙකු ගනී ද පථ්‍ය ආහාර ගනී ද ත්‍රිදෝෂ ග්‍රහණිය සුවවෙයි. මෙහි සැක නැත.

ISBN 978-1-78280-808-4

## රක්තාතීසාරය, කැස්ස, ඇදුම සහ වමනයට

60. හ්‍රීවෙර ශර්කරාක්ෂෞද්‍රං - පීතං තණ්ඩුලවාරිණා
ශිශෝරක්තාතිසාරඝ්නං - කාසශ්වාස වමිං හරෙත්

හ්‍රීවෙර - ඉරිවේරිය සුණු, ශර්කරා - සීනි, ක්ෂෞද්‍රං - මීපැණි සමග, තණ්ඩුලවාරිණා - සහල් දෙවුන් දියෙන්, පීතං - බොන ලද්දේ, ශිශෝඃ - දරුවන් ගේ, රක්තාතිසාරඝ්නං - රක්ත අතීසාරය නැසීම, කාසශ්වාස - කැස්ස හතිය, වමිං - වමනය, හරෙත් - දුරලන්නේ ය.

ඉරිවේරිය සුණු, සීනි, මීපැණි සමග සහල් දෙවුන් දියෙන්, පානය කිරීමෙන් දරුවන් ගේ රක්තාතීසාරය, කැස්ස, ඇදුම, වමනය දුරලන්නේ ය.

ISBN 978-1-78280-808-4

## තුන් දෙසින් හටගත් ග්‍රහණියට තවත් චූර්ණයක්

66. මුස්තකාතිවිෂා බිල්වං චූර්ණිතං කෞටජං තථා
ක්ෂෞද්‍රේණ ලීඪං ග්‍රහණිං - සර්වදෝෂෝද්භවං ජයෙත්

මුස්තක - කලාඳුරු අල, අතිවිෂා - අතිවිඩයම්, බිල්වං - බෙලි, තථා - එසේ ම, කෞටජං - කෙළිඳහාල් සුණු, ක්ෂෞද්‍රේණ - මීපැණියෙන්, ලීඪං - ලේහ කරන්නේ, සර්වදෝෂෝද්භවං - තුන්දෙසින් හටගත්, ග්‍රහණිං - ග්‍රහණිය, ජයෙත් - දිනන්නේය.

කලාඳුරු අල, අතිවිඩයම්, බෙලි මුල්, කෙළිඳහාල් චූර්ණය මීපැණියෙන් ලේහ කිරීමෙන් තුන්දෙසින් හටගත් ග්‍රහණිය නැති කරයි.

---

ISBN 978-1-78280-808-4
9 781782 808084
ශ්‍රී රාවණ වංශය ග්‍රන්ථ කේන්ද්‍රය

# 8

# අශීස් චිකිත්සා

## අශීස් ලේ නැවතීමට

67. යවානි නාගරං පාඨා - දඩිමං කුටජං තථා
    චූර්ණීයං ගුඩතක්‍රාභ්‍යාං - පීතෝශීසතාමහනං පරඃ

යවානි - අසමෝදගම්, නාගරං - වියලි ඉඟුරු, පාඨා - දියමිත්ත, දඩිමං - දෙළුම්, තථා - එසේ ම, කුටජං - කෙළිඳහාල්, අයං - යන මේවායේ, චූර්ණීඃ - සූණු, ගුඩතක්‍රාභ්‍යාං - උක්හකුරු මෝරු යන දෙකෙන්, පීතඃ - බොන්නේ, අශීඃ - අර්සස්, සතාමහනං - ලේ නැවතීමට, පරඃ - උතුම් ය.

අසමෝදගම්, වියලි ඉඟුරු, දියමිත්ත, දෙළුම්, කෙළිඳහාල්, යන මේවායේ චූර්ණීය උක්හකුරු මෝරු යන දෙකෙන් පානය කිරීම අර්ශස් ලේ නැවතීමට උතුම් ය.

ISBN 978-1-78280-808-4

## සියලු අර්ශස් හරණයට

68. අජාජී පෞෂ්කරං පාඨා - ත්‍රූෂණං දහනං ශිවා
ගුඩෙන ගුටිකා ග්‍රාහ්‍යං - සර්වාර්ශෝශොධනී යතඃ

අජාජී - සුදුදුරු, පෞෂ්කරං - සුවඳ කොට්ටං, පාඨා - දියමිත්ත, ත්‍රූෂණං - වියලි ඉඟුරු ගම්මිරිස් තිප්පිලි, රත්නෙටුල්, ශිවා - අරළු සුණු, ගුඩෙන - උක්හකුරෙන්, ගුටිකා ග්‍රාහ්‍යං - ගුලි කරගෙන, යතඃ - යම්සේ යෙදීමෙන්, සර්වාර්ශස් - සියලු අර්ශස්, ශොධනී - ඉවත්කරයි.

සුදුදුරු, සුවඳ කොට්ටං, දියමිත්ත, වියලි ඉඟුරු, ගම්මිරිස්, තිප්පිලි, ඉද්ධ රත්නෙටුල්, අරළු යන චූර්ණය උක්හකුරෙන් ගුලි සාද භාවිත කිරීමෙන් සියලු අර්ශස් ඉවත්කෙරෙයි.

## ලේ ගලන අර්ශසට

69. නවනීත තිලාභ්‍යාසාත් - කෙශරනවනීත ශර්කරාභ්‍යාසාත්
දධිසාරමථිතාභ්‍යාසාත් - ගුදජාඃ ශාම්‍යන්ති රක්තවහාඃ

නවනීත - වෙඬරු, තිලාභ්‍යාසාත් - තල සමග හෝ, කෙශරනවනීත - නෙළුම් මල් රේණු වෙඬරු, ශර්කරාභ්‍යාසාත් - සීනි සමඟ භාවිත කිරීමෙන්, දධිසාර - මෝරු, මථිතාභ්‍යාසාත් - කළතා බීමෙන්, රක්තවහාඃ - ලේ වහනය වන, ගුදජාඃ - අර්ශස්, ශාම්‍යන්ති - සමනය වෙයි.

වෙඬරු, තල සමග හෝ නෙළුම් මල් රේණු, වෙඬරු සමග හෝ සීනි සමඟ භාවිත කිරීමෙන්, මෝරු කළතා බීමෙන්, ලේ වහනය වන අර්ශස් සමනය වේ.

ISBN 978-1-78280-808-4

රක්තාශීසට, ශූලය හා ආමාජීර්ණයට, අශීසට

70. එවං වා කෞටජං බීජං - රකතාශීඃ මධුනා හරෙත්
තද්වත් මුසතා මොචරසඃ - කපිකච්ඡු භවො රජඃ

ධන්‍යනාගරජඃ ක්වාථඃ - ශූලාමාජීර්ණං නාශනඃ
චූර්ණිසතත්‍ර ශුභඃ පීතසතද්වත් ව්‍යොෂාගනි ජීරකෞඃ

එවං - මෙසේ, කෞටජං බීජං - කෙළිඳහාල් සුණු, මධුනා - මීපැණියෙන් ලේහ කිරීමෙන්, රකතාශීඃ - රක්තාශීස, හරෙත් - දුරලන්නේ ය. තද්වත් - එසේ ම, මුසතා - කලාඳුරු අල, මොචරසඃ - එළ ඉඹුල් මැලියම්, කපිකච්ඡු - වඳුරුමෑඇට, භවො රජඃ - සාදන ලද සුණු මීපැණියෙන් ලේහ කිරීම, වා - හෝ, ධන්‍ය - කොතඹුරු, නාගරජඃ - වියලි ඉඟුරෙන් සෑදූ - ක්වාථඃ - කෂාය, ශූල - ශූලය, අමාජීර්ණං - ආමාජීර්ණය, නාශනඃ - නසයි. ව්‍යොෂා - ඉඟුරු ගම්මිරිස් තිප්පිලි, අග්නි - ශුද්ධ රත්නෙටුල්, ජීරකෞඃ - සූදුරු, චූර්ණිඃ - සුණු, තත්‍ර - අශීස් රෝගයේ දී, පීතඃ - බොන්නේ, ශුභඃ - සුභය.

කෙළිඳහාල් චූර්ණය, මීපැණියෙන් ලේහ කිරීමෙන් රක්තාතීසාරය නැති වෙයි. එසේ ම කලාඳුරු අල, එළ ඉඹුල් මැලියම්, වඳුරුමෑඇටවලින් සාදන ලද චූර්ණය මීපැණියෙන් ලේහ කිරීමෙන් හෝ කොත්තමල්ලි, වියලි ඉඟුරු කෂාය ශූලය, ආමාජීර්ණය නසයි. ඉඟුරු, ගම්මිරිස්, තිප්පිලි, ශුද්ධ රත්නෙටුල්, සූදුරු යන චූර්ණය අශීස් රෝගයේ දී බොන්නේ ය.

ISBN 978-1-78280-808-4

## අජීර්ණ ශූල ගුල්ම අනාහයට හා අග්නිමාන්ද්‍යයට

72. පිප්පලී රුචකං පථ්‍යාචූර්ණං මස්තුජලං පිබෙත්
සර්වාජීර්ණහරඃ ශූලගුල්මානාහාග්නිමාන්ද්‍යජිත්

පිප්පලී - තිප්පිලී, රුචකං - සුවසලුණු, පථ්‍යා - අරළු, චූර්ණ - මේවායේ සුණු - මස්තුජලං - මෝරු දියෙන්, පිබෙත් - බොන්නේ, සර්වාජීර්ණ - සියලු අජීර්ණ, ශූල - ශූලය, හරඃ - නසන්නේ ය. ගුල්ම - ගුල්මය, ආනාහ - බඩපිපුම, අග්නිමාන්ද්‍ය - ගිනි මඳ බව, ජිත් - දිනන්නේ ය.

තිප්පිලී, සුවසලුණු, අරළු යන මේවායේ චූර්ණය මෝරු දියෙන් පානය කිරීමෙන් සියලු අජීර්ණ, ශූලය, ගුල්ම, බඩපිපුම, අග්නිමාන්ද්‍ය නසයි.

## අජීර්ණයට හා විසූචිකාවට

73. ත්වක්පත්‍ර රාස්නා'ගුරු ශිග්‍රු කුෂ්ඨෛ-
රම්ලප්‍රපිෂ්ඨෛඃ සබලාසිතාභෛඃ
අජීර්ණකාඝ්නං ච විසූචිකාඝ්නං
තෛලං විපක්වං ච තදර්ථකාරී

ත්වක් - කුරුඳුපොතු, පත්‍ර - කොල්ලං කොල, රාස්නා - හිං අරත්ත අල, අගුරු - අගිල්, ශිග්‍රු - මුරුංගා පොතු, කුෂ්ඨෛඃ - සුවඳ කොට්ටං, අම්ලප්‍රපිෂ්ඨෛඃ - දෙහි ඇඹුලෙන් මනාව අඹරා, සබලාසිතාභෛඃ - සීනි සමග වැළඳීමෙන්, අජීර්ණකාඝ්නං ච - අජීර්ණය නැසීම ද, විසූචිකාඝ්නං - විසූචිකාව නැසීම ද වේ. තෛලං විපක්වං ච - තෙල් සෑදීමෙන් ද, තදර්ථකාරී - එම (ගුණ ම දෙයි)අරුත කරයි.

ISBN 978-1-78280-808-4

කුරුඳුපොතු, කොල්ලං කොල, හීං අරත්ත අල, අගිල්, මුරුංගා පොතු, සුවඳ කොට්ටං දෙහි ඇඹුලෙන් මනාව අඹරා සීනි සමග වැළඳීම අජීර්ණය, විසූචිකාව නැසීමට යෝග්‍යයයි.

මෙම ඖෂධ යොද තෙල් සාද භාවිතා කිරීම ද එම ගුණ දෙයි.

හස්මකාග්නියට(විධග්ධාජීර්ණියට)

74. අනනපානෛඃශ්ලීරුසනිගේඨෛඃ - මන්දසාන්ද්‍ර හිමසථිරෛඃ
    පිත්තඝ්නෛඃ රෙචනෛර්ධීමාන් - භස්මකං ප්‍රශමං නයෙත්

ධීමාන් - බුද්ධිමත් තැනැත්තා, ගුරුඃ - දිරවීමට අපහසු, සනිශේඨෛඃ - තෙල් සහිත, මන්ද - මෘදු වූ, සාන්ද්‍ර බෙලසුල් වූ, හිමසථිරෛඃ - සිහිල් හා තිර වූ, අනනපානෛඃ - ආහාර පානයෙන්, පිත්තඝ්නෛඃ - පිත් නසන ද්‍රව්‍යවලින් ද, රෙචනෛඃ - විරේචනයෙන් ද, භස්මකං - භස්මක රෝගය, ප්‍රශමං නයෙත් - සමනයට ගෙනයන්නේ ය.

බුද්ධිමත් තැනැත්තා දිරවීමට අපහසු තෙල් සහිත මෘදු වූ බෙලසුල් වූ ද සිහිල් වූ ද, ආහාරපාන යෙදීමෙන් ද පිත් නසන ද්‍රව්‍යවලින් ද විරේචනයෙන් ද භස්මක රෝගය සමනය කරයි.

ISBN 978-1-78280-808-4

## භස්මකාග්නියට තවත් ඔසු

75. ඖදුම්බරත්වචං පිෂ්ටවා - නාරීක්ෂීරයුතං පිබෙත්
 තාභ්‍යාං ච පයසා සිද්ධං - භුක්තං ජයති භස්මකම්

ඖදුම්බරත්වචං - අට්ටික්කා පොතු, නාරීක්ෂීරයුතං - තනකිරි සමග, පිෂ්ටවා - අඹරා, පිබෙත් - බොන්නේ, තාභ්‍යාං ච - එම දෙවගය(අට්ටික්කා පොතු හා තනකිරි), පයසා සිද්ධං - කිරෙන් පිසන ලද්දේ, භුක්තං - අනුභව කරන්නේ, භස්මකම් - භස්මක රෝගය, ජයති - දිනයි.

අට්ටික්කා පොතු, තනකිරි සමග අඹරා බීමෙන් හෝ එම දෙවගය ම කිරෙන් පිස අනුභව කිරීමෙන් හෝ භස්මක රෝගය නැසෙයි.

## භස්මකාග්නියට තවත් ඔසු

76. මයූරෛඃ සතණ්ඩුලෛ සිද්ධං - පායසං භස්මකං ජයෙත්
 විදරීස්වරසෙ ක්ෂීරෙ - සිද්ධං වා මහිෂීඝෘතම්

මයූරෛඃ - මොණරකුඩුම්බිය, සතණ්ඩුලෛ - හාල් සමග, සිද්ධං - සාදන ලද, පායසං - කැඳ ද, විදරී ස්වරසෙ - කිරිබදු අල යුෂයෙන්, ක්ෂීරෙ සිද්ධං වා - කිරි සමග පිසගත් හෝ, මහිෂී ඝෘතම් - දුන්තෙලින් පිසගත් ඔසුව, භස්මකං - භස්මක රෝගය, ජයෙත් - දිනන්නේ ය.

මොණරකුඩුම්බිය සහල් සමග සාදන ලද කැඳ කිරිබදු අල යුෂයෙන් හෝ කිරි සමග හෝ දුන්තෙලින් හෝ පිසගත් ඔසුව භස්මක රෝගය දිනන්නේ ය.

---

ISBN 978-1-78280-808-4
9 781782 808084

# 9

## කාසශ්වාස චිකිත්සා

### කාසශ්වාසයට

77. ධාන්‍යාකං ශර්කරායුක්තං - තණ්ඩුලොදක සංයුතම්
පානමෙතත් ප්‍රදාතව්‍යං - කාසශ්වාසා පහං ශිශොඃ

ධාන්‍යාකං - කොතඹුරු, ශර්කරායුක්තං - සීනි සමග අඹරා, තණ්ඩුලොදක සංයුතම් - සහල් දෙවුන් දිය සමග, පානං - බීමට, ප්‍රදාතව්‍යං - දිය යුතුය. එතත් - එයින්, ශිශොඃ - දරුවා ගේ, කාසශ්වාසා - කැස්ස ඇදුම, පහං - දුරු කරයි.

කොතඹුරු සීනි සමග අඹරා සහල් දෙවුන් දිය සමග බීමට දිය යුතුය. එයින් දරුවා ගේ කැස්ස ඇදුම දුරු කරයි.

### කාසශ්වාසයට තවත් ප්‍රතිකාර

78. දුරාලභා කණා ද්‍රාක්ෂා - පථ්‍යා ක්ෂෞද්‍රේණ ලෙහයෙත්
ත්‍රිරාත්‍රං පඤ්චරාත්‍රං වා - කාසශ්වාසහරාඃ ශිශොඃ

දුරාලභා - වැල්කසඹිලියා, කණා - තිප්පිලි, ද්‍රාක්ෂා - මුද්දරප්පලම්, පථ්‍යා - අරළු සුණු, ක්ෂෞද්‍රේණ - මී පැණියෙන්, ලෙහයෙත් - ලේහ කරන්නේ ය. ත්‍රිරාත්‍රං - තුන් රැයකින් හෝ, පඤ්චරාත්‍රං වා - පස්රැයකින්, ශිශොඃ - දරුවා ගේ, කාසශ්වාස - කැස්ස ඇදුම, හරාඃ - දුරැලයි.

වැල්කසඹිලියා, තිප්පිලි, මුද්දරප්පලම්, අරළු යන මේවායේ චූර්ණය මී පැණියෙන් ලේහ කිරීමෙන් තුන් රැයකින් හෝ පස්රැයකින් දරුවා ගේ කැස්ස, ඇදුම, දුරැලයි.

ISBN 978-1-78280-808-4
9 781782 808084

හික්කාශ්වාසයට

79. හිඞ්ගු කර්කටශෘඞ්ගී ච - ගෛරිකං මධුයෂ්ටිකා
ත්‍රුටි ක්‍ෂෞද්‍රං නාගරං ච - හික්කාශ්වාස නිවාරණම්

හිඞ්ගු - පෙරුංකායම්, කර්කටශෘඞ්ගී - කකුළුසුඟු, ගෛරිකං - සිවංගුරු, මධුයෂ්ටිකා - වැල්මී, ත්‍රුටි - හීං එන්සාල්, නාගරං ච - වියලි ඉඟුරු සුණු, ක්‍ෂෞද්‍රං - මී පැණියෙන් ලේහ කිරීමෙන්, හික්කාශ්වාස - හික්කාව ඇදුම, නිවාරණම් - සුව වේ.

පෙරුංකායම්, කකුළුසුඟු, සිවංගුරු, වැල්මී, හීං එන්සාල්, වියලි ඉඟුරු යන චූර්ණය මී පැණියෙන් ලේහ කිරීමෙන් හික්කාව, ඇදුම සුව වෙයි.

කැස්ස ඇදුම හා උණට

80. කෘෂ්ණා දුරාලභා ද්‍රාක්ෂා - කර්කටාඛ්‍යා ගජාහ්වයා
චූර්ණිතා මධුසර්පිභ්‍යාං - ලීඪා හන්ති ශිශෝර්ගදන්
කාසඃ ශ්වාසං ච තමකං - ජ්වරෝ වාපි විනශ්‍යති

කෘෂ්ණා - තිප්පිලි, දුරාලභා - වැල්කහඹිලියා, ද්‍රාක්ෂා - මුද්දරප්පලම්, කර්කටාඛ්‍යා - කර්කටශෘංගි, ගජාහ්වයා - ගජතිප්පිලි, චූර්ණිතා - සුණු කරන ලද්දේ, මධුසර්පිභ්‍යාං - මීපැණි ගිතෙලින්, ලීඪා - ලේහ කරන්නේ, ශිශොඃ - දරුවන් ගේ, ගදන් - රෝග, හන්ති - නසයි. කාසඃ - කැස්ස, තමකං ශ්වාසං ච - ඇදුම ද, ජ්වරඃ - උණ ද, විනශ්‍යති - නසයි.

තිප්පිලි, වැල්කහඹිලියා, මුද්දරප්පලම්, කකුළුසුඟු, ගජතිප්පිලි සුණු කර මීපැණි ගිතෙලින් ලේහ කිරීමෙන් දරුවන් ගේ රෝග නසන අතර කැස්ස, ඇදුම උණ නසයි.

ISBN 978-1-78280-808-4

## උණ වමනය සහිත කැස්සට

81. ශෘඞ්ගී සමුස්තාතිවිෂාං විචූර්ණ්‍ය ලෙහං විදධ්‍යාන්මධුනා ශිශූනාම්
කාසජ්වරච්ඡර්දි සමන්විතානාං සමාක්ෂිකාං වා'තිවිෂා සමෙතාම්

ශෘඞ්ගී - කර්කටශෘංගී, සමුස්තා - කලාඳුරු සමග, අතිවිෂාං - අතිවිඩයම්, විචූර්ණ්‍ය - මනාව සුණුකර, මධුනා - මී පැණියෙන්, ලෙහං - ලේහය, විදධ්‍යාත් - දෙන්නේ ය. ශිශූනාම් - දරුවන් ගේ, කාස - කැස්ස, ජ්වර - උණ, ඡර්දි - වමනය, සමන්විතානාං වා - ඇති අවස්ථාවට ද, අතිවිෂා - අතිවිඩයම් සුණු, සමාක්ෂිකාං - මී පැණියෙන් ලේහ කිරීමෙන් ද, සමෙතාම් - සමනය වෙයි.

කැස්ස, උණ, වමනය ඇති අවස්ථාවට කකුළුසුඟු, කලාඳුරු අල, අතිවිඩයම් මනාව සුණුකොට මී පැණියෙන් ලේහ කිරීමෙන් ද අතිවිඩයම් චූර්ණය මී පැණියෙන් ලේහ කිරීමෙන් ද සමනය වෙයි.

## කැස්ස සමනයට පානයක්

82. ගුඩොදකං වා ක්වථිතං - ව්‍යොෂසෛන්ධවසංයුතම්
සුඛොෂ්ණං පායයෙත් බාලං - කාසරොගොපශාන්තයෙ

ගුඩ - උක් හකුරු, ව්‍යොෂ - වියලි ඉඟුරු ගම්මිරිස් තිප්පිලි, සෛන්ධව - සවිඳ ලුණු, ක්වථිතං උදකං - කකාල ජලය, සංයුතම් - යුක්තව, සුඛොෂ්ණං - මඳ උණුසුම්ව, පායයෙත් - බොන්නේ, බාලං - දරුවන් ගේ, කාසරොගො - කැස්ස රෝගය, උපශාන්තයෙ - සමනය වේ.

උක් හකුරු, වියලි ඉඟුරු, ගම්මිරිස්, තිප්පිලි, සවිඳ ලුණු, උණුකළ ජලය සමග කලතා මඳ උණුසුමින් පානය කිරීමෙන් දරුවන් ගේ කැස්ස සමනය වේ.

## පස්වැදෑරුම් කැස්සට ලේහයක්

83. විහිතො මධුනා ලෙහො - එතාශ්‍රීකුසුමකොශරෛඃ
ලීඪො හි නාශයත්‍යාශු - කාසං පඤ්චවිධං ශිශොඃ

එතාශ්‍රීකුසුම කොශරෛඃ - කටුවැල්බටු මල් රේණුවලින් හෝ (එතාශ්‍රී - කටුවැල්බටු, කුසුම - කරාබුනැටි, කොශරෛඃ - නාමල් රේණුවලින්) විහිතො - සාදන ලද චූර්ණය, මධුනා - මීපැණියෙන්, ලෙහො - ලේහ කරන්නේ හෝ, ලීඪො හි - සුළු වශයෙන් වරින්වර ලේහ කරන්නේ, ශිශොඃ - දරුවන් ගේ, පඤ්චවිධං කාසං - පස්වැදෑරුම් කැස්ස, ආශු - වහා, නාශයති - නසයි.

කටුවැල්බටු මල් රේණුවලින් හෝ (කටුවැල්බටු, කරාබුනැටි, නාමල් රේණුවලින්) සාදන ලද චූර්ණය මීපැණියෙන් ලේහ කරන්නේ දරුවන් ගේ පස්වැදෑරුම් කැස්ස වහා නසයි.

## දුඃසාධ්‍ය කැස්සට ලේහයක්

84. එකාශෘඞගී නිහනත්‍යාශු - මූලකස්‍ය එලාන්විතා
ඝෘතෙන මධුනා ලීඪා කාසං බාලස්‍ය දුස්තරම්
තුගාං ච ක්ෂෞද්‍රෛඃ සංලිහ්‍යාච්ඡ්වාසකාසෞ ශිශොර්ජයෙත්

මූලකස්‍ය එලාන්විතා - රාබු ඇට, එකාශෘඞගී - කකුළුසුඟු සුණු, ඝෘතෙන මධුනා - ගිතෙල් මී පැණියෙන්, ලීඪා - ලේහ කරන්නේ, බාලස්‍ය - දරුවා ගේ, දුස්තරම් කාසං - සුවකිරීමට අපහසු කැස්ස, ආශු - වහා, නිහනති - නසයි. තුගාං ච - උණ කපුරු ද, ක්ෂෞද්‍රෛඃ - මීපැණියෙන්, සංලිහ්‍යාත් - මනාව ලේහ කිරීමෙන්, ශිශොඃ - දරුවන් ගේ, ශ්වාසකාසෞ - ඇදුම කැස්ස යන දෙක, ජයෙත් - නසන්නේ ය.

රාබු ඇට, කකුළුසුඟු චූර්ණය ගිතෙල්, මී පැණියෙන් ලේහ කිරීමෙන් දරුවා ගේ සුවකිරීමට අපහසු කැස්ස වහා නසයි. උණ කපුරු ද මීපැණියෙන් මනාව ලේහ කිරීමෙන් දරුවන් ගේ ඇදුම කැස්ස යන දෙක සුව වෙයි.

ISBN 978-1-78280-808-4

### පස්වැදෑරුම් කැස්සට චූර්ණයක්

85. පෞෂ්කරාතිවිෂා ශෘඞ්ගී - මාගධී ධන්වායාසකෛඃ
    කෘතං චූර්ණං තු සක්ෂෞද්‍රං - ශිශූනාං පඤ්චකාසජිත්

පෞෂ්කර - සුවඳ කොට්ටං, අතිවිෂා - අතිවිඩයම්, ශෘඞ්ගී - කකුළුසුඟු, ධන්වායාසකෛඃ - වැල්කහඹිලියාවලින්, කෘතං - කරන ලද, චූර්ණං තු - සුණු වනාහි, සක්ෂෞද්‍රං - මීපැණි සමග යෙදීමෙන්, ශිශූනාං - දරුවන් ගේ, පඤ්චකාස පස්වැදෑරුම් කැස්ස, ජිත් - දිනන්නේ ය.

සුවඳ කොට්ටං, අතිවිඩයම්, කකුළුසුඟු, වැල්කහඹිලියාවලින් කරන ලද චූර්ණය වනාහි මීපැණි සමග යෙදීමෙන් දරුවන් ගේ පස්වැදෑරුම් කැස්ස සුව වේ.

### පස්වැදෑරුම් තියුණු කැස්සට ලේහයක්

86. මුස්තකාතිවිෂා වාසා - කණාශෘඞ්ගී රසං ලිහන්
    මධුනා මුච්‍යතෙ බාලඃ - කාසෛඃ පඤ්චභිරුච්ඡ්‍රිතෛඃ

මුස්තක - කලාඳුරු අල, අතිවිෂා - අතිවිඩයම්, වාසා - ආඩතෝඩා මුල්, කණා - තිප්පිලි, ශෘඞ්ගී - කර්කටශෘංගී, රසං - ස්වරස (හෝ චූර්ණය), මධුනා - මීපැණියෙන්, ලිහන් - ලේහ කරන්නේ, බාලඃ - දරුවා, පඤ්චභිඃ උච්ඡ්‍රිතෛඃ කාසෛඃ - පස්වැදෑරුම් තියුණු කැස්සෙන්, මුච්‍යතෙ - මිදෙයි.

කලාඳුරු අල, අතිවිඩයම්, ආඩතෝඩා මුල්, තිප්පිලි, කකුළුසුඟු, ස්වරස හෝ චූර්ණය මීපැණියෙන් ලේහ කිරීමෙන් දරුවා පස්වැදෑරුම් තියුණු කැස්සෙන් මිදෙයි.

ISBN 978-1-78280-808-4

## උග්‍ර කැසිමුසට කසායක්

87. වාසා මහෞෂධො ව්‍යාඝ්‍රී - ගුඩුචීභිඃ ශෘතාංජලම්
ප්‍රපීතං ශමයත්‍යුග්‍රං - ශ්වාසකාසමපොහති

වාසා - ආඩතෝඩා මුල්, මහෞෂධො - අමුඉඟුරු, ව්‍යාඝ්‍රී - කටුවැල්බටු, ගුඩුචීභිඃ - රසකිඳවලින්, ශෘතාංජලම්- සිඳින ලද කසාය, ප්‍රපීතං - මනාව බොන්නේ, උග්‍රං ශ්වාසකාසං - උග්‍ර වූ කැසි මුස, අපොහති - නැති කරයි. ශමයති - සමනය කරයි.

ආඩතෝඩා මුල්, අමුඉඟුරු, කටුවැල්බටු, රසකිඳවලින් සිඳින ලද කසාය මනාව පානය කිරීමෙන් උග්‍ර වූ කැස්ස, ඇදුම සමනය කරයි.

## වියලි කැස්සට

88. ගදීභී දුග්ධපානෙන තුලසී පත්‍රභක්ෂණාත්
ශීතලාතොය පානෙනා භිෂේකාශ්ච ප්‍රශස්‍යතෙ

ගදීභී බූරුදෙන ගේ, දුග්ධපානෙන - කිරි බීමෙන්, තුලසී පත්‍ර - මදුරුතලා කොළ, භක්ෂණාත් - කෑමෙන්, ශීතලාතොය - සිසිල් දිය, පානෙන - බීමෙන්, අභිෂේකාශ්ච - නෑම ද, ප්‍රශස්‍යතෙ - පසසයි. (මෙය වියලි කැස්ස පවතින විට විය යුතුය.)

බූරු කිරි බීම හා මදුරුතලා කොළ කෑම, සිසිල් දිය පානය හා ස්නානය පසසයි. (වියලි කැස්ස පවතින විට විය යුතුය.)

ISBN 978-1-78280-808-4
9 781782 808084

## ක්ෂයරෝගයට ලේහයක්

89. ශිලාජතුවෛකාම විඩඞග ලෞහ
තාප්‍යාභයාභිර්විහිතොවලෙහඃ
සර්පිර්මධුභ්‍යාං විධිනා ප්‍රයුක්තඃ
ක්ෂයං විධත්තෙ සහසා ක්ෂයස්‍ය

ශිලාජතු - ශිලාජතුය, වෛකාම - අභ්‍රක භස්ම, විඩඞග - වළහසහල්, ලෞහ - ලෞහ භස්ම, තාප්‍ය - රන්මැසිදු භස්ම, අභයාභිඃ විහිතඃ - අරළු යන මේවායින්, සර්පිඃ මධුභ්‍යාං - ගිතෙල් මීපැණියෙන්, විධිනා ප්‍රයුක්තඃ - මනාව සකසා, අවලෙහඃ - ලේහ කිරීමෙන්, ක්ෂයස්‍ය - ක්ෂය රෝගියා ගේ, ක්ෂයං - ක්ෂය, සහසා - වහා, විධත්තෙ - නසයි.

ශිලාජතු, අභ්‍රක භස්ම, වළහසහල්, ලෝහ භස්ම, රන්මැසිදු භස්ම(ස්වර්ණ මාක්ෂික), අරළු යන මේවා ගිතෙල්, මීපැණියෙන් මනාව සකසා ලේහ කිරීමෙන් ක්ෂය රෝගියා ගේ ක්ෂය වහා නසයි.

* * * *

ISBN 978-1-78280-808-4

## ශරීර පුෂ්ටියට සහ ක්‍ෂයරෝග නාශයට

90. නවනීත සිතා ක්‍ෂෞද්‍රං - ලීඪ වා ක්‍ෂීර භුජඃ පරම්
කාරොති පුෂ්ටිං කායස්‍ය - ක්‍ෂතක්‍ෂයමපොහති

නවනීත - වෙඬරු, සිතා - සීනි, ක්‍ෂෞද්‍රං - මීපැණි, ලීඪවා - ලේහ කිරීම හෝ, ක්‍ෂීර - කිරි ආහාර, භුජඃ - භොජනය කිරීම, පරම් - උතුම් ය. කායස්‍ය - ශරීරයේ, පුෂ්ටිං - බලය, කාරොති - කරයි. ක්‍ෂතක්‍ෂයං - තුවාල හා ක්‍ෂය රෝගය, අපොහති නසයි.

වෙඬරු, සීනි, මීපැණි ලේහ කිරීම කිරි ආහාර භෝජනය කිරීම උතුම් ය. ශරීර බලය ඇති කරයි. තුවාල හා ක්‍ෂය නැති කරයි.

---

ISBN 978-1-78280-808-4

# 10

## හික්කාඡර්දි චිකිත්සා

### හික්කාවට ලේහයක්

91. සුවර්ණගෛරිකං පිෂ්ට්වා - මධුනා සහ ලෙහයෙත්
හික්කං සුඛමවාප්නොති - තෙන හික්කාර්දිතඃ ශිශුඃ

සුවර්ණගෛරිකං - ශුද්ධ රතු සිවංගුරු, මධුනා සහ - මීපැණි සමග, පිෂ්ට්වා - අඹරා, ලෙහයෙත් - ලේහ කරන්නේ, තෙන - එයින්, ශිශුඃ - දරුවා ගේ, හික්කාර්දිතඃ - හික්කා රෝගය, හික්කං - වහා, සුඛං - සුවයට, අවාප්නොති - පැමිණෙයි.

ශුද්ධ රතු සිවංගුරු මීපැණි සමග අඹරා, ලේහ කරන්නේ, එයින්, දරුවා ගේ හික්කා රෝගය වහා සුවයට පැමිණෙයි.

### හික්කාවට ධන්වන්තරී ඍෂින්ගේ කශාය

92. පිප්පලී රේණුකා ක්වාථඃ ස හිඞ්ගු සමධුඃ කෘතඃ
හික්කාං බහුවිධාං හන්තාදිදං ධන්වන්තරේර්වචඃ

පිප්පලී - තිප්පිලි, රේණුකා - වල්ගම්මිරිස්, කෘතඃ ක්වාථඃ - කළ කසාය, සහිඞ්ගු - පෙරුංකායම් සහිතව, සමධුඃ - මීපැණි සහිතව යෙදීමෙන්, බහුවිධාං හික්කාං - සියලු ම හික්කා, හන්ති - නසන්නේ ය. ඉදං - මෙය, ධන්වන්තරේඃ - ධන්වන්තරී ඍෂි ගේ, වචඃ - වචනයකි.

තිප්පිලි, වල්ගම්මිරිස්වලින් කළ කසාය, පෙරුංකායම්, මීපැණි සහිතව යෙදීමෙන් සියලුම හික්කා නසයි. මෙය ධන්වන්තරී ඍෂි ගේ වචනයකි.

ISBN 978-1-78280-808-4

## හික්කාවට සහ කල්ගිය වමනයට

93. චූර්ණං කටුකාරොහිණ්‍යා - මධුනා සහ යොජයෙත්
හික්කාං ප්‍රශමයෙත් ක්ෂිප්‍රං - ඡර්දිං චාපි චිරොත්ථිතාම්

කටුකරොහිණ්‍යා - කටුකරෝසන, චූර්ණං - සුණු, මධුනා සහ - මීපැණි සමග, යොජයෙත් - යොදන්නේ, ක්ෂිප්‍රං - වහා, හික්කාං - හික්කාව ද, චිරොත්ථිතාම් - බොහෝකල් පැවති, ඡර්දිං - වමනය ද, ප්‍රශමයෙත් - සමනය වේ.

කටුකරෝසන චූර්ණය මීපැණි සමග යෙදීමෙන් වහා හික්කාව ද බොහෝකල් පැවති වමනය ද සමනය වේ.

## වමන අතීසාරයට

94. යවානීකුටජාරිෂ්ට - සප්තපර්ණී පයොලකෛඃ
ලෙහශ්ඡර්දිමතීසාරං - ජ්වරං බාලස්‍ය නාශනම්

යවානී - අසමෝදගම්, කුටජ - කෙළිඳහාල්, අරිෂ්ට - කොහොඹ පොතු, සප්තපර්ණී - රුක්අත්තන, පයොලකෛඃ - දුම්මැල්ල සුණු, ලෙහඃ - ලේහය, බාලස්‍ය - දරුවා ගේ, ඡර්දි - වමනය, අතීසාරං - අතීසාරය, ජ්වරං - උණ, නාශනම් - නසන්නේ ය.

අසමෝදගම්, කෙළිඳහාල්, කොහොඹ පොතු, රුක්අත්තන, දුම්මැල්ල චූර්ණය ලේහ කිරීමෙන් දරුවා ගේ වමනය, අතීසාරය, උණ නසන්නේ ය.

ISBN 978-1-78280-808-4

## අධෝභාගයේ දෝෂයෙන් හටගත් වමනයට

95. හරීතක්‍යාඃ කෘතං චූර්ණං - මධුනා සහ ලෙහයෙත්
අධස්තාද්විහිතෙ දෙෂෙ - ශීඝ්‍රං ඡර්දිඃ ප්‍රශාම්‍යති

හරීතක්‍යාඃ - අරළුවලින්, කෘතං චූර්ණං - කරන ලද සුණු, මධුනා සහ - මීපැණියෙන්, ලෙහයෙත් - ලේහ කරන්නේ, අධස්තාත් - අධෝ භාගයේ, විහිතෙ දෙෂෙ - හටගත් දෝෂයේ, ඡර්දි - වමනය, ශීඝ්‍රං - වහා, ප්‍රශාම්‍යති - සමනය වේ.

අරළුවලින් සාදන ලද චූර්ණය මීපැණියෙන් ලේහ කිරීමෙන් අධෝ භාගයේ හටගත් දෝෂයේ වමනය වහා සමනය වේ.

## දුකසේ සුවකළ යුතු වමනයට

96. අශ්වත්ථවල්කලං ශුෂ්කං - දග්ධං නිර්වාපිතං ජලෙ
තජ්ජලං පානමාත්‍රෙණ - ඡර්දිං ජයති දුර්ජයාම්

ශුෂ්කං අශ්වත්ථවල්කලං - වියලි ඇසතු පොතු, දග්ධං - පුළුස්සා අළු, ජලෙ - ජලයේ දියකර, නිර්වාපිතං - පෙරාගත් ක්ෂාරය, තජ්ජලං - එම ක්ෂාරය දිය කළ ජලය, පාන මාත්‍රෙණ - පානය කළ විගස, දුර්ජයාම් ඡර්දිං - දුකසේ සුවකළ යුතු වමනය, ජයති - දිනයි.

වියලි ඇසතු පොතු පුළුස්සා අළු ජලයේ දියකර පෙරාගත් ක්ෂාරය පානය කළ විගස දුකසේ සුවකළ යුතු වමනය සුව වේ.

ISBN 978-1-78280-808-4

## පිපාසා වමන අතීසාරයට

97. ශාලාතාං ජලමුස්තානාං - චූර්ණං පීතං සමාක්ෂිකම්
තෘෂ්ණාච්ඡර්දිමතීසාරං - ශිශූනාමුද්ධතං හරෙත්

ශාලාතාං - හල්පොතු, ජල - ඉරිවේරිය, මුස්තානාං - කලාඳුරු අල, චූර්ණං - සුණු, සමාක්ෂිකම් - මීපැණි සමග, පීතං - බොන ලද්දේ, ශිශූනාං - දරුවන් ගේ, උද්ධතං - හටගත්, තෘෂ්ණා - පිපාසාව, ඡර්දි - වමනය, අතීසාරං - අතීසාරය, හරෙත් - දුරුකරන්නේ ය.

හල්පොතු, ඉරිවේරිය, කලාඳුරු අල චූර්ණය මීපැණි සමග පානය කිරීමෙන් දරුවන් ගේ හටගත් පිපාසාව, වමනය, අතීසාරය දුරුකරන්නේ ය.

## වමන උණට

98. ආම්‍රාස්ථිලාජා සින්ධූත්ථං - සක්ෂෞද්‍රං ඡර්දිනුත් භවෙත්
ඝනාශෘංගීවිෂාණාං ච - චූර්ණං හන්ති සමාක්ෂිකම්
වාන්තිජ්වරං තථා යොගො - මධුනාතිවිෂාරජඃ

ආම්‍රාස්ථි - අඹ ඇට මද, ලාජා - විලඳ, සින්ධූත්ථං - සහිඳ ලුණු, සක්ෂෞද්‍රං - මීපැණි සමග ලේහ කිරීමෙන්, ඡර්දිනුත් - වමනය නැතිවීම, භවෙත් - වන්නේ ය. ඝන - කලාඳුරු අල, ශෘංගී - කකුළුපුහු, විෂාණාං ච - අතිවිඩයම් ද, චූර්ණං - සුණු, සමාක්ෂිකම් - මීපැණි සමග ලේහ කිරීමෙන්, වාන්ති - වමනය, ජ්වරං - උණ, තථා - එසේ ම, අතිවිෂාරජඃ - අතිවිඩයම් සුණු, මධුනා - මීපැණියෙන්, යොගඃ - යෝගය ලේහ කලා මෙනි.

අඹ ඇට මද, විලඳවැත්ත, සහිඳ ලුණු, මීපැණි සමග ලේහ කිරීමෙන්, වමනය නැතිවෙයි. කලාඳුරු අල, කකුළුපුහු, අතිවිඩයම් චූර්ණය මීපැණි සමග ලේහ කිරීමෙන් වමනය, උණ සමනය වෙයි. එසේ ම අතිවිඩයම් චූර්ණය මීපැණියෙන් ලේහ කිරීමෙන් ද එම ගුණ ම ලැබේ.

ළදරුවන්ගේ කිරිවමනයට

99. පීතං පීතං වමෙත් යස්තු - ස්තන්‍යං තං මධුසර්පිෂා
ද්විබෘහතී ඵලරසං - පඤ්චකොලං ච ලෙහයෙත්

යඃ - යමෙක් වනාහි (දරුවෙක්), ස්තන්‍යං - කිරි, පීතං පීතං - බොන බොන ලද්දේ, වමෙත් - වමනය කරයි ද, තං - ඔහුට, ද්විබෘහතී - එළබටු කටුවැල්බටු, ඵලරසං - ගෙඩි යුෂට, පඤ්චකොලං ච - තිප්පිලි තිප්පිලි මුල් සිවියමුල් ශුද්ධ රත්නෙටුල් හා වියලි ඉඟුරු මේ සුණු දමා, මධුසර්පිෂා මී හා ගිතෙලින්, ලෙහයෙත් - ලේහ කරන්නේ ය.

යම් දරුවෙක් කිරි බොන බොන වරක් පාසා වමනය කරයි ද එළබටු, කටුවැල්බටු ගෙඩි යුෂට තිප්පිලි, තිප්පිලි මුල්, සිවියමුල්, ශුද්ධ රත්නෙටුල් හා වියලි ඉඟුරු චූර්ණය දමා මීපැණි හා ගිතෙලින් ලේහ කරන්නේ ය.

හික්කා වමනයට

100. පිප්පලී මධුකානං ච - චූර්ණං සමධුශර්කරම්
මාතුලුඞ්ගරසෙනෙව - හික්කාඡර්දි නිවාරණම්

පිප්පලී - තිප්පිලි, මධුකානං ච - වැල්මී ද, චූර්ණං - සුණු, සමධුශර්කරම් - මීපැණි සීනි සමග, මාතුලුඞ්ගරසෙන එව - නස්නාරං ඇඹුලෙන් ලේහ කිරීමෙන්, හික්කා - හික්කාව, ඡර්දි - වමනය, නිවාරණම් - නිවාරණය වේ.

තිප්පිලි, වැල්මී චූර්ණය මීපැණි සීනි සමග නස්නාරං ඇඹුලෙන් ලේහ කිරීමෙන් හික්කාව, වමනය නිවාරණය වේ.

ISBN 978-1-78280-808-4

## පිපාසා සමනයට ලේහයක්

101. පිප්පලී මධූකං ජම්බූ - රසාලතරුපල්ලවෛඃ
චූර්ණෝ'යං මධුනා වෙහි - තෘෂ්ණාප්‍රශමනඃ ශිශෝඃ

පිප්පලී - තිප්පිලි, මධූකං - වැල්මී, ජම්බූ - මාදම්, රසාලතරු-පල්ලවෛඃ - අඹදළු, අයං චූර්ණඃ - මේ සුණු, මධුනා වෙහි - මීපැණියෙන් ලේහ කිරීමෙන්, ශිශෝඃ - දරුවන් ගේ, තෘෂ්ණා - පිපාසය, ප්‍රශමනඃ - සමනය වේ.

තිප්පිලි, වැල්මී, මාදම්, අඹදළු මේ චූර්ණය මීපැණියෙන් ලේහ කිරීමෙන් දරුවන් ගේ පිපාසය සමනය වේ.

## බලවත් පිපාසයට ලේහයක්

102. හිඞගු සෛන්ධව පාලාශ - චූර්ණං මාක්ෂිකසංයුතම්
ලීඪං නිවාරයත්‍යාශු - ශිශූනාමුද්ධතාං තෘෂාම්

හිඞගු - පෙරුංකායම්, සෛන්ධව - සහිඳ ලුණු, පාලාශ - කැල ඇට, චූර්ණං - සුණු, මාක්ෂිකසංයුතම් - මීපැණි යුක්තව, ලීඪං - ලේහ කිරීමෙන්, ශිශූනාං - දරුවන් ගේ, උද්ධතාං තෘෂාම් - බලවත් පිපාසය, ආශු - වහා, නිවාරයති - සංසිඳුවයි.

පෙරුංකායම්, සහිඳ ලුණු, කැල ඇට චූර්ණය මීපැණි සමග ලේහ කිරීමෙන් දරුවන් ගේ බලවත් පිපාසය සංසිඳෙයි.

---

ISBN 978-1-78280-808-4

# 11

## උදර රෝග චිකිත්සා

### බඩපිපුමට සහ වාතවේදනාවට

103. ඝෘතෙන සින්ධු විශෛවලා - හිඞ්ගු භාර්ඞිගිරජෝ ලිහන්
ආනාහවාතිකං ශූලං - හන්‍යාත් තොයෙන වා ශිශෝඃ

සින්ධු - සවිඳ ලුණු, විශව - වියලි ඉඟුරු, එලා - එනසාල් ඇට, හිඞ්ගු - පෙරුම්කායම්, භාර්ඞිගිරජඃ - සිරිතේක්කු සුණු, ඝෘතෙන - ගිතෙලින්, ලිහන් - ලේහ කරන්නේ, තොයෙන වා - උණුවතුරෙන් හෝ, ශිශෝඃ - දරුවන් ගේ, ආනාහ - බඩපිපුම, වාතිකං ශූලං - වාත වේදනා, හන්‍යාත් - නසන්නේ ය.

සවිඳ ලුණු, වියලි ඉඟුරු, එනසාල් ඇට, පෙරුම්කායම්, සිරිතේක්කු චූර්ණය ගිතෙලින් ලේහ කිරීමෙන් හෝ උණු වතුරෙන් භාවිත කිරීමෙන් දරුවන් ගේ බඩපිපුම, වාත වේදනා නසන්නේ ය.

### නිතර හඬන ළමුන්ට සහනදායී ලේහයක්

104. පිප්පලී ත්‍රිඵලාචූර්ණං - ඝෘතක්ෂෞද්‍ර පරිප්ලුතම්
බාලො රොදිති යඃ - තස්මෛ ලෙංඩු දද්‍යාත් සුඛාවහම්

පිප්පලී - තිප්පිලි, ත්‍රිඵලාචූර්ණං - අරළු බුළු නෙල්ලි සුණු, ඝෘතක්ෂෞද්‍ර - ගිතෙල් මීපැණියෙන්, පරිප්ලුතම් - අනා, ලෙංඩු - ලේහ කිරීමෙන්, යඃ බාලඃ - යම් ළමයෙක්, රොදිති - නිතර හඬයි ද, තස්මෛ - ඔහුට, සුඛාවහම් - සැප ගෙන දීම පිණිස, දද්‍යාත් - දෙන්නේ ය.

තිප්පිලි, අරළු, බුළු, නෙල්ලි චූර්ණය ගිතෙල්, මීපැණියෙන් අනා ලේහ කිරීමෙන් නිතර හඬන ළමුන්ට සුව ගෙන දෙයි.

ISBN 978-1-78280-808-4

## නැබ හෝ ගුදයෙහි ලේපනයෙන් විරේචනය

105. පිෂ්ටවා ගන්ධර්වබීජානි - ත්වාබුවිඩ් නිම්බවාරිණා
නාභෞ ගුදෙ වා ලෙපෙන - ශිශූනාං රෙචනං පරම්

ගන්ධර්වබීජානි - එඬරු ඇට මද, ආඛුවිඩ් - මී බෙටි, නිම්බවාරිණා - කොහොඹ පොතු තැම්බූ වතුරෙන්, පිෂ්ටවා - අඹරා, නාභෞ - නැබෙයි හෝ, ගුදෙ වා - ගුදයෙහි හෝ, ලෙපෙන - ආලේප කිරීමෙන්, ශිශූනාං - දරුවන් ගේ, රෙචනං - විරේචනයට, පරම් - උතුම් ය.

එඬරු ඇට මද, මී බෙටි, කොහොඹ පොතු තැම්බූ වතුරෙන් අඹරා නැබෙයි හෝ ගුදයෙහි ආලේප කිරීමෙන් දරුවන් ගේ, විරේචනයට උතුම් ය.

## ශෝධන විරේකයක්

106. *ඉන්ද්‍රලොචන නෙත්‍රාණි - ශිඛිභාගං හි යොජයෙත්
ත්‍රුටිගන්ධක මුද්‍රී - ශතපුෂ්පා විචූර්ණිතාඃ

107. මාෂද්වයං ගවාං දුග්ධෙඃ - සෙවයෙත් දිනපඤ්චකම්
රෙචයෙත් මෘතතිකාං ශුද්ධාං - ශිශූනාං හිතමෞෂධම්

*මෙහි ඉන්ද්‍ර යන්නෙන් එකක් ද - ලොචන යන්නෙන් දෙකක් ද - නෙත්‍රාණි යන්නෙන් තුනක් ද - ශිඛි යන්නෙන් හතරක් ද කොටස් වශයෙන් ගිණිය යුතුය.

ත්‍රුටි - හීං එන්සාල් කොටස් එකක් ද, ගන්ධක - ගෙන්දගම් කොටස් දෙකක් ද, මුද්‍රී - මෘද්දරශෘඞගි කොටස් තුනක් ද, ශතපුෂ්පා - සතකුප්ප කොටස් හතරක් ද, විචූර්ණිතාඃ - මනාව සුණු කොට, -

ISBN 978-1-78280-808-4

මාෂේදවයං - උඳු ඇට දෙකක ප්‍රමාණය, ගවාං දුගෙධෙඃ - එළකිරෙන්, දිනපඤ්චකම් - දින පහක්, සෙවයෙත් - සේවනය කරන්නේ ය. මෘතනිකාං - බඩ තුළ ඇති මැටි, ශුදධාං - ශුද්ධ වී, රෙචයෙත් - විරේචනය වෙයි. ශිශූනාං - දරුවන්ට, හිතං ඖෂධම් - හිත ඔසුවකි.

හීං එන්සාල් කොටස් එකයි ද ගෙන්දගම් කොටස් දෙකක් ද මුරුද මෘද්දරශෘංගි කොටස් තුනක් ද සතකුප්ප කොටස් හතරක් ද මනාව චූර්ණ කොට උඳු ඇට දෙකක ප්‍රමාණය එළකිරෙන් දින පහක් සේවනය කරන්නේ ය. බඩ තුළ ඇති මැටි ශුද්ධ වී විරේචනය වෙයි. දරුවන්ට හිත ඔසුවකි.

## අධික ගින්න සමනයට

108. විදරීකන්ද ගොධූම යවචූර්ණං ඝෘතපලුතම්
බාදයෙත් තදනුක්ෂීරං ශෘතං සමධුසක්රම්

විදරී කන්ද - කිරිබදු අල, ගොධූම - තිරිඟුපිටි, යවචූර්ණං - කොල්ලු සුණු, ඝෘතපලුතම් - ගිතෙලින් අනා, බාදයෙත් - වළඳන්නේ ය. ශෘතං ක්ෂීරං - සිඳවන ලද කිරි, සමධුසක්රම් - මීපැණි සීනි සමග, තදනු - ඒ අනුව භාවිත කිරීමෙන් අධික ගින්න සමනය වෙයි.

කිරිබදු අල, තිරිඟුපිටි, කොල්ලු චූර්ණය, ගිතෙලින් අනා වළඳන්නේ ය. සිඳවන ලද කිරි, මීපැණි සීනි සමග ඒ අනුව භාවිත කිරීමෙන් අධික බඩගින්න සමනය වෙයි.

ISBN 978-1-78280-808-4

ස්මෘතිය, ශරීර ශක්තිය හා පෝෂණයට

109. සෞවර්ණං සුකෘතං චූර්ණං - කුෂ්ටං මධු ඝෘතං වචා
මත්සතාක්ෂිකාඃ ශංඛපුෂ්පී - මධුසර්පිඃ සකාඤ්චනම්

110. අර්කපුෂ්පී ඝෘතං ක්ෂෞද්‍රං - චූර්ණිතං කානකං වචා
සහෙමචූර්ණී කෛණ්‌ඩර්‍යශ්ච - ශ්වෙතදූර්වා ඝෘතං මධු

111. චත්වාරොහි හිතාඃ ප්‍රාශ්‍යා - අර්ධශ්ලොක සමාපනාඃ
කුමාරාණාං වපුර්මේධා - බලපුෂ්ටිකරාඃ සමෘතාඃ

(අ) සෞවර්ණං - රන්, සුකෘතං චූර්ණං - මනාව කරන ලද භස්මය, කුෂ්ටං - සුවඳ කොට්ටං, වචා - වදකහ, මධු ඝෘතං - මීපැණි ගිතෙලින් ද, (ආ) මත්සතාක්ෂිකාඃ - මුගුණුවැන්න, ශංඛපුෂ්පී - සක්මල්, සකාඤ්චනම් - ස්වර්ණ භස්ම සහිතව, මධුසර්පිඃ - මීපැණි ගිතෙලින් ද,

(ඇ) අර්කපුෂ්පී - වරාමල්, කානකං - ස්වර්ණ භස්ම, වචා - වදකහ, චූර්ණිතං - සුණු, ඝෘතං - ගිතෙල්, ක්ෂෞද්‍රං - මීපැණියෙන් ද, (ඈ) කෛණ්‌ඩර්‍යශ්ච - කරපිංචා, ශ්වෙතදූර්වා - සුදු ඊතන, සහෙමචූර්ණී - ස්වර්ණ භස්ම සහිතව, ඝෘතං මධු - ගිතෙල් මීපැණියෙන් ද,

චත්වාරොහි අර්ධශ්ලොක සමාපනාඃ - සතර අඩ සිලොවින් යුත්, ප්‍රාශ්‍යා - බොහෝ සෙයින්, හිතාඃ - හිත වූයේ, කුමාරාණාං - කුමරුවන් ගේ, වපුඃ - ශරීරය, මෙධා - ස්මෘති ශක්තිය, බලපුෂ්ටිකරාඃ - ශරීර ශක්තිය හා පෝෂණය වේ යැයි, සමෘතාඃ - දත යුතුය.

ISBN 978-1-78280-808-4

## නැබ ඉදිමුමට ස්වේදයක්

116. මෘත්පිණ්ඩෙනාග්නිතප්තෙන - ක්ෂීරසික්තෙන සොෂ්මණා
ස්වෙදයෙදුත්ථිතාං නාභිඃ - ශොථඃ තෙනොපශාම්‍යති

අග්නිතප්තෙන මෘත්පිණ්ඩෙන - ගින්නෙන් රත්කරන ලද මැටි පිඩකින්, සොෂ්මණා - මඳ උණුසුමෙන් යුත්, ක්ෂීර - කිරි, සික්තෙන - එම මැටි පිඩට ඉසීමෙන් , ස්වෙදයෙත් - සෙවද දෙන්නේ ය. උත්ථිතාං - උඩට එසවුණු, නාභිඃ ශොථඃ - නැබ ඉදිමුම, තෙන - එමගින්, උපශාම්‍යති - සමනය වෙයි.

මද උණුසුමෙන් යුත් කිරි, ගින්නෙන් රත්කරන ලද මැටි පිඩකට ඉසීමෙන් නැගෙන හුමාලයෙන් තැවීමෙන් උඩට එසවුණු නැබ ඉදිමුම සමනය වෙයි.

## පැසවූ නැබට ආලේපයක්

117. නාභිපාකෙ නිශා ලොධ්‍ර - ප්‍රියඞ්ගු මධුකෛඃ ශෘතම්
තෛලමභ්‍යඤ්ජනෙ ශස්තමෙභිශ්චා'ප්‍යවධූලනම්

නිශා - අමුකහ, ලොධ්‍ර - ලොත්සුඹුළු, ප්‍රියඞ්ගු - පුවඟු, මධුකෛඃ - වැල්මීවලින්, ශෘතම් තෛලං - සිඳ වූ තෙල, නාභිපාකෙ - නැබ පැස වූ කල, අභ්‍යඤ්ජනෙ - ආලේපනයෙන් හෝ, එභිඃ වා - ඉහත චූර්ණය, අත්‍ර - නැබෙහි, අවධූලනම් - විසුරුවීමෙන් ද, ශස්තං - සුව වේ.

අමුකහ, ලොත්සුඹුළු, පුවඟු, වැල්මීවලින් සිඳ වූ තෙල, නැබ පැස වූ කල ආලේපනයෙන් හෝ ඉහත චූර්ණය නැබ විසුරුවීමෙන් සුව වේ.

ISBN 978-1-78280-808-4

## පැසවූ නැබට තවත් ඖෂධ

118. දුශ්ධෙන ජාගශකෘතො - නාභිපාකෙ ච චූර්ණකම්
ත්වක්චූර්ණෛ: ක්ෂීරිණො වා'පි - ශුක්ලෙන චන්දනරේණුනා

ජාග ශකෘතො - එළු බෙටි, දුශ්ධෙන - කිරිවලින් අඹරා, නාභිපාකෙ ච - නාභිපාකයට, අචූර්ණකම් - ගාන්න. ත්වක් චූර්ණෛ: - කුරුඳුපොතු සුණුවලින්, වා අපි - නැතහොත්, චන්දන රේණුනා - සුදුහඳුන් සුණු සමග, ක්ෂීරිණො - කිරිවලින්(මෙය නුග කරටි ද විය හැක) ආලේපයෙන් නාභිපාකය සුව වේ.

එළු බෙටි කිරිවලින් අඹරා නැබ පැසීමට ගාන්න. කුරුඳුපොතු චූර්ණය නැතහොත් සුදුහඳුන් චූර්ණය සමග කිරිවලින්(මෙය නුග කරටි ද විය හැක) ආලේපයෙන් නැබ පැසීම සුව වේ.


ISBN 978-1-78280-808-4

# විවිධ රෝග සඳහා ප්‍රතිකාර 12

## ගුදපාකයට ඖෂධ

119. ගුදපාකෙ තු බාලානං - පිත්තඝ්නිං කාරයෙත් ක්‍රියාම්
රසාඤ්ජනං විශෙෂෙණ - පානලෙපනයෝර්හිතම්

බාලානං - ළමුන් ගේ, ගුදපාකෙ තු - ගුද පැසවීමෙහි වනාහි, පිත්තඝ්නිං - පිත් නසන, ක්‍රියාං කාරයෙත් - ක්‍රියා කරන්නේ ය. විශෙෂෙණ - වෙසෙසින්, රසාඤ්ජනං - රසඳුන්, පානලෙපනයොඃ - බීමට හා ලේපයට, හිතම් - හිතයි.

ළමුන් ගේ ගුද පැසවීමේ දී පිත් නසන ක්‍රියා කරන්නේ ය. වෙසෙසින් රසඳුන් බීමට හා ලේපයට හිතයි.

## ගුදපාකයට තවත් ඖෂධ

120. ශඞ්ඛයෂ්ට්‍යඤ්ජනෛශ්චූර්ණං - ශිශූනාං ගුදපාකනුත්
පාරිගර්භිකරොගෙ තු - යුජ්‍යතෙ වහ්නිදීපනම්

ශඞ්ඛ - ශංඛ භස්ම, යෂ්ටි - වැල්මී, අඤ්ජනෛඃ - රසඳුනෙන් සැකසූ, චූර්ණං - සුණු, ශිශූනාං - දරුවන් ගේ, ගුදපාකනුත් - ගුද පැසීම නසන්නේ ය. පාරිගර්භිකරොගෙ තු - පාරිගර්භික රෝගයේ දී වනාහි, වහ්නිදීපනම් - ගින්න වැඩීම, යුජ්‍යතෙ - යෙදිය යුතුය.

ශංඛ භස්ම, වැල්මී, රසඳුන්වලින් සැකසූ චූර්ණය දරුවන් ගේ ගුද පැසීම නසන්නේ ය. පාරිගර්භික රෝගයේ දී ගින්න වඩන දේ යෙදිය යුතුය.

ISBN 978-1-78280-808-4

## තුවාල, විසප්පු ගෙඩි, උණ සඳහා ඖෂධ

121. පයෝලත්‍රිඵලාරිෂ්ට - හරිද්‍රා ඝවපීතං පිබෙත්
ක්ෂත විසෙඵාට ජ්වරාණාං - ශාන්තයෙ බාලකස්‍ය ච

පයෝල - දුම්මැල්ල, ත්‍රිඵලා - තිපල්, අරිෂ්ට - කොහොඹ පොතු, හරිද්‍රා - කහ, ඝවපීතං - සාදන ලද කෂාය, පිබෙත් - බොන්නේ, බාලකස්‍ය - දරුවන් ගේ, ක්ෂත - තුවාල, විසෙඵාට - විසප්පු ගෙඩි, ජ්වරාණාං ච - උණ ද, ශාන්තයෙ - සුවකරයි.

දුම්මැල්ල, අරළු, බුළු, නෙල්ලි, කොහොඹ පොතු, කහවලින් සාදන ලද කෂාය පානය කිරීමෙන් දරුවන් ගේ තුවාල විසප්පු ගෙඩි, උණ ද සුවකරයි.

## සිධ්ම, සුදුකබර, හොරි, විචර්චිකා ආදි චර්ම රෝගවලට

122. ගෘහධූමනිශාකුෂ්ට - රාජිකෙන්ද්‍රයවෛඃ ශිශොඃ
ලෙපඃ තක්‍රෙණ හන්ත්‍යාශු - සිධමපාමා විචර්චිකාඃ

ගෘහධූම - වියන් දුඹුළු, නිශා - අමුකහ, කුෂ්ට - සුවඳ කොට්ටං, රාජිකා - අබ, ඉන්ද්‍රයවෛඃ - කෙළිඳහාල්වලින් සාදන ලද සුණු, තක්‍රෙණ - මෝරුවෙන්, ලෙපඃ - ගෑමෙන්, ශිශොඃ - දරුවන් ගේ, සිධම - සිධ්ම, ශ්වේත කුෂ්ට(සුදුකබර) නම් චර්ම රෝගය, පාමා - හොරි, විචර්චිකාඃ - විචර්චිකා නම් චර්ම රෝගය, ආශු - වහා, හන්ති - නසයි.

වියන් දුඹුළු, අමුකහ, සුවඳ කොට්ටං, අබ, කෙළිඳහාල්වලින් සාදන ලද චූර්ණය මෝරුවෙන් අඹරා ගෑමෙන් දරුවන් ගේ සිධ්ම නම් චර්ම රෝගය, සුදුකබර, හොරි, විචර්චිකා වහා නසයි.

ISBN 978-1-78280-808-4

## තල්ල පැසවීමට හා දන්තපාලියට ඔසු

123. තාලුපාකෙ යවක්ෂාර - මධුභ්‍යාං ප්‍රතිසාරණම්
දන්තපාලිං තු මධුනා - චූර්ණෛන ප්‍රතිසාරයෙත්

තාලුපාකෙ - තල්ල පැසවීමේ දී, යවක්ෂාර - යවකාර ලුණු, මධුභ්‍යාං - මීපැණි සමග, ප්‍රතිසාරණම් - දත් මැදීමෙන් සුවවේ. දන්තපාලිං තු - දන්තපාලි රෝගයට ද, මධුනා - වැල්මී, චූර්ණෛන - සුණුවලින්, ප්‍රතිසාරයෙත් - දත් මදින්නේ ය.

තල්ල පැසවීමේ දී යවකාර ලුණු, මීපැණි සමග දත් මැදීමෙන් සුවවේ. දන්තපාලි නම් රෝගයට ද වැල්මී චූර්ණයෙන් දත් මදින්නේ ය.

## දත් මතුවන කල හටගන්නා රෝගවලට

124. ධාතකීපුෂ්ප පිප්පලී - ධාත්‍රීඵලරසෙන වා
දන්තොත්ථාන භවාරොගාඃ - පීඩයන්ති න බාලකම්
ජාතෙ දන්තෙහි ශාම්‍යන්ති - යතඃ තද්හෙතුකාගදඃ

දන්තොත්ථාන - දත් මතුවන විට, භවාරොගාඃ - හටගන්නා රෝග, බාලකම් - දරුවා, පීඩයන්ති - පීඩා කරයි. ධාතකීපුෂ්ප - මලිත මල්, පිප්පලී - තිප්පිලි, ධාත්‍රීඵලරසෙන වා - නෙල්ලි ඉස්මෙන් අඹරා ගෑමෙන්, යතඃ - යම් සේ, ජාතෙ දන්තෙහි - හටගත් දතෙහි ද, තත් හෙතුකා - ඒ හේතුවෙන් හටගත්, ගදඃ - රෝගයන්, ශාම්‍යන්ති - සමනය වෙයි.

දත් මතුවන විට හටගන්නා රෝගයෙන් දරුවා පීඩා විඳියි. මලිත මල්, තිප්පිලි, නෙල්ලි ඉස්මෙන් අඹරා ගෑමෙන් හටගත් දතෙහි පීඩාව මෙන් ම ඒ හේතුවෙන් ඇති වූ රෝග ද සුව වෙයි.

ISBN 978-1-78280-808-4

## දත් එන වේදනාවට සහ කුරණ්ඩයට

125. ප්‍රාචීගතං පාණ්ඩුර සින්දුවාර-
මූලං ශිශූනාං ගලකෙ නිබන්ධම්
හනත්‍යාශු දන්තෝද්භව වේදනාං ච
නිඃශේෂමේකාණ්ඩකුරණ්ඩමේව

ප්‍රාචීගතං - නැගෙනහිරට ගිය, පාණ්ඩුර - පඬුවන් පැහැ, සින්දුවාර මූලං - නික මුලක් ගෙන, ශිශූනාං - දරුවා ගේ, ගලකෙ - ගෙලෙහි, නිබන්ධම් - බැඳීමෙන්, දන්තෝද්භව - දත් හටගැනීමේ, වේදනාං ච - ඇතිවන වේදනාව ද, නිඃශේෂම් - සම්පූර්ණයෙන් ම, එකාණ්ඩ - එක් අණ්ඩකෝෂයක, කුරණ්ඩමේව - නහරයක් ඉදිමීමේ රෝගය ද, ආශු - වහා, හනති - නසයි.

නැගෙනහිරට ගියා වූ පඬු පැහැ නික මුලක් ගෙන දරුවා ගේ බෙල්ලෙ බැඳීමෙන් දත් හටගැනීමේ දී ඇතිවන වේදනාව සම්පූර්ණයෙන් ම ද එක් අණ්ඩකෝෂයක නහරයක් ඉදිමීමේ රෝගය ද වහා නසයි.

## තොල කට වණවීමට

126. ජාතිපත්‍රාමෘතං ද්‍රාක්ෂා - පාඨාද්‍රව්‍යෛඃ ඵලත්‍රිකෛඃ
ක්වාථඃ ක්ෂෞද්‍රයුතඃ ශීතො - ගණ්ඩූෂො මුඛපාකජිත්

ජාතිපත්‍ර - සමන්පිච්ච කොළ, අමෘතං - රසකිඳ, ද්‍රාක්ෂා - මුද්දරප්පලම්, පාඨා - දියමිත්තා, ඵලත්‍රිකෛඃ - අරළු බුළු නෙල්ලි, ද්‍රව්‍යෛඃ - යන ද්‍රව්‍යවලින්, ක්වාථඃ - සාදන ලද කසාය, ශීතඃ - නිවුණු පසු, ක්ෂෞද්‍රයුතඃ - මීපැණි සමඟ, ගණ්ඩූෂො - කට සේදීමෙන්, මුඛපාකජිත් - තොල කට වණවීම සුව වේ.

සමන්පිච්ච කොළ, රසකිඳ, මුද්දරප්පලම්, දියමිත්තා, අරළු, බුළු, නෙල්ලි යන ද්‍රව්‍යවලින් සාදන ලද කසාය නිවුණු පසු මීපැණි සමඟ කට සේදීමෙන් තොල කට වණවීම සුව වේ.

ISBN 978-1-78280-808-4

## කට ඇදවීමට හා කෙල වැගිරීමට

127. සාරිවා තිකත ලොධ්‍රාණාං - කෂායො මධුකස්‍ය ච
සංස්‍රාවී විමුඛෙ ශසෙතා - ධොවනාර්ථං ශිශොඃ සදා

සාරිවා - ඉරමුසු, තිකත - කටුකරෝසන, ලොධ්‍රාණාං - ලොත්සුඹුළු, මධුකස්‍ය ච - වැල්මී, කෂායෙඃ - කෂාය, ශිශොඃ - දරුවන් ගේ, විමුඛෙ - කට ඇදවීම, සංස්‍රාවී - කෙල වැගිරීම සඳහා, සදා - සැමවිට, ධොවනාර්ථං - කට සේදීම පිණිස, ශසෙතා - යහපත් ය.

ඉරමුසු, කටුකරෝසන, ලොත්සුඹුළු, වැල්මී කෂාය දරුවන් ගේ කට ඇදවීම කෙල වැගිරීම සඳහා සැමවිට කට සේදීම පිණිස යහපත් ය.

## මුව පැසවීම සඳහා ඔසුවක්

128. මුඛපාකෙ තු බාලානාමාම්‍රසාරමයො රජඃ
ගෛරිකං සෞද්‍රසංයුක්තං - භෙෂජං සරසාඤ්ජනම්

බාලානාං - ළමුන් ගේ, මුඛපාකෙතු - මුව පැසවීමට, ආම්‍රසාර - අඹ කෂාර, අයඃ රජඃ - ලෞහ භෂ්ම, ගෛරිකං - සිවංගුරු, රසාඤ්ජනම් - රසඳුන්, සෞද්‍රසංයුක්තං - මීපැණි සමඟ අනා, භෙෂජං - (මුඛයේ ගැල්වීමට) ඔසුවකි.

අඹ කෂාර, ලෞහ භෂ්ම, සිවංගුරු, රසඳුන්, මීපැණි සමඟ අනා මුඛයේ ගැල්වීම ළමුන් ගේ මුව පැසවීම සඳහා ඔසුවකි.

ISBN 978-1-78280-808-4

## මුව පැසවීම සඳහා තවත් ඖෂධයක්

129. දර්වී යෂ්ටාභයා ජාතීපත්‍ර ක්ෂෞද්‍රෛයතු ධාවනම්
අශ්වත්ථත්වග්දලං ක්ෂෞද්‍රෛ: - මුඛපාකෙ ප්‍රලෙපනම්

මුඛපාකෙ - මුව පැසීමට, දර්වී - වෙනිවැල්ගැට, යෂ්ටි - වැල්මී, අභයා - අරළු, ජාතීපත්‍ර - සමන්පිච්ච කොළ කෂාය, ක්ෂෞද්‍රෛ: තු - මීපැණියෙන්, ධාවනම් - කට සේදීම ද, අශ්වත්ථ ත්වක් - ඇසතු පොතු, දලං - එම දළු, ක්ෂෞද්‍රෛ: - මීපැණියෙන් අඹරා, ප්‍රලෙපනම් - ගැම ද හොඳය.

මුව පැසීමට වෙනිවැල්ගැට වැල්මී, අරළු, සමන්පිච්ච කොළ කෂාය මීපැණියෙන් කට සේදීම ද ඇසතු පොතු හා එම දළු මීපැණියෙන් අඹරා ආලේපනය ද හොඳයි.

## තාලුකණ්ටක රෝගයට ඖෂධ

130. හරීතකී වචා කුෂ්ට - කල්කං මාක්ෂික සංයුතම්
පීත්වා කුමාරඃ ස්තන්‍යෙන - මුච්‍යතෙ තාලුකණ්ටකාඃ

හරීතකී - අරළු, වචා - වදකහ, කුෂ්ට - සුවඳ කොට්ටං සුණු, මාක්ෂික සංයුතම් - මීපැණි යොදා අඹරා, කල්කං - කල්කය සාදා, ස්තන්‍යෙන - කිරි සමග, පීත්වා - බීමෙන්, කුමාරඃ - දරුවන් ගේ, තාලු කණ්ටකාඃ - තාලුකණ්ටක රෝගයෙන්, මුච්‍යතෙ - මිදෙයි.

අරළු, වදකහ, සුවඳ කොට්ටං චූර්ණය මීපැණි යොදා අඹරා කල්කය සාදා කිරි සමග බීමෙන් දරුවන් ගේ තාලුකණ්ටක රෝගයෙන් මිදෙයි.

ISBN 978-1-78280-808-4

## වාතයෙන් හටගත් මූත්‍රකෘච්ඡ්‍රයට

131. මේෂාමෘතානාගරවාජිගන්ධා
ධාත්‍රීත්‍රිකණ්ටෛ: විහිත: කෂාය:
සක්ෂෞද්‍රයුක්තෝ පීත: සමයත්‍යවශ්‍යං
මූත්‍රස්‍ය කෘච්ඡ්‍රං පවන ප්‍රභූතම්

මේෂ - කලාදුරු, අමෘතා - රසකිඳ, නාගර - වියලි ඉඟුරු, වාජිගන්ධා - අමුක්කරා, ධාත්‍රී - නෙල්ලි, ත්‍රිකණ්ටෛ: - ගොකටු-වලින්, විහිත: කෂාය: - සාදන ලද කෂාය, සක්ෂෞද්‍රයුක්තෝ - මීපැණි සහිතව, පීත: - බොන ලද්දේ, පවන ප්‍රභූතම් - වාතයෙන් හටගත්, මූත්‍රස්‍ය කෘච්ඡ්‍රං - වේදනා සහිතව මුත්‍ර පිටකිරීම, අවශ්‍යං - නියතව, සමයති - සමනය කරයි.

කලාදුරු, රසකිඳ, වියලි ඉඟුරු, අමුක්කරා, නෙල්ලි, ගොකටුවලින් සාදන ලද කෂාය මීපැණි සහිතව බොන ලද්දේ වාතයෙන් හටගත් වේදනා සහිතව මුත්‍රපිටකිරීම නියතව සුව වේ

## සෙමෙන් හටගත් මූත්‍රකෘච්ඡ්‍රයට

132. යවක්ෂාරයුත: ක්වාථ: - ස්වාදුකණ්ටක සම්භව:
පීත: ප්‍රාණාශයත්‍යාශු - මූත්‍රකෘච්ඡ්‍රං කඵෝද්භවම්

ස්වාදුකණ්ටක - ගොකටු, සම්භව: ක්වාථ: - සැකසූ කෂාය, යවක්ෂාර යුත: - යවාකාර ලුණු සහිතව, පීත: - බීමෙන්, කඵෝද්භවම් - සෙමෙන් හටගත්, මූත්‍රකෘච්ඡ්‍රං - මුත්‍ර කෘච්ඡය, ආශු - වහා, ප්‍රාණාශයති - සමනය කරයි.

ගොකටුවලින් සැකසූ කෂාය යවකාර ලුණු සහිත ව බීමෙන් සෙමෙන් හටගත් මුත්‍ර කෘච්ඡය වහා සමනය කරයි.

ISBN 978-1-78280-808-4

## කල්ගිය වාත වේදනාවට ඖෂධ

133. එරණ්ඩතෛලං සපයඃ පිබෙත්
යො ගව්‍යෙන මූත්‍රෙණ පීත්වා
සගුග්ගුලුඃ ප්‍රෞඪරුජං ප්‍රවෘද්ධං
සවාතව්‍යාධිං සහසා නිහන්ති

යඃ - යමෙකු, එරණ්ඩතෛලං - එඬරු තෙල්, සපයඃ - කිරි සමග, පිබෙත් - බොන්නේ හෝ, ගව්‍යෙන මූත්‍රෙණ - ගව මුත්‍රයෙන්, සගුග්ගුලුඃ - ගුගුල් සහිතව, පීත්වා - බීමෙන්, ප්‍රෞඪරුජං - කල්පැවති වේදනා, ප්‍රවෘද්ධං සවාතව්‍යාධිං - වැඩිගිය වාත රෝග, සහසා - වහා, නිහන්ති - නසත්.

යමෙක් එඬරු තෙල්, කිරි සමග පානය කිරීමෙන් හෝ ගව මුත්‍රයෙන්, ගුගුල් සහිතව බීමෙන් කල්පැවති වේදනා වැඩිගිය වාත රෝග ද වහා නසයි

## දරුණු මුත්‍ර බැඳීමට පිළියමක්

134. කර්පූරවර්තිං මෘදුනා ලිඞ්ගච්ඡිද්‍රෙ නිධාරයෙත්
ශීඝ්‍රං තයා මහා ඝොරාත්මූත්‍රබන්ධාත් ප්‍රමුච්‍යතෙ

මෘදුනා - සිනිඳු, කර්පූරවර්තිං - කපුරු වැටියක්, ලිඞ්ගච්ඡිද්‍රෙ - ලිඟු සිදුරෙහි, නිධාරයෙත් - දැරීමෙන්, තයා - එමගින්, මහා ඝොරාත් - ඉතා දරුණු, මූත්‍රබන්ධාත් - මුත්‍ර බැඳීම, ශීඝ්‍රං - වහා, ප්‍රමුච්‍යතෙ - මිදෙයි.

සිනිඳු කපුරු වැටියක් ලිඟු සිදුරෙහි දැරීමෙන් ඉතා දරුණු මුත්‍ර පිට නො වීම වහා මිදෙයි.

ISBN 978-1-78280-808-4

## මුත්‍ර බැඳීමට ලේහයක්

135. කණොෂණ සිතාක්ෂෞද්‍ර සූක්ෂ්මෛලා සෛන්ධවෛඃ කෘතඃ
මූත්‍රග්‍රහෙ ප්‍රයොක්තව්‍යඃ ශිශූනාං ලෙහ උත්තමඃ

කණ - තිප්පිලි, උෂණ - ගම්මිරිස්, සිතා - සීනි, ක්ෂෞද්‍ර - මීපැණි, සූක්ෂ්මෛලා - හීං එන්සාල්, සෛන්ධවෛඃ - සවිඳලුණු වලින්, කෘතඃ - සාදන ලද, ලෙහඃ - ලේහය, මූත්‍රග්‍රහෙ - මුත්‍ර බද්ධයේ දී, උත්තමඃ - උතුම් යැයි, ප්‍රයොක්තව්‍යඃ - කියන ලදී.

තිප්පිලි, ගම්මිරිස්, සීනි, මීපැණි, හීං එන්සාල්, සවිඳලුණුවලින් සාදන ලද ලේහය මුත්‍ර පිට නො වීමට උතුම් යැයි කියන ලදී.

## අපචි නම් රෝගයට රොටියක්

136. වනකාර්පාසිකාමූලං තණ්ඩුලෛඃ සහ යොජිතම්
පක්වා තු පොලිකාං ඛාදෙදපචී නාශකාරිණීම්

වනකාර්පාසිකාමූලං - වන කපුමල්, තණ්ඩුලෛඃ සහ - සහල් සමග, යොජිතම් - අනා, පොලිකාං - රොටී සාද, පක්වා තු - පුළුස්සා, අපචි - අපචි, නාශකාරිණීම් - නැසීම සඳහා, ඛාදෙත් - වළඳන්නේ ය.

අපචි නම් රෝගය නැසීමට වන කපුමල්, සහල් සමග අනා රොටී සාද පුළුස්සා වළඳන්නේ ය.

ISBN 978-1-78280-808-4

## චිත්තොන්මාදය හා අපස්මාරය සහිත අපතන්ත්‍රයට

137. ශිරීෂනක්තමාලානාං - බීජෛ රඤ්ජිතලොචනඃ
විතෙතානමාදං නිහනත්‍යාශු - සාපසමාරාපතන්ත්‍රිකම්

ශිරීෂ - මාර, නක්තමාලානාං - ඇසළ, බීජෛ - ඇටවලින් සෑදූ චූර්ණය, රඤ්ජිතලොචනඃ - (අඳුන් සේ)පාටකළ ඇස්, විතෙතානමාදං - චිත්තොන්මාදය, සඅපස්මාර - අපස්මාරය සහිත, අපතන්ත්‍රිකම් - අපතන්ත්‍ර රෝගය, ආශු - වහා, නිහනති - නසයි.

මාර, ඇසළ ඇටවලින් සෑදූ චූර්ණයෙන් ඇස අඳුන් ගෑමෙන් චිත්තොන්මාදය, අපස්මාරය සහිත අපතන්ත්‍ර රෝගය වහා නසයි.

## රත්පිතට ඖෂධයක්

138. වාසායාඃ සවරසඃ පීතඃ - සිතාමධුසමන්විතඃ
චූර්ණෛශ්ච වටරොහාණාං - රක්තපිත්තං විනාශයෙත්

වාසායාඃ සවරසඃ - පාවට්ටා කොළ යුෂ, වටරොහාණාං චූර්ණෛඃ ච - නුගමුල් පුණු ද, සිතාමධු - සීනි මීපැණි, සමන්විතඃ - යුක්ත වූයේ, පීතඃ -පානය කරන්නේ, රක්ත පිත්තං - රත්පිත, විනාශයෙත් - නැසෙයි.

පාවට්ටා කොළ යුෂ නුග මුල් චූර්ණයෙන් ද සීනි මීපැණි සමග යෙදීමෙන් රත්පිත් නැසෙයි.

ISBN 978-1-78280-808-4

රත්පිතට ඝෘතයක්

139. පලාශපුෂ්ප ක්වාථේන - වාසායාඃ ස්වරසෙන වා
චතුර්ගුණේන සංසිද්ධං - රක්තපිත්තහරං ඝෘතම්

පලාශපුෂ්ප - කැල මල්, ක්වාථේන - කෂායෙන් හෝ, වාසායාඃ ස්වරසෙන වා - පාවට්ටා ස්වරසයෙන් හෝ, චතුර්ගුණේන - සිව්ගුණයක් දමා, සංසිද්ධං - සිදුකළ, ඝෘතම් - ඝෘතය, රක්තපිත්ත - රත්පිත, හරං - නසයි.

කැල මල් කෂායෙන් හෝ ස්වරසයෙන් සිව්ගුණයක් දමා සිදුකළ ඝෘතය රත්පිත් නසයි.

නාසයෙන් ලේ වැගිරීම නැවතීමට

140. රසොදඩිමපුෂ්පාණාං - දූර්වායාඃ ස්වරසෙන වා
නසේ‍යන නාශයෙත් තූර්ණං - නාසිකාරක්තමුද්ධතම්

දඩිමපුෂ්පාණාං - දෙළුම් මල්, රසඃ - යුසයෙන් හෝ, දූර්වායාඃ - ඊතණ, ස්වරසෙන වා - ස්වරසයෙන් හෝ, නසේ‍යන - නශ්‍ය කිරීමෙන්, තූර්ණං නාසිකාරක්තම් උද්ධතම් - නාසයෙන් පැන නැගි ලේ වැගිරීම, නාශයෙත් - නසන්නේ ය.

දෙළුම් මල් යුසයෙන් හෝ ඊතණ ස්වරසයෙන් හෝ නශ්‍ය කිරීමෙන් නාසයෙන් ලේ වැගිරීම නසන්නේ ය.


ISBN 978-1-78280-808-4

මන්දාග්නියට සහ වාත ගුල්මයට

141. ත්‍රිකටුකමජමෝදං සෛන්ධවං ජීරකෙ ද්වෙ
සමචරණං සඃතානාමෂ්ටමො හිඞ්ගුභාගඃ
ප්‍රථම කබල භුක්තං සර්පිෂා චූර්ණමේතත්
ජනයති ජඨරාග්නිං වාතගුල්මං නිහන්ති

ත්‍රිකටුකං - ඉඟුරු ගම්මිරිස් තිප්පිලි, අජමොදං - අසමෝදගම්, සෛන්ධවං - සව්දලුණු, ජීරකෙ ද්වෙ - සූදුරු කළුදුරු සමව ගෙන, අෂ්ටමඃ හිඞ්ගුභාගඃ - අටවෙනි වූ පෙරුම්කායම් කොටසක් ද, එතත් චූර්ණං - මේ සුණු, සර්පිෂා - ගිතෙලින් අනා, ප්‍රථම කබල - පළමු බත් කට සමග, භුක්තං - අනුභව කරන්නේ, ජඨරාග්නිං - බඩගින්න, ජනයති - දල්වයි, වාතගුල්මං - වාත ගුල්මය, නිහන්ති - නසයි.

වියලි ඉඟුරු, ගම්මිරිස්, තිප්පිලි, අසමෝදගම්, සව්දලුණු, සූදුරු, කළුදුරු සමව ගෙන අටවෙනි වූ පෙරුම්කායම් කොටසක් ද ගෙන චූර්ණකර ගිතෙලින් අනා පළමු බත් කට සමග අනුභව කිරීමෙන් බඩගිනි වඩයි. වාත ගුල්මය නසයි.

ISBN 978-1-78280-808-4

## වාතතැවිල්ලක්

142. පුනර්ණවෛරණ්ඩ නවාතසීභිඃ
කාර්පාසජෙරස්ථිභිරාරනාලෛඃ
සච්ජෛනරම්භීරිති සද්‍යඃ එව
සෙචඃ සමීරාර්ති හරො නරාණාම්

පුනර්ණවා - සාරණ මුල්, එරණ්ඩ - එඩරු මුල්, නව අතසීභිඃ - අලුත් අතසි ඇට, කාර්පාසජෛඃ අස්ථිභිඃ - කපු ඇට මද සමව ගෙන, ආරනාලෛඃ - විනාකිරෙන් අනා, සච්ජෛන-රම්භීරිති - කඩපිම්මේ තම්බා, සෙචඃ - තැවීමෙන්, නරාණාම් - මිනිසුන් ගේ(ළමුන් ගේ), සමීරාර්ති - වාත රෝග, සද්‍යඃ එව - එකෙනෙහි ම, හරඃ - දුරු කරයි.

සාරණ මුල්, එඩරු මුල්, අලුත් අතසි ඇට, කපු ඇට මද සමව ගෙන විනාකිරෙන් අනා කඩපිම්මේ තම්බා තැවීමෙන් මිනිසුන් ගේ (ළමුන් ගේ) වාත රෝග එකෙනෙහි ම දුරු කරයි.

## අපස්මාරයට

143. ගොසර්පිඃ සාධිතං පූතං - දධික්ෂීර සකෘද්‍රසෛඃ
චාතුර්ථිකජ්වරොන්මාදං - සර්වාපස්මාරනාශනම්

දධි - දීකිරි, ක්ෂීර - එළකිරි, ගොසර්පිඃ - එළඟිතෙල්, සකෘද්‍රසෛඃ - ගොම යුෂයෙන්, සාධිතං - සාදන ලද ඝෘතය, චාතුර්ථිකජ්වරඃ - චාතුර්ථක උණ, උන්මාදං - උමතුව, සර්වාපස්මාර - සියලු අපස්මාරය ද, නාශනම් - නසයි.

දීකිරි, එළකිරි, එළඟිතෙල් ගොම යුෂයෙන් සාදන ලද ඝෘතය චාතුර්ථක උණ, උමතුව, සියලු අපස්මාරය ද නසයි.

## උදාවර්තයට වර්තියක්

144. හිඞ්ගු මාක්ෂික සින්ධූත්ථෛඃ කෘත්වාවර්තිං සවර්තිනාම්
ඝෘතාභ්‍යක්තාං ගුදේ දද්‍යාදුදාවර්ත විනාශිනීම්

හිඞ්ගු - පෙරුංකායම්, මාක්ෂික - මීපැණි, සින්ධූත්ථෛඃ - සවිඳලුණුවලින් අඹරා, වර්තිං කෘත්වා - වැටි(කරල්) තනා, ඝෘතාභ්‍යක්තාං - ගිතෙලින්, සවර්තිනාම් - වැටි සමග, ගුදේ - ගුදයෙහි, දද්‍යාත් - දමන්නේ, උදාවර්ත - උදාවර්තය, විනාශිනීම් - නැසෙයි.

පෙරුංකායම්, මීපැණි, සවිඳලුණු දමා අඹරා වැටි(කරල්) තනා ගිතෙල් සමග ගුදයෙහි දැමීමෙන් උදාවර්තය නැසෙයි.

## හෘදයාබාධයට ලේහයක්

145. ශුණ්ඨී කණා පුෂ්කර කේතකීනාං
විධායචූර්ණං කකුභත්වචෝ වා
රාසනාන්විතං වා මධුනාවලීඪං
හෘද්‍රෝගමේතච්ඡමයත්‍යුදග්‍රම්

ශුණ්ඨී - වියලි ඉඟුරු, කණා - තිප්පිලි, පුෂ්කර - සුවඳ කොට්ටම්, කේතකීනාං - වැටකේ මුල්, චූර්ණං විධාය - චූර්ණය සාද හෝ, කකුභත්වචෝ වා - කුඹුක් පොතු චූර්ණ හෝ, රාසනාන්විතං වා - හීං අරත්ත සුණු සමග හෝ, මධුනාවලීඪං - මීපැණියෙන් ලේහ කරන්නේ, එතද් - මෙය උදග්‍රං - දරුණු වූ, හෘද්‍රෝගං - හෘදරෝගය, ශමයති - නසයි.

වියලි ඉඟුරු, තිප්පිලි, සුවඳ කොට්ටම්, වැටකේ මුල් චූර්ණය සාද හෝ කුඹුක් පොතු චූර්ණය හීං අරත්ත චූර්ණ සමග මීපැණියෙන් ලේහ කිරීමෙන් දරුණු වූ හෘදරෝග සුවවෙයි.

ISBN 978-1-78280-808-4

## දරුවන් ගේ සිහිමුලාවට ලේහයක්

146. කොලාසථි පදමකොශීර - චන්දනං නාග කෙශරම්
ලීඪං සෞෟද්‍රෙණ බාලානාං - මූච්ඡාංනාශනමුත්තමම්

කොලාසථි - නෙළුම් ඇට, පදමක - නෙළුම් මල් රේණු, උශීර - සැවැන්දරා, චන්දනං - සඳුන්, නාගකෙශරම් - නාමල් රේණු සුණු, සෞෟද්‍රෙණ - මීපැණියෙන්, ලීඪං - ලේහ කරන්නේ, බාලානාං - දරුවන් ගේ, මූච්ඡා - සිහිමුලාව, නාශනං - නැසීමට, උත්තමම් - උතුම්ය.

නෙළුම් ඇට, නෙළුම් මල් රේණු, සැවැන්දරා, සඳුන්, නාමල් රේණු චූර්ණය මීපැණියෙන් ලේහ කිරීමෙන් දරුවන් ගේ සිහිමුලාව නැසීමට උතුම්ය.

## තුන්දෙසින් හටගත් සිහිමුලාව සහිත උණට

147. ද්‍රාක්ෂාමාමලකෙ සච්නන පිෂටවා සෞෟද්‍රෙණ සංයුතම්
සර්දොෂභවාං මූච්ඡාං - සජ්වරාං නාශයෙත් ධ්‍රැවම්

ද්‍රාක්ෂාණං - මුද්දරප්පලම්, ආමලකෙ - නෙල්ලි, පිෂටවා - අඹරා(කොටා), සච්නන - වණ්ඩුවේ තම්බා, සෞෟද්‍රෙණ - මීපැණි, සංයුතම් - සමග දීමෙන්, සර්දොෂභවාං - සියලු දෙසින් (තුන්දෙසින්) හටගත්, මූච්ඡාං - සිහිමුලාව, සජ්වරාං - උණ සහිත වූයේ, ධ්‍රැවම් - වහා, නාශයෙත් - නසත්.

මුද්දරප්පලම්, නෙල්ලි කොටා වණ්ඩුවේ තම්බා මීපැණි සමග දීමෙන් සියලු දෙසින් හටගත් සිහිමුලාව සහිත උණ වහා නසයි.

ISBN 978-1-78280-808-4
9 781782 808084

සියලු සිහිමුලාවට හිත දෑ

148. ශීතාඃ ප්‍රදෙහාඃ මණයඃ සහාරාඃ
සෙකාවගාහා ව්‍යජනස්‍ය වාතාඃ
ලෙහාන්නපානාදි සුගන්ධ ශීතං
මූර්ඡාසු සර්වාසු පරං ප්‍රශස්තම්

සර්වාසු මූර්ඡාසු - සියලු සිහිමුලාවීම්වල දී, ශීතාඃ ප්‍රදෙහාඃ - සීතල වතුර තෙමූ රෙදි පැබීම, මණයඃ - මැණික් පැළැඳවීම, සහාරාඃ - මුතු පැළැඳවීම, සෙක - සීතල ජලය, ඉසීම, අවගාහ - අවගාහනය, ව්‍යජනස්‍ය වාතාඃ - විජිනිපතින් එන සුළඟ, සුගන්ධ - සුවඳවත්, ශීතං - සිසිල් වූ ද, ලෙහ - ලේහ වර්ග, අන්නපානාදි - කෑමබීම ආදිය, පරං - උතුම්, ප්‍රශස්තම් - යෙහෙකි.

සියලු සිහිමුලාවීම්වලදී සීතල වතුර තෙමූ රෙදි පැබීම, මැණික් පැළැඳවීම, මුතුවලින් සැකසූ මාලා පැළැඳවීම, සීතල ජලය ඉසීම, අවගාහනය(ඉතා තෙක් සීත ජලයේ බැස සිටීම), විජිනිපතින් එන සුළඟ සුවඳවත් සිසිල් වූ ලේහ වර්ග, කෑමබීම ආදිය යෙදීම උතුම් ය.

* * * *

ISBN 978-1-78280-808-4

## තිමිර රෝගයට

149. ජීරකද්වයමමලීකා - චඃකෂාමලං දධිමාතචිතම්
ශෛලාද්‍රීකං රසං ශීඝ්‍රං - තිමිරං හනති දුසතරම්

ජීරකද්වයං - සූදුරු කළුදුරු, අමලීකා - නෙල්ලි, චඃකෂාමලං - සියඹලා ඇඹුල්, දධිමාතචිතම් - දෙළුම් යුක්ත වූයේ, ශෛලාඃ - ගල් මද චූර්ණය, ආද්‍රීකං රසං - ඉඟුරු ඉස්මෙන් ඇස ගෑමෙන්, දුසතරම් තිමිරං - සුවකිරීමට අපහසු තිමිරය, ශීඝ්‍රං - වහා, හනති - නසයි.

සූදුරු කළුදුරු, නෙල්ලි, සියඹලා ඇඹුල්, දෙළුම්, ගල් මද චූර්ණය ඉඟුරු ඉස්මෙන් අඹරා ඇස ගෑමෙන් සුවකිරීමට අපහසු තිමිරය වහා නසයි.

## දහය හෙවත් දැවිල්ලට

150. පද්මකං චන්දනං තොයමුශීරං ශලක්ෂණ චූර්ණිතම්
ක්ෂීරෙණ පීතං බාලානාං දහං ශමයති ධ්‍රැවම්

පද්මකං - නෙළුම් රේණු, චන්දනං - සඳුන්, තොයං - ඉරිවේරිය, උශීරං - සැවැන්දරා, ශලක්ෂණ - සිනිඳුව , චූර්ණිතම් - සුණුකර, ක්ෂීරෙණ - කිරෙන්, පීතං - බොන ලද්දේ, බාලානාං - දරුවන් ගේ, දහං - දැවිල්ල, ධ්‍රැවම් - වහා, ශමයති - සමනය වේ.

නෙළුම් රේණු, සඳුන්, ඉරිවේරිය, සැවැන්දරා සිනිඳුව චූර්ණකර කිරෙන් බොන ලද්දේ දරුවන් ගේ දැවිල්ල - වහා සමනය වේ.

ISBN 978-1-78280-808-4
9 781782 808084

දහය හෙවත් දැවිල්ලට නැවත් ඖෂධ

151. කර්පූරං චන්දනොශීර - ලිප්තාඞ්ගං කටඵලෛරපි
පලලවප්‍රස්තරෙ ධීමාන් - සංතාපයෙත් දහ පීඩිතම්

කර්පූරං - කපුරු, චන්දන - සඳුන්, උශීර - සැවැන්දරා, කටඵලෛඃ අපි - කට්ඵල චූර්ණය, අඞ්ගං - ශරීරයේ, ලිප්ත - ආලේපයෙන්, ධීමාන් - බුද්ධිමත් තැනැත්තේ, දහ පීඩිතම් - දැවිල්ලෙන් පීඩා විඳින්නාව, පලලවප්‍රස්තරෙ - කෙසෙල් දල්ලක, සංතාපයෙත් - සතපවන්නේ ය.

කපුරු, සුදුසඳුන්, සැවැන්දරා, කට්ඵල චූර්ණය ශරීරයේ ආලේපයෙන් ද බුද්ධිමත් තැනැත්තා දැවිල්ලෙන් පීඩා විඳින්නාව කෙසෙල් දල්ලක සතපවන්නේ ය.

152. පරිෂෙකාවගාහෞෂු - ව්‍යජනානාං ච සෙවනෙ
ශස්‍යතෙ ශිශිරං තොයං - තෘෂ්ණාදහොපශානතයෙ

පරිෂෙක - සිසිල් දියෙන් තෙමීම, අවගාහෞෂු - ශරීරය ජලයේ බැස්සවීම ද, ව්‍යජනානාං ච - විජිනිපත් වාතය, සෙවනෙ - සේවනයෙන් ද, ශිශිරං තොයං - සිසිල් දිය, තෘෂ්ණාදහඃ - පිපාසය හා දැවිල්ල, උපශානතයෙ - සමනයෙහි, ශස්‍යතෙ - මැනවි.

සිසිල් දියෙන් තෙමීම, ඉතා තෙක් ශරීරය ජලයේ බැස්සවීම ද විජිනිපත් වාතය සේවනය ද සිසිල් දිය යෙදීම ද දැවිල්ල, පිපාසය සමනයට මැනවි.

ISBN 978-1-78280-808-4
9 781782 808084

## බඩපණුවන් දුරලීමට ලේහයක්

153. මුසතා විඩඞ්ගං මගධාඛුපර්ණී
කාම්පිල්ලකො දඩිම බිල්වකොන
ක්‍ෂමීන් හරෙත් සජ්වරමුග්‍රවෙගාන්
රොගෙෂු ලීඪං ශමයත්‍යවශ්‍යම්

මුසතා - කලාඳුරු අල, විඩඞ්ගං - වලඟසාල්, මගධා - තිප්පිලි, ආඛුපර්ණී - ගොටු දඬු, කාම්පිල්ලකඃ - කුඩුවෙලඟ, දඩිම - දෙළුම් ලෙලි, බිල්වකොන - බෙලි ගැට මද සුණුවලින්, ලීඪං - ලේහ කිරීමෙන්, උග්‍ර වෙගාන් රොගෙෂු - දැඩිව නැගී එන රෝග, අවශ්‍යම් ශමයති - අනිවාර්යයෙන් ම සමනය වේ. සජ්වරං - වහා, ක්‍ෂමීන් හරෙත් - බඩපණුවන් දුරලයි.

කලාඳුරු අල, වලඟසාල්, තිප්පිලි, ගොටු දඬු, කුඩුවෙලඟ, දෙළුම් ලෙලි, බෙලි ගැට මද චූර්ණයෙන් ලේහ කිරීමෙන් දැඩිව නැගී එන රෝග අනිවාර්යයෙන් ම සමනය වේ. බඩපණුවන් වහා දුරලයි.

## පාණ්ඩුවට සහ පරිණාම ශූලයට

154. යවචූර්ණං ක්‍ෂමිරිපුං - මගධා මධුනා සහ
භක්‍ෂයෙත් පාණ්ඩුරොගඝ්නං - පඞ්කතිශූලහරං පරං

යව - කොල්ලු, ක්‍ෂමිරිපුං - වලඟසාල්, මගධා - තිප්පිලි, චූර්ණං - (ඉහත ඔසු)සුණු, මධුනා සහ - මීපැණි සමග, භක්‍ෂයෙත් - අනුභව කිරීමෙන්, පාණ්ඩුරොගඝ්නං - පාණ්ඩු රෝගය නැසෙයි. පඞ්කතිශූලහරං - පරිණාම ශූලය නැසීමට, පරං - උතුම්ය.

කොල්ලු, වලඟසාල්, තිප්පිලි, චූර්ණය මීපැණි සමග අනුභව කිරීමෙන් පාණ්ඩු රෝගය නැසෙයි. පරිණාම ශූලය නැසීමට උතුම්ය.

ISBN 978-1-78280-808-4

## ස්වර භේදයට ලේහයක්

155. මාගධීං මගධාමූලං - නාගරං මරිචාන්විතම්
ක්ෂෞද්‍රේණ ලීඪං කඵජං - ස්වරභේදං ව්‍යපොහති

මාගධීං - තිප්පිලි, මගධාමූලං - තිප්පිලි මුල්, නාගරං - වියලි ඉඟුරු, මරිචාන්විතම් - ගම්මිරිස් සහිතව, ක්ෂෞද්‍රේණ - මීපැණියෙන්, ලීඪං - ලේහ කරන්නේ, කඵජං ස්වරභේදං - සෙමෙන් හටගත් ස්වර භේදය, ව්‍යපොහති - නසයි.

තිප්පිලි, තිප්පිලි මුල්, වියලි ඉඟුරු, ගම්මිරිස් සහිතව මීපැණියෙන් ලේහ කිරීමෙන් සෙමෙන් හටගත් ස්වර භේදය නැසෙයි.

## ස්වර භේදයට පේයාවක්

156. යෂ්ටාහ්ව ජීවනී මූර්‍වා - කොලී වට සුසාධිතම්
පෙයං පිත්තොද්භවං හන්ති - ස්වරභේදං සුදරුණම්

යෂ්ටාහ්ව - වැල්මී, ජීවනී - රත්තම්පලා, මූර්‍වා - මුරුවා මුල්, කොලී - මසන්, වට - නුග, සුසාධිතම් - මනාව සැකසූ, පෙයං - පේයාව, පිත්තොද්භවං - පිතෙන් හටගත්, සුදරුණම් - ඉදරුණු, ස්වරභේදං - ස්වරභේදය, හන්ති - නසයි.

වැල්මී, රත්තම්පලා, මුරුවා මුල්, මසන්, නුග පොතුවලින් මනාව සැකසූ පේයාව පානයෙන් පිතෙන් හටගත් ඉදරුණු ස්වරභේදය නැසෙයි.

ISBN 978-1-78280-808-4

## කැස්ස සහිත පාණ්ඩුව හා වේදනාවට ලේහයක්

157. අයොරජෝඃ ත්‍රෛඵලචූර්ණයුක්තො-
ගෝමූත්‍රසිද්ධෝ මධුනාවලීඪඃ
පාණ්ඩුං සකාසං ච සතක්‍ර පථ්‍යං
ශූලං සමූලං ශමයෙදවශ්‍යං

අයොරජෝඃ - ලෞහ භෂ්ම, ත්‍රෛඵල චූර්ණ යුක්තඃ - ත්‍රිඵල් සුණු යුක්ත වූයේ, ගොමූත්‍රසිද්ධඃ - ගෝමුවෙන් සිදුකළේ, මධුනාවලීඪඃ - මීපැණියෙන් ලේහ කළේ. සකාසං ච - කැස්ස සහිත, පාණ්ඩුං - පාණ්ඩුව ද, ශූලං සමූලං - සහමුලින් වේදනාව ද, අවශ්‍යං - අනිවාර්යයෙන් ම, ශමයෙත් - සමනය වේ. සතක්‍ර - මෝරු සමග සේවනය ද, පථ්‍යං - හිතයි.

ලෞහ භෂ්ම, අරළු, බුළු, නෙල්ලි සමග ගෝමූත්‍රයෙන් අඹරා මීපැණියෙන් ලේහ කිරීමෙන් කැස්ස සහිත පාණ්ඩුව ද වේදනාව සහමුලින් ද අනිවාර්යයෙන් ම සමනය වේ. මෝරු සමග සේවනය හිතයි.

## පණුවන් වැටෙන්නට දුමක්

158. භෂ්මනාකෙචිදිච්ඡන්ති - කෙචිත් ගොමයරේණුනා
කෘමිපාතභයාච්චාපි ධූපයෙත් සුරසාදිභිඃ

කෙචිත් - කිසිවෙකු, ඉච්ඡන්ති - කැමතිවෙත් නම්, ගොමය-රේණුනා - ගොමවැරටිවලින් හෝ, කෙචිත් - කිසිවෙකු, සුරසාදිභිඃ - සුරසාදිගණයෙන්, භෂ්මනා - පුළුස්සා, ධූපයෙත් - දුම්දීමෙන්, කෘමිපාතභයාත් ච අපි - පණුවන් වැටෙන බිය ද දුරුවෙයි.

කිසිවෙකු කැමතිවේ නම් ගොම වැරටිවලින් හෝ සුරසාදි ගණයෙන් භෂ්මකර දුම්දීමෙන් පණුවන් වැටෙන බිය දුරුවෙයි.

ISBN 978-1-78280-808-4



## ශීත උණට ශීත කෂාය

159. චන්දනං වාසකං මුස්තාං - ගුඩූචිං ද්‍රාක්ෂයා සහ
    එතත් ශීතකෂායස්තු - ශීතලාජ්වරනාශනඃ

චන්දනං - සුදුහඳුන්, වාසකං - ආඩතෝඩා, මුස්තාං - කලාඳුරු අල, ගුඩූචිං - රසකිඳ, ද්‍රාක්ෂයා සහ - මුද්දරප්පලම් සමග, එතත් - මේවායින්, ශීතකෂායස්තු - ශීත කෂාය වනාහි, ශීතලාජ්වරඃ - ශීත උණ, නාශනඃ - නැසෙයි.

සුදුහඳුන්, ආඩතෝඩා මුල්, කලාඳුරු අල, රසකිඳ, මුද්දරප්පලම් යන මේවායින්, කළ ශීත කෂායෙන් ශීත උණ නැසෙයි.

---


ISBN 978-1-78280-808-4

# 13

## අක්ෂිරෝග චිකිත්සා

### ඇසේ කැසීම දැවිල්ල සහ වේදනාවට

160. සසෛන්ධවං ලොධ්‍ර මධ්වාජ්‍යඝෘෂ්ටං
සෞවීරපිෂ්ටං සිතවස්ත්‍රබද්ධං
ආශ්චෝතනං තන්නයනස්‍ය කුර්‍ය්‍යාත්
කණ්ඩූං ච දාහං ච රුජාං ච හන්‍යාත්

ලොධ්‍රං - ලොත්සුඹුළු, සෞවීර - සෞවීරාංජන, සසෛන්ධවං - සවිඳලුණු සහිතව, මධු - මීපැණි, ආජ්‍ය - ගිතෙලින්, පිෂ්ටං - අඹරා, ඝෘෂ්ටං සිතවස්ත්‍ර බද්ධං - සුදු රෙදි කැබැල්ලක් ඔතා, ආශ්චෝතනං කුර්‍ය්‍යාත් - ඇසට දමන්නේ ය; තං - එය, නයනස්‍ය - ඇසේ, කණ්ඩූං ච - කැසීම ද, දාහං ච - දැවිල්ල ද, රුජාං ච - වේදනාව ද, හන්‍යාත් - නසන්නේ ය.

ලොත්සුඹුළු, සෞවීරාංජන, සවිඳලුණු සහිතව මීපැණි, ගිතෙලින් අඹරා සුදු රෙදි කැබැල්ලක් ඔතා ඇසට දමන්නේ ය. එය ඇසේ කැසීම ද, දැවිල්ල ද වේදනාව ද නසන්නේ ය.

ISBN 978-1-78280-808-4

## ඇස් දැවිල්ල, කඳුළු වැගිරීම සහ අභිෂ්‍යන්දයට

161. චන්දනං මධුකං ලොධ්‍රං - ජාතිපුෂ්පාණි ගෛරිකම්
ප්‍රලෙපො දහ රොගඝ්න - ස්‍රාවාභිෂ්‍යන්දනාශනඃ

චන්දනං - සුදුහඳුන්, මධුකං - වැල්මී, ලොධ්‍රං - ලොත්සුඹුළු, ජාතිපුෂ්පාණි - සමන්පිච්ච මල්, ගෛරිකම් - සිවංගුරු, ප්‍රලෙපඃ - අඹරා ආලේප කිරීමෙන්, දහ - දැවිල්ල, රොගඝ්න - රෝගය නසයි. ස්‍රාවය - කඳුළු වැගිරීම, අභිෂ්‍යන්ද - අභිෂ්‍යන්ද රෝගය, නාශනඃ- නසයි.

සුදුහඳුන්, වැල්මී, ලොත්සුඹුළු, සමන්පිච්ච මල්, සිවංගුරු, අඹරා ආලේප කිරීමෙන් දැවිල්ල රෝගය නසයි. කඳුළු වැගිරීම, ආභිෂ්‍යන්ද රෝගය නසයි.

.

## ඇස තිමිරයට, අර්බුදයට සහ විපිටයට

162. ශඞ්ඛස්‍යභාගාංශචත්වාරඃ - තදර්ධේන ච පිප්පලී
වාරිණා තිමිරං හන්ති - අර්බුදං හන්තිමස්තුනා
විපිටං මධුනාහන්ති - ස්ත්‍රීක්ෂීරෙණ තදුත්තනතම්

ශඞ්ඛස්‍යභාගාංශචත්වාරඃ - ශංඛ භෂ්ම භාග හතරයි, තදර්ධේන - එයින් භාගයක් (කොටස් දෙකක්), පිප්පලි - තිප්පිලි, වාරිණා - ජලයෙන් අඹරා ගැමෙන්, තිමිරං - තිමිරය, හන්ති - නසයි. මස්තුනා - මෝරුවෙන් ගැමෙන්, අර්බුදං - අර්බුදය, හන්ති - නැසෙයි. මධුනා - මීපැණියෙන් හෝ, ස්ත්‍රීක්ෂීරෙණ - මව්කිරෙන් ගැමෙන්, උත්තනතම් විපිටං - උත්සන්න වූ විපිට නැමති ඇස් රෝගය, හන්ති - නසයි.

ISBN 978-1-78280-808-4

ශංඛ භස්ම භාග හතරයි, තිප්පිලි භාග දෙකායි ජලයෙන් අඹරා ඇසැ ආලේපනයෙන් තිමිරය නැසෙයි. මෝරුවෙන් ගෑමෙන් අර්බුද නැසෙයි. මීපැණියෙන් හෝ මව්කිරෙන් ගෑමෙන් උත්සන්න වූ විපිට නැමති ඇස් රෝගය නසයි.

## ඇසැ කැසීම, අර්දිතය සහ ඇසිපිය රෝගවලට

163. ව්‍යාෂං ශෘඞගං ච මනඃශිලාං ච
කරඤ්ජබීජං ච සුපිෂ්ටමෙතත්
කණ්ඩවර්දිතානාමථ වත්මීනානතු
ශ්‍රෙෂ්ඨං ශිශූනාං නයනෙ විදධ්‍යාත්

ව්‍යාෂං - තිකුළු, ශෘඞගං ච - කකුළුසුඟු, මනඃශිලාං ච - මනෝශිල ද, කරඤ්ජබීජං ච - කරඳ ඇට ද, එතත් සුපිෂ්ට - මේවා මනාව අඹරා ගෑමෙන්, කණ්ඩු - ඇසැ කැසීම, අර්දිතානාම් - අර්දිතය, අථ - එසේ ම, වත්මීනානතු - ඇස් පිහාටු රෝග ද, ශිශූනාං - දරුවන් ගේ, නයනෙ - ඇස් රෝගවලට, විදධ්‍යාත් - ප්‍රයෝග කිරීම, ශ්‍රෙෂ්ඨං - උතුම් ය.

වියලි ඉඟුරු, ගම්මිරිස්, තිප්පිලි කකුළුසුඟු, මනෝශිල, කරඳ ඇට ද මේවා මනාව අඹරා ගෑමෙන් ඇසැ කැසීම, අර්දිතය එසේ ම ඇස් පිහාටු රෝග ද දරුවන් ගේ ඇස් රෝගවලට ප්‍රයෝග කිරීම උතුම් ය.

---






## කර්ණශූලයට ප්‍රතිකාර

164. කපිලා මාතුලුඞ්ගාථ - ශෘඞ්ගවෙරරසඃ ශුභඃ
සුකොෂ්ණඃ පූරයෙත් කොෂ්ණඃ - කර්ණශූලොපශාන්තයෙ

කපිලා - අගිල්, මාතුලුඞ්ග - නස්නාරං ඇඹුලෙන් ගලගා, අථ - ඉන්පසු, ශෘංගවෙරරසඃ - අමු ඉඟුරු ඉස්ම, ශුභඃ - මනා කොට මිශ්‍රකොට, සුකොෂ්ණඃ - මඳක් රත්කරන්නේ ය. කොෂ්ණඃ - මඳ රස්නය සමග, පූරයෙත් - කණට පුරවන්නේ ය. කර්ණශූල - කණේ වේදනාව, උපශාන්තයෙ - සමනය වේ.

අගිල්, නස්නාරං ඇඹුලෙන් ගලගා ඉන්පසු අමු ඉඟුරු ඉස්ම හොඳින් මිශ්‍රකොට මඳක් රත් කරන්නේ ය. මඳ රස්නයෙන් කණට පුරවන්නේ ය. කණේ කැක්කුම සමනය වේ.

## කර්ණශූලයට තවත් ප්‍රතිකාර

165. අර්කස්‍යපත්‍රං පරිණාම පීතං
තෛලෙන ලිප්තං සශිඛාග්නිතප්තම්
ආපීඩ්‍යතොයං ශ්‍රවණෙනිශික්තම්
විනිහීරෙත් චෛව බහුවෙදනාං ච

පරිණාම - ඉදුණු, පීතං අර්කස්‍යපත්‍රං - කහ පාට වූ වරා කොළයක්, තෛලෙන ලිප්තං - තලතෙල් ආලේපකොට, සශිඛාග්නිතප්තම් - ගිනිසිළුවෙන් තවා, ආපීඩ්‍ය - කොටා, තොයං - ඉස්මගෙන, ශ්‍රවණෙ - කණෙහි, නිශික්තම් - හෙළන්නේ ය. බහුවෙදනාං ච - බොහෝ වේදනා, චෛව - ඒකාන්තයෙන් ම, විනිහීරෙත් - නැසෙයි.


ISBN 978-1-78280-808-4

ඉදුණු කහ පාට වූ වරා කොළයක් තලතෙල් ආලේපකොට ගිනිසිළුවෙන් රත්කර කොටා මඳ උණුසුම සහිතව මිරිකා වැගිරෙන තෙල් කනට දැමීමෙන් කණෙහි දැඩි වේදනාව ඒකාන්තයෙන් ම නැසෙයි.

## කණ පැසවීමට ප්‍රතිකාර

166. ඝෘෂටං රසාඤ්ජනං නාය්‍යාඃ - ක්ෂීරෙණ ක්ෂෞද්‍රසංයුතම්
ප්‍රශස්‍යතෙ ශිරොරොගෙ - ශ්‍රාවෙ වා පූතිකර්ණකෙ

රසාඤ්ජනං - රසඳුන්, නාය්‍යාඃ ක්ෂීරෙණ - මව්කිරෙන් අඹරා, ක්ෂෞද්‍ර සංයුතම් - මීපැණි සමඟ එකතුකොට, ඝෘෂටං - අනා ආලේප කරන්න. ශිරොරොගෙ - හිස රුදුව ද, ශ්‍රාවෙ වා - කණෙහි සැරව හා, පූතිකර්ණකෙ - කණ පැසවීමෙහි, ප්‍රශස්‍යතෙ - පසස්නා ලැබේ.

රසඳුන මව්කිරෙන් අඹරා මීපැණි සමඟ එකතුකොට අනා ආලේප කිරීම හිසේ රුදුවට ද කණෙහි සැරව හා කණ පැසවීමට ද පසස්නා ලැබේ.

**ශ්‍රීලඞ්කාධිපතිරාවණකෘත**
**කුමාරතන්ත්‍රම්**
**සමාප්තම්.**